1 වෙනි මුද්‍රණය 1956

2 වෙනි මුද්‍රණය 1980



තිසර මුද්‍රණාලය
දෙහිවල

# පටුන

අයෝග්‍යකමත් සංඝාධිකරණ පිහිටුවා ගැනීමෙ අවශ්‍යත්වයත් ගැන මෙහි පළ කරන අදහස කාලෝචිත ය. සිංහලයෙහි නීති සාහිත්‍යය පොෂණය කිරීමට මේ මහතා ගත් උත්සාහය පැසසිය යුතු ය.

කොටහේනේ පඤ්ඤාකිත්ති

1956 දෙසැම්බර් 1 දින,
කැලණියේ විද්‍යාලංකාර පිරුවන්හිදී ය.



## කතෘගෙන් —

මෙ කුඩා පොතින් අදහස් කරන ලද්දේ, විහාර දේවාලගම් නීතිය පිළිබඳ අංග සම්පූර්ණ නීති ග්‍රන්ථයක් සම්පාදනය කිරීම නොවේ. විහාර නීතියේ ඉතිහාසයත්, එහි වර්තමාන තත්වයත් ගැන, හැම භික්ෂූන් වහන්සේ නමකටත්, විහාර දායක-කාරකාදීන්ටත් කරුණු අවබෝධ කරවා, ඒ මාර්ගයෙන්, වර්තමාන නීතියෙහි හා එය ක්‍රියාවේ යොදවන පාලන ක්‍රමයෙහි ඇති අඩුපාඩුකම් වෙත සිත් යොමු කරවීම ය.

ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය ගැන මෙහිදී විශේෂයෙන් සලකා බලා ඇත. දනට මෙරට ශ්‍රේෂ්ඨාධිකරණය ගුරුකොට ගන්නා ප්‍රධාන නඩු තීන්දු කිහිපයක්, සවිස්තරව සඳහන් කොට, ඒවා පදනම් වූ මූලික සිද්ධාන්තයන් ද මීට ඇතුළත් කරන ලදී. අද බලපවත්වන උසාවි නීතියත්, විනය නීතිය හා බුද්ධ වචනයත් අතර පවත්නා සම්බන්ධය (හෝ අසම්බන්ධය) කෙරෙහි සිත් යොමු කරවීම, එහි අදහසයි. දේපළ උරුම ක්‍රමය, අයිතිය, පාලනය සහ එයින් හට ගන්නා විහාරාධිපති අවුල් නිසා භික්ෂු සමාජයේ හටගෙන ඇති පරිහානිය, පොදුවේ ශාසනික පරිහානියක් බවට පත්විය නොදී වළක්වාලීමට නම්, ධර්මවිනයානුකූලව මේ සංස්ථාවන් වහාම ප්‍රතිසංස්කරණය කළ යුතු බව අපගේ හැඟීමයි.

අද පවත්නා විහාර දේපළ පාලන ක්‍රමය හා නීතිය, විහාර නඩු නිසා ජීවිකාව කර ගන්නා අතළොස්සක් දෙනාට හැරෙන්නට, පොදුවේ ගිහි පැවිදි දෙපක්ෂයටත්, ශාසනයේ දියුණුව හා චිරස්ථිතියටත්, බාධකයක් බව ද, අප්‍රමාදව එහි සංශෝධනයක් අවශ්‍ය බව ද පිළිගන්නා අවංක මහජන මතයක් බිහි වුවහොත්, එය මේ ව්‍යායාමයට හොඳටම ප්‍රමාණවත් ප්‍රතිඵලයකි.

විහාර දේවාලගම් පනතේ (222 වෙනි පරිච්ඡේදයේ) පරිවර්තනයක් ද මේ පොත අගින් උප ග්‍රන්ථය වශයෙන් යොද ඇත. උසාවිය හෝ රජය පිළිගත් සිංහල අණපනත් කිසිවක් මේ දක්වා පිළියෙල කොට නැති බැවින්, මෙම පරිවර්තනයේදී භාවිතාකර ඇති ඇතැම් වචන හා පාඨ මතු කාලයක දී උසාවියේ භාවිතය විය හැකි පාඨ හා සර්වප්‍රකාරයෙන් ම නොගැළපීමට ඉඩ තිබේ. එය වැළැක්වීමට නම්, රජය පිළිගත් පොදු නීති ශබ්ද හා වාග් මාලාවක් තිබිය යුතුය.

පොතේ මුල් පිටපත කියවා, නොයෙක් අයුරින් අපට අනුශාසනා කළ ගරු කොටහේනේ පඤ්ඤාකිත්ති ස්වාමීන් වහන්සේටත්, පනතේ නීති

## උප ග්‍රන්ථය ගැන —

නීතිය නොදැන්ම නිදහසට කරුණක් නොවේ යනු නීති සිද්ධාන්තයක් වුව ද එම නීතිය සිංහලයෙන් ලියැවෙනතුරු, එය මේ රටේ වැඩි දෙනාගේ විෂය ඉක්මවූ දෙයක් වන්නේය.

ඒ නිසා, පොදු ජනයාට තේරෙන බසින් නීතිය ලියන්නට ගන්නා යම් ව්‍යායාමයක් ඇද්ද, එය, ඉතා අඩු වශයෙන් කියතොත්, සාධාරණ ක්‍රියාවකි.

නීතිය සිංහලයට පෙරළීම අමාරු වැඩක් වුව ද බැරි වැඩක් නොවේ. එහෙත් බරට බියෙන්, ඒ බර කරට ගන්නට කිසිවෙකු ඉදිරිපත් නොවේ නම්, අප හැමදෙ එක තැනය.

නීතියත්, සිංහල බසත් උගතකු හැටියට, ප්‍රින්ස් ගුණසේකර මහතා විහාර දේවාලගම් පනත සිංහලයට පෙරළීමෙන්, ඒ වගකීම් බරින් කොටසක් උසුලන්නට ඉදිරිපත් වීම ප්‍රශංසනීය යි.

ජී. ඈම්. ද සිල්වා
(ලංකා නීති විද්‍යාලයාධිපති)

කොළඹ දී ය
24-12-56.



# 1. එද සහ අද

සමාජයේ හැම සංස්ථාවක්ම, කාලය අනුව හැඩ ගැසෙන බවට හොඳම සාධකයක් නම්, බුද්ධ කාලයේ සිට, අද දක්වා, සංඝ සමාජයේ සිදුවී ඇති වෙනස් කම් රාශියයි. විනය නීති පදනම් කරගෙන ඇරඹුණු ඇතැම් සංස්ථාවන්, ආගමික චාරිත්‍ර වල සේවනයත්, ඒ ඒ සමාජ විපර්යාසයන්ගේ බල පැවැත්මත් නිසා, අමුතුම ස්වරූපයක් ගෙන, දැන් අධිකරණ මණ්ඩල මගින් අවිවාදයෙන් පිළිගනු ලබන තත්ත්වයකට පැමිණ ඇත්තේ ය. විහාරාධිපති පදවිය හා එය රඳා පැවතෙන ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය, මෙසේ වෙනස් වෙමින්, සංඝ සමාජයේ පවත්නා වැදගත් සංස්ථා දෙකකි. සංඝයාවහන්සේ සතු පෞද්ගලික දේපළ පිළිබඳ වර්තමාන උසාවි නීතිය ද, මුල් විනය නීති හා කිසිසේත් නොගැලපිය හැකි තවත් එබඳුම කාරණයකි.

පැවිදි බිමට පත්වන තැනැත්තා, ගිහි ජීවිතය අත්හැර ගිය ද, සමාජයේ ජීවත්වන්නකු හැටියට, ගිහි සමාජය කෙරෙහි බල පවත්වන පොදු නීතියට යටත් වන්නේ ය. ගිහි සමාජයේ යථා පැවැත්ම සඳහා සකස් වූ නීති රීති සංඝයා වහන්සේ කෙරෙහි ද බල පවත්වන්නේ මෙපරිද්දෙනි. සංඝ සමාජයට පූජා කරන විහාරයක් හෝ ආරාමයක් පොදුවේ මුළු සංඝයා සතු, සාංඝික වස්තුවක් ලෙස පිළිගැනීම බෞද්ධ ආගමික චාරිත්‍ර යයි. එහෙත්, තෑගි කරන කිසියම් වස්තුවක්, තෑගි කරනු ලබන්නා විසින් නොපිළිගන්නා ලද නම්, එය නීත්‍යානුකූල ත්‍යාගයක් හෝ පැවරීමක් හැටියට, වර්තමාන රෝම ලන්දේසි නීතිය අනුව, සලකනු නොලැබේ.[1] එහෙයින් සාංඝික කොට පූජා කරන වස්තුවක් වුව ද කිසියම් සංඝයා වහන්සේ නමක් විසින් පිළිගනු ලැබිය යුතු ය. මෙසේ පිළිගන්නා භික්ෂූන්වහන්සේ, අනික් සංඝයාට වඩා, එකී වස්තුව හා කිට්ටු සම්බන්ධයක් ඇතිකර ගැන්ම නොවැළැක්විය හැකි කරුණකි. එම වස්තුව හෝ දේපළ පිළිබඳ පාලනය එකී ස්වාමීන් වහන්සේ වෙත පැවරෙන්නේය. එහි මතු පැවැත්ම සඳහා තම ශිෂ්‍ය–අනුශිෂ්‍ය පිරිස අතර විධිවිධාන යෙදීම, පොදුවේ සංඝ සමාජය කෙරෙහි නොව, එය පාලනය කරන මූලික භික්ෂුව කෙරෙහි පැවරේ. එසේ පාලක වගකීම පැවරී ඇති හාමුදුරුවන්, විහාරයේ අධිපති භික්ෂුව හැටියට සැලකීම නොවැළැක්විය හැකි ය. මෙපරිද්දෙන්, සංඝ සමාජය ආරම්භයේදී නුවූ විරූ 'විහාරාධිපති' නම් අලුත් පදවියකුත්, එය පවත්වාගෙන යාම සඳහා, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව නම් උරුම ක්‍රමයකුත් අමුතුවම ඇති විය. මුල් විනය නීතිය නොහඳුනන විහාරාධිපති පදවියක් බිහිවූයේ මෙසේයි.

1 ග්‍රොෂස් 3–2–12
වෝල්ටර් පෙරේරා ගේ "ලංකාවේ නීති" 605 වෙනි පිටුව.

බිමට පත් වූ පිරිසක්, ගිහියන් අතර පවත්නා අසතුටුදායක චාරිත්‍රයක්, එලෙසින් ම අනුගමනය කරන්නට, මේ විහාර- සම්පාදනය නිසා ඉබේම ඉඩ පහසුකම් සැලසුණු බව පෙනේ.

පොදුවේ සංඝයා සතු කළ විහාර- ආරාම, ආරම්භයේ දී කිසියම් විහාරයක් හෝ සංඝයා වහන්සේ නමක් සතු නොවී ය. ඕනෑම සංඝයා වහන්සේ කෙනෙකුට, සංඝයා සතු වස්තුවක් හැටියට ඒවා පරිහරණය කළ හැකි විය.

වර්තමානයේ මෙන්ම, බුදුන් ජීවමාන කාලයේ දීත්, එක් විහාරයක නේවාසික භික්ෂූන් පන්නා දමා, බලයෙන් එහි පදවියට මාන බැලූ අය සිටි බව පෙනේ.[4]

එකල සත්තරස වග්ගික භික්ෂූන් වහන්සේලා විසින් ප්‍රත්‍යන්ත නගරයක විශාල විහාරයක් ඉදි කරන බව දැනගත් ඡබ්බග්ගිය භික්ෂූන් වහන්සේලා ඒ විහාරය ඉදිකළ සත්තරස–වග්ගිය භික්ෂූන් එයින් පන්නා දැමීමට කුමන්ත්‍රණ කළහ.

සත්තරස වග්ගික භික්ෂූන් විහාරය ඉදිකළායින් පසුව, එහි ගිය ඡබ්බග්ගිය භික්ෂූහු, ''මේ විහාරය අපගේය. ඉවත්ව ගිය මැනවැ''යි කීහ.

''ඇයි ස්වාමීනි, මේ විහාරය ප්‍රතිසංස්කරණය කරන්නට පළමුව අපට ඒ බව නොකීවෙ? එසේ කිවා නම් අප වෙනින් තැනක් සකස් කර ගන්නවා නොවැ?'' යි ඔවුහු කීහ.

''ඇයි, විහාරය සංඝයා සතු පොදු වස්තුවක් නොවේ ද?''

''එසේය ස්වාමීනි,''

''එසේ නම් ඉවත්ව යනු. මේ විහාරය අපගේ ය.''

''මේ විහාරය ඉතා විසාල නොවැ – ඔබටත්, අපටත් දෙගොල්ලටම වාසය කිරීමට තරම් මෙහි ඉඩ තියෙනවා නේද?''

මේ බහින්බස් වීම, ටිකින් ටික නරක අතට හැරී, තරමක කලබලයක් ද හටගත්තේ ය.

විහාරයට බලයෙන් වැදීමට පැමිණි ඡබ්බග්ගික භික්ෂූහු, එය ඉදිකළ සත්තරස වග්ගික භික්ෂූන් බෙල්ලෙන් අල්ලා ඉවතට ඇද දමා, විහාරයට ඇතුළුව, එහි පදිංචි වූහ. ඉවතට තල්ලු කරනු ලැබූ භික්ෂූන්, එළියට වී හිඳගෙන, හඬනු දුටු අනික් භික්ෂූහු, ඒ බව භාග්‍යවතුන් වහන්සේට සැලකර සිටියහ.

මේ පැමිණිල්ල විභාග කළ භාග්‍යවතුන් වහන්සේ, බලහත්කාර කම් කළ ඡබ්බග්ගික භික්ෂූන්ට නිග්‍රහ කොට, ධර්මානුකූලව අවවාද දී, විහාර සම්බන්ධව අනුගමනය කළ යුතු පිළිවෙත මෙසේ විදළහ:

''මහණෙනි, කුපිත වී, ක්‍රෝධ සිතින් කිසියම් භික්ෂුවක්, සාංඝික වූ විහාරයෙකින් නෙරපා නොදැමිය යුතුය. කිසියම්

4 චුල්ල වග්ග VI—II—I



භික්ෂුවක් එසේ නෙරපා දමයි නම්, ඔහුට ධර්ම විනය අනුව, ක්‍රියා කළ යුතුය. එහෙයින් මහණෙනි, සේනාසන බෙද වෙන් කරගන්නා ලෙස මම අවසර දෙමි''.[5]

සේනාසන මෙසේ බෙදා වෙන් කළ යුත්තේ, පංච අංගයකින් යුත් වූ භික්ෂුවක් විසින් පමණකි.

එහෙත්, එහිදීත්, නොයෙක් විදියේ ආරාවුල් හා අර්බුද හටගත් බව පෙනේ.[6]

සැවැත් නුවර කලක් නතරවී සිටිය භාග්‍යවතුන් වහන්සේ, 500 ක් භික්ෂූන් ද පිරිවරා, කීටගිර විසීමට ගියහ. එහි ගිය සංඝයා වහන්සේ අතර, සැරියුත්-මුගලන් යන අග්‍ර ශ්‍රාවකයන් වහන්සේලා දෙනම ද වූහ. මේ බව ඇසූ, අග්‍ර ශ්‍රාවක දෙනම ගැන අමනාපකම් ඇතිව සිටින අස්සජි සහ පුනබ්බසු භික්ෂූහු, උන්වහන්සේලාට සේනාසන නොපනවම්හයි කියා, උන්වහන්සේලා දෙනමට සැතපීමට තැනක් පිළියෙළ නොකළහ.

සාංඝික වූ සේනාසන සියල්ල, සැරියුත්- මුගලන් ස්ථවිරයන් වහන්සේලා දෙනමට නොදී බෙදගත් බව ඇසූ භාග්‍යවතුන් වහන්සේ, භික්ෂූන් කැඳවා, නොබෙදිය හැකි වස්තූන් පහක් නම් කළ සේක.

''භික්ෂූනි, මේ පඤ්චවිධ වස්තූන් සංඝයා විසින් හෝ, ගණ විසින් හෝ පුද්ගලයින් විසින් නොබෙදිය හැකිය. බෙදුව ද එය බෙදුවා වන්නේ නොවේ. එසේ බෙදන භික්ෂුවක් තුලසි ඇවතකට අසුවේ. ඒ නො බෙදිය හැකි පහ නම් කිමෙක්ද යත්.........

1. ආරාමය හා ආරාමය පිහිටි ස්ථානය
2. විහාරය හා විහාරය පිහිටි ස්ථානය
3. ඇඳ, පුටු, කොට්ට, පාබිසි
4. ලෝහ බඳුන්, වෑ, පොරෝ, කෙටේරි, උදලු, නියන්
5. වැල්, උණලී, තණ වර්ග, මැටි, දැව බඩු, මැටි බඩු

විහාරාධිපති පදවියක් වුව ද, ශිෂ්‍යයින් කිහිප දෙනෙකු අතර නොබෙදිය හැකි යයි අද පවත්නා නීතිය, මේ බුද්ධ නියෝගය අනුව ගොඩ නැගුනක් විය හැකිය. 'විහාරය' ගැන මෙසේ සඳහන් වෙතුදු ''විහාරාධිපති පදවියක්'' ගැන විනය ග්‍රන්ථයන්හි සඳහනක් නැත්තේ ය. එහෙත්, විහාරාධිපති පදවිය, ශිෂ්‍යයන් කිහිප දෙනෙකු අතර බෙද දෙන මෙන් කළ ඉල්ලීම ප්‍රතික්ෂේප කරමින් ලංකා ශ්‍රේෂ්ඨාධිකරණය නඩු තීන්දු කිහිපයක් ම දී ඇත්තේ, මේ මූලික ප්‍රතිපත්තිය සඳහන් කර ගෙන ය.

සංඝ සමාජය සතු වූ ප්‍රථම විහාර- ආරාම පිළිබඳ අතීතය එසේ වුවද, කල්යාමේදී, සමාජ විපර්යාසයන්ට ලක්ව, විහාර ඇරඹීම හා සංවර්ධනය බලවත් සේ වෙනස් විය. රජ දරුවන්ගේ සිත් ගත් භික්ෂූන් වහන්සේලා

5 චුල්ලවග්ග VI—II–2 263 පිට
6 චුල්ලවග්ග VI—16–2 664 පිට.

හෝ විහාරස්ථානවල පැවැත්ම හෝ, සලකා, විශාල ගම්වර, කුඹුරු වතුපිටි පූජා කිරීමත් ඒ ගම්වර, විහාරය සතු දේපළ හා නින්දගම් බවට පත්ව, පාරම්පරික උරුමියෙන් පැවතෙන්නටත් අනතුරුව පටන් ගත්තේ ය. වෙනස්වන සමාජයේ ඒ ඒ යුගවලට – අවස්ථාවලට – විපර්‍යාසයනුත් සමග වෙනස් වන්නාක් මෙන, විහාර–දේවාල සතු නින්දගම් ක්‍රමය ද කාලයට ගැළපෙන පරිද්දෙන් හැඩ ගැසෙනු නොවැළැක්විය හැකි ය. බුදුන් සමයේ පොදුවේ සංඝ සමාජය සතු වස්තූන් බවට පත්වූ විහාර–ආරාම හා වෙනත් දේපළ, රදළ යුගයේ දී විහාර ගම් හා නින්දගම් බවට පත්ව, අනතුරුව ධනවාදී ක්‍රමය යටතේ සුළු වූව ද වෙනස්කම් වලට ගොදුරු වූ අයුරු පැහැදිලි ය. සමාජවාදී ක්‍රමයක් යටතේ නැවතත් ඒ සාමාජික බලවේග-යන්ට අනුකූලව, ඒ දේපළ පොදු පාලනයට හා සාමූහික පරිහරණයට සරිලනසේ සකස් වෙතොත්, එය කාලානුරූප හැඩගැස්මක් පමණකි. ඉන් ආගමට වන හානියක් අපට නොපෙනේ. දැනට විහාර හා භික්ෂූන්වහන්සේලා අතර බරපතළ ආරවුල් වලට මුල් වී පවත්නා මේ විහාර සන්තක දේපළ, බුදුන් සමයේ මෙන් පොදුවේ සමාජය සන්තක වස්තූන් බවට පත් වූ කල, සංඝ සමාජයේ පිරිහීමට හේතු වූ ප්‍රධාන කරුණක් තුරන් කළා වන්නේය. එය දේශපාලනමය අතින් සමාජවාදී පියවරක් වන්නාක් මෙන්ම, ආගමික අතින් සංඝ සමාජය බලවත් පරිහානියකින් මුදා ගැන්මේ මුල් පියවරක් ලෙස සැලකිය හැකි ය.



# 2. ගුරු ශිෂ්‍ය සම්බන්ධය

විහාරයක් පොදුවේ සංඝයා කෙරෙහි පූජා කිරීම පිළිබඳව විනය ග්‍රන්ථ-යන්හි සඳහන් වෙතත්, එම විහාරයේ හෝ ආරාමයේ අධිපති පදවිය සංඝයා වහන්සේ නමක් කෙරෙහි පැවරීමක් ගැන සඳහන් නොවේ. දැන් හැම විහාරස්ථානයකම මුල් තැනක් ගන්නා විහාරාධිපති පදවිය විනයෙන් බැහැර වූ, අලුත් සංස්ථාවකි. භික්ෂූන් වහන්සේ වැඩි දෙනෙකු ග්‍රන්ථ ධුරය පුර-මින්, නේවාසික ජීවිතයක් ගත කිරීම ඇරඹීමත් සමගම, මේ අළුත් විහාරාධිපති ධුරය සංඝ සමාජයට එක්වී යයි සිතිය හැකි ය.

සංස්ථාවක් වශයෙන් විහාරාධිපති ධුරය පිළිගත් පසු, එහි අනාගත පැවැත්ම සඳහා කිසියම් ක්‍රමයක් හැඩ ගසා ගැන්ම දෙවෙනි පියවරකි. එවකට ගිහි සමාජයේ පැවැති සිරිත්–විරිත් ආදිය, මෙහිලා බල පවත්වන්නට ඇත. විහාරාධිපති පදවිය මෙන් ම, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය ද, කල්යාමේදී සංඝ සමාජයේ හටගත් වෙනස් කම් නිසා, සමාජ අවශ්‍යතාවයක් පිරිමැසීමට තනාගත් සංස්ථාවක් හෙයින්, මුල් විනය ග්‍රන්ථයන්හි ඒ ගැන සඳහන් නොවේ.

උපාධ්‍යාය–ආචාර්ය පදවි පවා පනවන ලද්දේ, සංඝ සමාජයේ එදිනෙද ජීවිතයෙහි දී පැන නගින යම් යම් අවස්ථාවන්ට මුහුණ දී, කාලානුරූපව භික්ෂු සමාජය ගොඩ නැංවීමේ චේතනාවෙන් බව මහා වග්ග පාලියෙහි සඳහන් ඇතැම් සිද්ධීන්ගෙන් පැහැදිලි වේ.[1]

ශ්‍රමණ භූමියට එළඹිය ද, අවවාද, අනුශාසනා කිරීමට භික්ෂූන් වහන්-සේලාට උපාධ්‍යායයන් වහන්සේලා නුවූහ. එකල ඇතැම් භික්ෂූන් වහන්-සේලා පිඩු සිඟා වැඩියෝ, සිවුරු එහෙන් මෙහෙන් කරේ දමා ගෙන මිනිසුන් අහර ගනිද්දී පවා, ඇතැම් භික්ෂූහු පාත්‍රය දික්කොට, සූප–ව්‍යංජන ආදිය තමන්ට ඉල්ලන්ට වූහ. ඇතැම් භික්ෂූහු දන ශාලාවල මහා ශබ්ද නගා කෝලාහල කළහ.

මේ දුටු ගිහියෝ, බ්‍රාහ්මණයින් මෙන් ශබ්ද නගා, කෝලාහල කරමින් හැසිරෙන්නා වූ භික්ෂූන් කෙරෙහි කලකිරුණහ. මේ බව ඇසූ ශික්ෂාකාමී, අල්පේච්ඡ, ලජ්ජා බිය ඇති භික්ෂූන් වහන්සේලා තථාගතයන් වහන්සේ වෙත කරුණු සැළකර සිටියහ.

භාග්‍යවතුන් වහන්සේ ද, වරද කළ භික්ෂූන් කැඳවා ඔවුන්ට නිග්‍රහ කොට ධර්මාවවාද කොට, උපාධ්‍යායයන් වහන්සේලා පත් කර ගැනීම අනුදැන වදළහ.

1 මහාවග්ග පාළි 1–25–1

"අනුජානාමි භික්ඛවෙ, උපජ්ඣායො භික්ඛවෙ,
සද්ධිවිහාරිකම්හි පුත්ත චිත්තං උපට්ඨාපෙස්සති, සද්ධිවිහාරිකො
උපජ්ඣායම්හි පිතු චිත්තං උපට්ඨාපෙස්සති."

"මහණෙනි, උපාධ්‍යායයන් වහන්සේ නමක් පත් කර ගන්නට අවසර දෙමි. උපාධ්‍යායයන් වහන්සේ තම ශිෂ්‍යයා පුතෙකු සේ සැලකිය යුතු ය. ශිෂ්‍යයා, උපාධ්‍යායයන් වහන්සේ තම පිතෘවරයා ලෙස තැකිය යුතු ය"යයි පවසා, අනතුරුව, ශිෂ්‍යයා ගුරුන් කෙරෙහි දක්විය යුතු පිළිවෙත් විස්තර කළහ. මේ පිළිවෙත් හරිහැටි අනුගමනය නොකරන ශිෂ්‍යයින් ගෝල කමින් පන්නා දැමීමට ද උපාධ්‍යායයන් වහන්සේලාට බලය පවරන ලදී.

උපාධ්‍යායයන් වහන්සේලා අපවත් වූ පසු, නැත්නම් බැහැර ගිය පසු, සිවුරු හළ කල, අවවාද අනුශාසනා කිසිත් නොලද ඇතැම් භික්ෂූහු පෙර පරිද් දෙන්ම, නොනිසි අයුරින් සිවුරු හැඳ පැළඳ පිඬු සිඟා වැඩීමට පටන් ගත්හ. මේ බව ඇසූ භාග්‍යවතුන් වහන්සේ, ඒ පාඩුව මග හැරවීම සඳහා ආචාර්යයන් වහන්සේ නමක් පත් කර ගන්නා ලෙස අනුදැන වදාළහ.

[2]"අනුජානාමි භික්ඛවෙ, ආචරියං. ආචරියො භික්ඛවෙ, අන්තෙවාසිකම්හි පුත්ත චිත්තෙව උපට්ඨාපෙස්සති .........අන්තෙවාසිකො
ආචරියම්හි පිතු චිත්තං උපට්ඨාපෙස්සති..............."

උපාධ්‍යායයන් වහන්සේ හා ශිෂ්‍යයකු අතරත්, ආචාර්යයන් වහන්සේ හා අන්තේවාසික භික්ෂුවක අතරත් පවත්නා සම්බන්ධය එකම බව පැහැදිලිය. එහෙත්, උපසම්පද කර්මයෙහි දී, ආචාර්යයන් වහන්සේ හා උපාධ්‍යායයන් වහන්සේ අතර එක්තරා වෙනසක් දක්වන ලද බව පෙනේ. මේ වෙනස දැන් එතරම් බලපවත්වන බවක් කිය නොහැකිය.

ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවේ පදනම වූ මේ ගෝල ක්‍රමය, ආරම්භයේදී සිව්වැදෑරුම් විය.

1. පබ්බජ්ජන්තෙවාසික
2. උපසම්පදන්තෙවාසික
3. නිස්සයන්තෙවාසික, හා
4. ධම්මන්තෙවාසික යනුවෙනි.

මෙයින් ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය කෙරෙහි අද බලපවත්වන්නේ පබ්බජ්ජන්තෙවාසික හා උපසම්පදන්තෙවාසික යන දෙවර්ගික ශිෂ්‍යයින් පමණකි.

පැවිදි බිමට එළඹෙද්දී ගුරු කොට ගත් ආචාර්යවරයාත්, උපසම්පද කර්මයෙහි දී ගුරුකොට ගන්නා ආචාර්යවරයාත් එකම භික්ෂුවක් විය යුතු යයි කිසි තැනක සඳහන් නොවේ. එහෙත්, උපසම්පද කර්මය කරන වේලේ පැවිදි කළ ආචාර්යවරයා කවරේ දැයි විශේෂයෙන් සඳහන් කිරීම සිරිතය. ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය තීරණය කිරීමේ දී, අවුල් වියවුල්

2 මහාවග්ග පාළි 1–32–1



බොහොමයකට මුල් වී ඇත්තේ, නියම ගුරුශිෂ්‍ය පරම්පරාව කවරේදැයි හරිහැටි නිශ්චය කළ නොහැකි වීමය. මේ චාරිත්‍රය කිනම් අයුරින් හැඩ ගැසී ඇත්දැයි නිසි ලෙස කළ පරීක්ෂණයක ප්‍රතිඵල, ධම්මරතන–සුමංගල[3] නඩු තීන්දුවෙන් හෙළිවේ. (මේ පර්යේෂණය විස්තර වශයෙන් අන් තැනක පළවී ඇත).

ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමයේ අග–මුල හොයන්නට ගොස්, ඇතැම් විනිශ්චයකාරවරුන් පරස්පර විරෝධී නිගමනයන්ට එළඹි අවස්ථා ද මේ නඩු තීන්දු අතර දක්ක හැකිය. යටත්විජිත යුගයේ දී ලංකා ශ්‍රේෂ්ඨාධි-කරණයේ විනිශ්චයකාරවරුන් වැඩි දෙනෙකු ඉංග්‍රීසි නීතිය හැදෑරූ, ඉංග්‍රීසි සමාජ ඉතිහාසය හා සිරිත් විරිත් දත උගත් පිරිසක් වූ හෙයින්, සංඝ සමාජයට ආවේණික වූ ශිෂ්‍යානුශිෂ්‍ය ක්‍රමය වටහා ගැනීමේදී ඔවුන් ඉංග්‍රීසි සමාජයේ සමාන සංස්ථාවක් හෝ සිරිතක් ඇත්දැයි සොයා බැලුවා විය හැකියි. මෙබඳු විමර්ශන වලදී, ඒ ඉංග්‍රීසි විනිශ්චයකාරවරුන්ට හමුව ඇත්තේ, පැරණි ඉංග්‍රීසි සමාජයේ පැවති "ප්‍රිමොජෙනිචර්" (Primogeniture) නම් වූ දේපළ හිමි වන ක්‍රමයයි. මේ ක්‍රමය යටතේ, ඉංග්‍රීසි රදළ පවුලක් සතු සියලු දේපළ හිමිවන්නේ, පවුලේ වැඩිමහලු පුතාටය. අනික් දරුවන්ට පවුල සතු දේපළ වලින් ලැබෙන ආදායමෙන් ජීවිකා වෘත්තිය සඳහා කොටසක් ලද හැකි වුව ද, දේපළ වලින් කොටසක් ඔවුන්ට හිමි නොවේ. පවුලක් සතු දේපළ, අවිච්ඡින්නව, එකම පවුලකට සීමාවී පැවතීම සඳහා සකස් කර ගන්නා ලද මේ චාරිත්‍රය, රදල යුගයක් සමග අභාවයට ගිය ද, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික නීතිය විග්‍රහ කිරීමේදී ඉංග්‍රීසි නඩුකාරවරුන් කෙරෙහි එය බලපෑවැත්වූ බව සිතීමට ඉඩ ඇත්තේය. විහාරාධිපති ඇවෑමෙන්, එම පදවිය, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට හිමි වේතැයි නිගමනය කෙළේ, රදල පවුලක පියාගේ අභාවයෙන් පවුල ස දේපළ සියල්ලක්ම ලොකු පුතාට හිමිවෙන පැරණි ඉංග්‍රීසි සිරිත අනුව විය හැකිය. "ශිෂ්‍යානුශිෂ්‍ය" යන පදයේ "ශිෂ්‍ය" සහ "අනු ශිෂ්‍ය" යන දෙවර්ගයක හිමිකාරයින් අමතක කර දමා, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට පමණක් එය සීමා කිරීමට අන්කිසි හේතුවක් නොපෙනේ. විහාරස්ථානයකට හිමි දේපළ, අවිච්ඡින්නව එම විහාරය සතුවී පැවැතීමට නම් "ජ්‍යෙෂ්ඨ ශිෂ්‍ය" පාරම්පරික ක්‍රමය පහසුම ක්‍රමය බව පිළිගත යුතුය. එහෙත්, විහාරයක් සතු දේපළ සංඝ සමාජය සතු පොදු දේපළක් බැවින් එකම පරම්පරාවකට සීමා කිරීමට අදහස් කරන ලදැයි සිතීම යුක්තියුක්ත නොවේ. විහාරාධිපති කෙනෙකු නැතිවී ගිය කල්හි, දේපළක් වෙනොත් ඒවා නිකාය සතු වේතැයි පිළිගෙන ඇත්තේ එහෙයිනි. "නායක" "අනුනායක" කිවාක් මෙන් "ශිෂ්‍ය", "අනු ශිෂ්‍ය" වශයෙන් ද, විහාරාධිපති පදවිය, හිමිවිය යුත්තේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාගෙන් පසු ඔහුගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට නොව, අනුශිෂ්‍ය පිළිවෙළිනැයි මුලින්ම අදහස් කළා විය හැකිය.

ඇතැම් විනිශ්චයකාරවරුන් ඉංග්‍රීසි සිරිතක් ගුරුකොට ගත්හයි සිතිය හැකි වන අතර, තවත් සමහර නඩුකාරවරුන් ඉන්දියාවේ හින්දු චාරිත්‍රයක්

3 (1910) 14 නිව ලෝ රිපෝට්ස් 400

දේපළ රැක ගැනීමේ චේතනාව නිසා, සංඝ සමාජය ගිහියන් මෙන් දේපළ පාලනයට ගොස්, කෙමෙන් පරිහානිය කරා පා නගා ඇති අයුරු මේ සිද්ධියෙන් පැහැදිලි වෙයි.





# 4. විහාර දේපළ

විහාරයකට කිසියම් දේපළක් අයිති වූයේ කෙසේ දැයි ඔප්පු නිරප්පු ආදියෙන් පැහැදිලි නොවන කල්හි, කාලාන්තරයක් තිස්සේ, එකී දේපළ වලින් ලැබෙන ආදායම විහාරස්ථානයේ හා එහි නේවාසික භික්ෂූන්ගේ පරිහරණයට ගනු ලැබී නම්, එම දේපළ විහාරයට පූජා කරන ලදැයි පිළිගනු ලැබේ. විහාරාධිපතින් වහන්සේ කිසියම් දේපළක් දීර්ඝ කාලයක් භුක්ති විඳිමින් ආවේ නම්, ඒ භුක්තිය විහාරස්ථානයේ අයිතිය තහවුරු කරන්නකි. වර්ෂ 1935 දී, එවකට අග්‍ර විනිශ්චයකාර ධූරය දැරූ මැක්ඩොනල්ඩ් මහතා විසින් විසඳන ලද නඩුවකින් මේ බව තීරණය කර තිබේ.[1]

විහාරයක් සතු දේපළක් භුක්ති විඳින විහාරාධිපතින් වහන්සේ, එම දේපළ පිළිබඳ යථාර්ථවත් බාරකාර තැන හැටියට සලකනු ලැබේ. එම දේපළ විහාරාධිපතින්ගේ පෞද්ගලික දේපළ වශයෙන් නොතැකිය යුතුය.

විහාරයකට දේපළ අයිති කරගත නොහැකියයි ද, එහෙයින්, විහාරයකට පූජා කරන කිසියම් දේපළක් වේ නොත්, එය විහාරාධිපතින් වෙත පූජා කළ දෙයක් හැටියට තැකිය යුතු යයි ද බොහෝ විට තර්ක කරනු ලැබේ. මේ ව්‍යාකූලත්වයට එක් ප්‍රධාන හේතුවක් නම්, ඉංග්‍රීසි නීතියේ සඳහන් වන ''බාර කාර'' පදවියත්, බෞද්ධ විහාර නීතියේ සඳහන් වන ''විහාරාධිපති'' පදවියත් අතර පවත්නා ඓතිහාසික අසමානත්වයයි. බාරකාර කම පිළිබඳ ඉංග්‍රීසි නීතිය, විහාරාධිපති පදවිය කෙරෙහි ගළපා තේරුම් ගැනීමට යාම නිසා මේ අවුල, නැත්නම් අනවශ්‍ය ව්‍යාකූලත්වය, හටගෙන ඇති බව පෙනේ. ඉංග්‍රීසි නීතිය හුරුවූ විනිශ්චයකාරවරුන් හමුවට පැමිණි විහාරාධිපති අවුල් හැමෙකකදීම, විහාරයේ බාරකාර කමත්, විහාරාධිපති කමත් අතර වෙනසක් දැකීමට දරන ලද උත්සාහය පැහැදිලිව දැක්ක හැකිය.

විහාර දේවාලගම් පනත සම්පාදනය කළ නීති සම්පාදකයින් පවා මේ වෙනස පිළිගෙන ඇති බව එම පනතේ 20 වෙනි ඡේදයෙන් පෙනේ.

> ''කිසියම් විහාරයක් සතු හෝ, කිසියම් අයුරකින් ඊට සම්බන්ධ වූ හෝ, විහාරස්ථානයක පරිභෝගය සඳහා වෙන් කළ හෝ, චංචල වූත්, නිශ්චල වූත් සියලු දේපළ......... විහාරයේ බාරකාර තැනට හෝ පරිපාලක විහාරාධිපතිට හිමි විය යුතුය.''

ලංකාවේ විහාරයකට දේපළ සන්තක-සතු-හිමි-කරගත හැකි පෞද්-ගලිකත්වයක් (legal-persona) නැතැයි අධිකරණය පවසනත්, මෙම ඡේදයේ

---

1 14 සිලෝන් ලෝ රෙකෝඩ්ස් 145

පූජා කරනු ලැබූ විහාරයේ විහාරාධිපතීන් වහන්සේ, එම දේපළවල බාරකාර බවට පත් වන්නේ මෙ අයුරිනි. විහාරයේ අධිපති පදවිය පිරිනැමෙන්නේද එක්තරා පිළිගත් චාරිත්‍ර හා සම්ප්‍රදායන්ට අනුකූල බැවින්, විහාරාධිපතීන් වහන්සේට ඒ දේපළ විෂයෙහි පැවරෙන බලතල, පෞද්ගලික බලතල හැටියට නොසැලකිය යුතුය. විහාර සන්තක දේපළ පැවරීමෙහිලා අධිපතීන් වහන්සේගේ බලය සීමා වන්නේ මෙ අයුරිනි. විදේශීය නීති සිද්ධාන්තයක පිහිට නොලබා හුදු ස්වදේශීය ඓතිහාසික, සාමාජික හා ආගමික විග්‍රහයකින් මෙරට විහාරයක අධිපතීන් වහන්සේ කෙනෙකුගේ නීත්‍යානුකූල බලතල පැහැදිලිව තීරණය කළ හැකි බව මෙයින් පෙනේ.

විහාරය සතු සාංඝික දේපළ භුක්ති විඳීමේ අයිතිය එම විහාරවාසී විහාරාධිපතීන් වහන්සේට හා භික්ෂූන් වහන්සේලාට පැවරෙන්නේය. එම අයිතිය පවත්නේ, උන්වහන්සේලා එකී විහාරයේ වාසය කරතොත් පමණකි. එකී විහාරයේ දානය පිළිගැනීම, බණ දේශනය ආදී කටයුතු වලට සහභාගී නොවන, විහාරයෙන් බැහැර ජීවත්වෙන භික්ෂූන් වහන්සේ කෙනෙකුට, විහාරයේ ආදායමෙන් කොටසක් අන් තැනකට එවන ලෙස ඉල්ලා සිටීමේ බලයක් නැත.[4]

පැල්මඩුල්ල විහාරය පිළිබඳ හටගත් ආරාවුලකදී, මෙ පිළිවෙත අනුගමනය කිරීමට තීරණය විය. විහාරාධිපතීන් වහන්සේගේ කැමැත්ත පරිදි, ගෝලයින් දෙදෙනෙක්, පැල්මඩුලු විහාරයේ සමඅධිපතීන් බවට පත්ව විහාරය සතු දේපළ වලින් ලැබෙන ආදායම සමසේ පරිහරණය කළහ. කල්යාමේදී, එක් ස්වාමීන් වහන්සේ නමක්, එකී විහාරස්ථානයෙන් ඉවත්ව ගියහ. විහාරස්ථානයෙන් බැහැරව සිටි කාලය තුළ ලත් ආදායමෙන් තම පංගුව ඉල්ලා පවරන ලද නඩුවක් විභාග කළ ඩයස් සහ ලෝරි විනිශ්චයකාරවරු දෙදෙනා ඒ ඉල්ලීම නිෂ්ප්‍රභා කරමින්, ඉහත කී තීන්දුව දුන්හ.



4 පුවක්දණ්ඩාවේ සුමංගල – ඉදුරුවේ පියදස්සි (6 සුප්‍රිම් කෝර්ට් සර්කියුලර් 92)



# 5. ඓතිහාසික නඩුවක්

විහාරයක අයිපතිකම පරම්පරානුගතව හිමිවන්නේ කිනම ක්‍රමයකට ද යන ප්‍රශ්නය විසඳා ගැනීමට, ලංකා ශ්‍රේෂ්ඨාධිකරණයේ විනිශ්චයකාරවරුන් විවිධ ප්‍රයත්න දරා ඇත. එක් නඩුවකදී කළ දීර්ඝ පර්යේෂණයක ප්‍රතිඵල ගැන මෙරට අධිකරණය හමුවට පත්වන විහාරාධිපති නඩුවලදී, මාර්ග දේශක නඩු තීන්දුවක් හැටියට සඳහන් කරනු ලැබේ.

වුඩරෙන්ටන් විනිශ්චයකාර තුමාගේ නියෝගයක් පිට, පවත්වන ලද මෙ විශේෂඥ සාක්ෂි විභාගය, මහනුවර පළාතේ, දිවිල්දෙල් විහාරස්ථානයේ අධිපති පදවිය සඳහා පවරන ලද නඩුවක ප්‍රතිඵලයයි.[1] ඇපැල් නඩු විභාගය සඳහා, ඒ ඇපැල මිඩ්ල්ටන් හා වුඩරෙන්ටන් විනිශ්චයකාරවරුන් දෙදෙනා හමුවට පත්වූ වේලේ, විහාර නීතිය පිළිබඳ එතෙක් ව්‍යාකූලව පැවැති ඇතැම් ගැටලු තැන් කිහිපයක් නිරාකරණය කරනු සඳහා, විනිශ්චයකාරවරුන්ම විසින් සකස් කරන ලද ප්‍රශ්න මාලාවක් සමග, නඩුව, වැඩිදුර සාක්ෂි විභාගයට දිස්ත්‍රික් උසාවිය වෙත ඉදිරිපත් කරන ලදී.

මෙ නියෝගය පරිදි, දිස්ත්‍රික් නඩුකාර ඇෆ්.ආර්. ඩයස් මහතා,. විශේෂඥ සාක්කි කරුවන් කැඳවා, ඉදිරිපත් කරන ලද ප්‍රශ්නවලට පිළිතුරු සටහන් කරගත්තේය. අස්ගිරි මල්වතු උභය පාර්ශ්වයේ මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා ඇතුළු, ධර්ම විනයධර උගත් ස්වාමීන්ද්‍රයන් වහන්සේලා හත් නමකගෙන් මෙ සාක්කි අසා තිබේ.

උන්වහන්සේලා නම්:

1. හැරම්විගල ධීරානන්ද
2. තෝපාවැව විහාරාධිපති සරණංකර
3. දඹුලු විහාරාධිපති ශ්‍රී සුමන
4. කොළඹ හලාවත දෙදිසාවේ සංඝනායක රත්මලානේ ශ්‍රී ධර්මාරාම.
5. විද්‍යොදය උප පරිවෙණාධිපති ශ්‍රී ඤාණිස්සර
6. මල්වතු විහාරයේ අනුනායක ඌවරැක රතනජෝති සහ
7. මහියංගන විහාරාධිපති රතනජෝති යන නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා ය.

1 ධම්මරතන උන්නාන්සේ – සුමංගල උන්නාන්සේ සහ තවත් අය.
14 නිව් ලෝ රිපෝර්ට්ස් 400

(වර්ෂ 1910 ඔක්තෝබර් 10 වෙනිද අරඹා, 18 වෙනිද අවසන් කළ මේ සාක්ෂි විභාගය බටුම් අග්‍ර විනිශ්චයකාර තුමාගේ නියෝගයක් අනුව, සවිස්තරව, පසුව නීති ග්‍රන්ථයෙක පළවී ඇත්තේය.)[2]

අනතුරුව, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය පිළිබඳ නීතිය තහවුරු කිරීමෙහි ලා වැදගත් සේවයක් සිදු කළ මේ නඩුවේ අතීත කතාව මෙසේයි:

දිවිල්ලේ විහාරස්ථානයේ සහ ඊට අයත් අනිකුත් පන්සල්වල උරුමක්කාරයා වශයෙන් ද, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය යටතේ, එම විහාරස්ථානයේ අධිපති වශයෙන් ද තමා පත්කොට, ප්‍රකාශ කළ මැනවැයි ධම්මරතන නම් ස්වාමීන් වහන්සේ නමක්, සුමංගල හා තවත් ස්වාමීන් වහන්සේ නමකට විරුද්ධව මහනුවර දිස්ත්‍රික් උසාවියේ නඩුවක් පැවරූහ.

පැමිණිල්ලේ සඳහන් පරිදි, පැමිණිලි කරුට උරුමය හිමිවන්නේ මෙසේයි:

දිවිල්ලේ විහාරාධිපති,

සෝණුත්තර ස්වාමීන් වහන්සේ (අපවත්වුණේ 1893 දී)

|

තිස්ස ස්වාමීන් වහන්සේ (එකම ගෝලයා: ගුරු හාමුදුරුවන්ට පෙර අපවත්විය)

|

සුමංගල ස්වාමීන් වහන්සේ (තිස්සගේ ගෝලයා: පැමිණිලිකරු)

ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය අනුව විහාරාධිපති පදවිය පැවරෙන විහාරස්ථානයක් වූ දිවිල්ලේ විහාරයේ අධිපතින් වහන්සේ ඇවෑමෙන්, උන්වහන්සේගේ ශිෂ්‍ය සෝණුත්තර ස්වාමීන්ද්‍රයෝ එහි අධිපති පදවියට පත්වූහ. සෝණුත්තර ස්වාමීන් වහන්සේට සිටියේ එකම ගෝල නමකි. තිස්ස ස්වාමීන් වහන්සේ නමින් හැඳින්වුණු ඒ ගෝල නම, සෝණුත්තර ස්වාමීන් වහන්සේට පෙර අපවත් වූහ. ඒ අපවත් වූ තිස්ස ස්වාමීන් වහන්සේගේ ගෝලයා හැටියට, පැමිණිලිකාර ධම්මරතන ස්වාමීන් වහන්සේ, 1893 දී සෝණුත්තර ස්වාමීන් අපවත්වූ පසු, තමන් දිවිල්ලේ විහාරාධිපති පදවියට පත් වූ බවත්, වර්ෂ 1907 මැයි මාසයේදී පැමිණිලිකාර තමන් වහන්සේ, 1 වෙනි වග උත්තරකරු එම විහාරයේ පාලන කටයුතුවල යෙදවූ බවත්, අනතුරුව, 1 වෙනි විත්තිකරු පැමිණිලිකාර සවාමීන් වහන්සේ ගේ විහාරාධිපති පදවියේ කටයුතු ඉටු කිරීමට නීති විරෝධී ලෙස වළක්වන බවත්, 2 වැනි විත්තිකරු එම විහාරයේ බාරකරු බවත් පැමිණිල්ලේ සඳහන් විය.

1 වෙනි විත්තිකරු, මේ පැමිණිල්ලට උත්තර සපයමින්, දිවිල්ලේ විහාරයේ අධිපති පදවිය, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය අනුව **නොපැවරෙන** බව පැවසීය. එහෙත්, තිස්ස ස්වාමීන් වහන්සේ, කලක් සෝණුත්තර ස්වාමීන් වහන්සේගේ ගෝලයා හැටියට විසූ බව 1 වෙනි විත්තිකරු පිළිගනී. සෝණුත්තර ස්වාමීන් වහන්සේ ජීවමානව සිටියදීම, සිවුරු හළ තිස්ස ස්වාමීන් වහන්සේ පසුව, එක්තරා බටුගොඩ හාමුදුරු නමකගේ ගෝලයා වශයෙන් පැවැදිවූහ. පැමිණිලිකරු තිස්ස ස්වාමීන් වහන්සේගේ ගෝලයකු නොවන බවත්, දිවිල්ලේ විහාරාධිපති පදවියට පත් නුවූ බවත්, එම පදවියේ කටයුතු කවදාවත් ඉටු නොකළ බවත්, උන් වහන්සේ විසින් 1 වෙනි විත්තිකරු එම විහාර කටයුතු පාලනයට පත් නොකළ බවත්, 2 වෙනි විත්තිකරු කියා සිටියේය. එපමණක් නොව, මතක ඇති කාලයක පටන්, ඒ විහාරස්ථානය අස්ගිරි පාර්ශ්වයේ සංඝයාට අයත්ව පැවතෙන බවත්, 1893 දී, සෝණුත්තර ස්වාමීන් වහන්සේගේ අභාවයෙන් පසු, තමන් වහන්සේ එහි විහාරාධිපති වශයෙන් ක්‍රියාකර ඇති බවත්, ඒ සඳහා, මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ හා දිවිල්ලේ හා මුරුතවත්තේ ගම්වාසීන්ගේ අනුග්‍රහය තමා ලද බවත්, 1 වෙනි විත්තිකරු කියා සිටියේය.

දෙවෙනි විත්තිකරු තම පිළිතුර සපයමින්, දිවිල්ලේ විහාරයේ අධිපති පදවිය, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය අනුව පැවතෙන බව පිළිගත්තේය. එහෙත්, තමන්ට විරුද්ධව නඩු පැවරීමට පැමිණිලිකරුට අයිතියක් නැතැයි 2 වෙනි විත්තිකරු කියා සිටියේය.

මතභේදයට හේතුවූ කරුණු අතර, විහාරාධිපති පදවිය පැවරෙන පාරම්පරික ක්‍රමය කවරේ ද ස්වාමීන් වහන්සේ නමක් සිවුරු හැරීමෙන්, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය කඩවන්නේ ද ආදී කරුණු කිහිපයක් මූල්තැන ගත්තේය. මීට වඩා වැදගත් වූත්, මූලික වශයෙන් සලකා බැලිය යුතුවූත් නීති ප්‍රශ්න කිහිපයක් මේ කරුණු හා සම්බන්ධ වී පැවති නමුත්, දිස්ත්‍රික් උසාවියේ නඩු විභාගයේදී ඒ ප්‍රශ්න කිසිවක් උද්ගත නොවීය.

දිස්ත්‍රික් උසාවියේ නඩු විභාගයේදී, විනිශ්චයට පාත්‍රවූ කරුණු ලෙස පිළිතුරු අපේක්ෂා කළ ප්‍රශ්න 9 ක් විය. එනම්:

1. දිවිල්ලේ විහාරාධිපතිකම ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය අනුව පැවතෙන්නක් ද?
2. සෝණුත්තර ස්වාමීන් වහන්සේ ජීවතුන් අතර සිටියදීම තිස්ස ස්වාමීන් වහන්සේ සිවුරු හැර, පසුව, බටුගොඩ උන්නාන්සේගේ ගෝල කමට පත්වීද?
3. විහාරාධිපතිකම, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරිකව නම්, තිස්ස ස්වාමීන් වහන්සේ සිවුරු හැරීමෙන් එහි පැවැත්ම කඩ වීද?
4. පැමිණිලිකරු තිස්ස ස්වාමීන් වහන්සේගේ ගෝලයා ද, එසේ නම්, පැමිණිලිකරු විහාරාධිපති කමට පත්වී ද?
5. පැමිණිලිකරු විහාරාධිපති කමේ අයිතිවාසිකම් රැක, යුතුකම් ඉටුකෙළේ ද?
6. පැමිණිලිකරු විසින් 1 වෙනි විත්තිකරු විහාරයේ පාලන කටයුතුවල යොදවනු ලැබී ද?
7. පැමිණිලිකරුට අලාබයක් හිමිවෙතොත්, ඒ කොපමණ ද?
8. මතක ඇති කාලයේ සිට, විහාරය අස්ගිරි පාර්ශ්වයේ සංඝයා සතුව පැවතෙන්නක් ලෙස තිබුණේ ද?

2 20 නිව් ලෝ රිපෝට්ස් 506

9. 1893 දී සෝණුත්තර ස්වාමීන් වහන්සේ අපවත් වූ පසු, විහාරාධිපති හා පාලකයා හැටියට, අස්ගිරි විහාරයේ මහා නායක ස්වාමීන්ද්‍රයන්ගේ හා දිවිල්ලේ සහ මුරුතවත්තේ ගම් වැසියන්ගේ අනුග්‍රහය ඇතිව, 1 වෙනි විත්තිකාර ස්වාමීන් වහන්සේ ක්‍රියාකර තිබේද?

දිස්ත්‍රික් උසාවියේ නඩු විභාගය අවසානයේ දී, පැමිණිල්ල නිෂ්ප්‍රභා කරමින් තීන්දුව දෙන ලදී. පැමිණිලිකරු මේ තීන්දුවට විරුද්ධව ඇපැල් ගත්තේය.

ඇපැල් නඩු විභාගය, මිඩ්ල්ටන් හා වුඩ්රෙන්ටන් විනිශ්චයකාරවරුන් හමුවේ ආරම්භ වී දෙදිනක් තර්ක කරනු ලැබීමෙන් පසු, තීන්දුව දීම කල් තබන ලදී. එහෙත්, විසඳිය යුතුවූ ගැටලු ප්‍රශ්නවල වැදගත්කම නිසා, ඊට අදාල සාක්කි වැඩිදුරටත් සටහන් කළ යුතුයයි අදහස් කළ ශ්‍රේෂ්ඨාධිකරණය, 1910 මාර්තු 23 ෙ නිද, නියෝගයක් නිකුත් කරමින්, නඩුවේ පිටපත, යලිත් දිස්ත්‍රික් උසාවිය වෙත ඉදිරිපත් කෙළේය.

සිවිල් නඩු මාර්ගවිධි මාලාවේ 773 වෙනි ඡේදය යටතේ පැවරී ඇති බලතල යටතේ, ශ්‍රේෂ්ඨාධිකරණය කළ මේ නියෝගය අනුව, විනය නීති පිළිබඳ විශාරදයින් කැඳවා, විසඳාගත යුතුවූ ගැටලු ප්‍රශ්න ගැන විහාර නීතියේ සඳහන් කරුණු සටහන් කරන ලදී මෙසේ පිළිතුරු සැපයිය යුතුයයි ශ්‍රේෂ්ඨාධිකරණය අදහස් කළ කරුණු 9 ක්, ප්‍රශ්න මාලාවක් වශයෙන් සකස් කොට, පහළ උසාවිය වෙත ඉදිරිපත් විණි.

ඒ ප්‍රශ්න මාලාව නම්:

1. ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය හිමිවන්නේ කෙසේ ද?
2. සිය ආචාර්යයන් වහනසේ අතින් උපසම්පදාව නොලද හොත්, ගෝලයාට උන්වහන්සේගෙන් ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයි-අයිතිය හිමිවන්නේ ද?
3. හැම ගෝලයෙකුටම ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය හිමිවන්නේ ද? එසේ නම්, කුමන පිළිවෙළක් අනුව ද? එසේ නැත්නම්, කුමන ශිෂ්‍යයා ඒ අයිතියට හිමිවේ ද?
4. එක ආචාර්යයෙකුගේ ශිෂ්‍යයෙකු තවත් ආචාර්යයෙකුගේ ශිෂ්‍යයෙකු බවට පත්වූවහොත්, ඒ නිසා, පළමු ආචාර්යවරයා ඇවෑමෙන් ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතියට ඔහු අහිමිවන්නේ ද?
5. තම ආචාර්යවරයා මිය යන්නට පෙර ශිෂ්‍යයෙකු මිය ගියහොත් ඒ මියගිය ශිෂ්‍යයාගේ ශිෂ්‍යයා, තමන්ගේ (මියගිය) ආචාර්ය වරයාගේ ආචාර්ය වරයාගෙන් පසු, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතියට අහිමි වන්නේ ද?
6. දුස්සීල ක්‍රියාවක් නිසා කිසියම් ආචාර්යවරයෙකු සිවුරු හළ හොත්, තමාගේ ඒ ක්‍රියාව, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය සම්බන්ධයෙන්, තමාත් තමාගේ ශිෂ්‍යයාත් කෙරෙහි බල පවත්නේ කෙසේ ද?



7. එක් ආචාර්යවරයෙකුට ගෝලයන් දෙදෙනෙකු වෙතොත්, ඔවුන් දෙදෙනා ආචාර්ය පදවියට පත්වන්නේ කිනම් පිළිවෙළට ද? නිදසුනක් වශයෙන් කියතොත් – 'අ' භික්ෂුවට 'ඉ' සහ 'උ' යන ශිෂ්‍යයෝ දෙදෙනෙක්, වෙති. 'අ' මිය යයි. 'අ' ඇවෑමෙන් එතැනට පත් වන්නේ කවු ද? 'ඉ' ද? 'උ' ද? 'අ'ට 'ඉ' සහ 'උ' ශිෂ්‍යයන් දෙදෙනෙකි 'අ' ට පෙර 'ඉ' මිය යයි. 'උ' එතැනට පත්වේ ද? 'අ' ට 'ඉ' සහ 'උ' ශිෂ්‍යයන් දෙදෙනෙකි. 'ඉ' ට 'එ' කියාත්, 'උ' ට 'ඔ' කියාත් ශිෂ්‍යයන් දෙදෙනෙකි. 'අ' ට පෙර 'ඉ' මිය යයි. ඒ වෙනුවට පත් වන්නේ කව්රුන් ද?
8. ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය යටතේ පූජා කරන ලද විහාර යක, ශිෂ්‍යානුශිෂ්‍ය පිළිවෙළ කැඩී ගියහොත් විහාරාධිපතිකමට පත් කිරීමේ අයිතිය කා සතුවන්නේ ද?
9. විහාරාධිපති පදවියට පත් කිරීමේ බලය ඇති මණ්ඩලය හෝ පුද්ගලයා, එසේ කෙනෙකු පත් කළ විට, එසේ පත් කරනු ලැබූ තැනැත්තා ගෙන් නැවතත් ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය ඇරඹුනා ද? එසේ නැත්නම් ඒ තැනැත්තාගේ අභාවයෙන් පසු උන්වහන්සේට ශිෂ්‍යයකු සිටියත්, ඒ විහාරය යළිත් එකී මණ්ඩලයට හෝ පුද්ගලයාට පැවරේ ද?

ඓ ප්‍රශ්න මාලාවට පිළිතුරු සැපයීම සඳහා මල්වතු අස්ගිරි උභය පාර්ශ්වයේ ධර්මවිනයධර මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා සය නමක්ද, කොළඹ හලාවත දෙදිසාවේ ප්‍රධාන නායක ස්වාමීන් වහන්සේ ද කැඳවා සාක්කි විභාග කරන ලදී. ඇතැම් ප්‍රශ්න ස්ථිර ලෙසම නිරාකරණය කරගත හැකි වූවද, තවත් සමහර ප්‍රශ්න සම්බන්ධයෙන් මල්වතු–අස්ගිරි දෙපාර්ශ්වයත්, කොළඹ සංඝ නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේත් අතර මතභේද පැවති බව පෙනේ. මේ ''විශේෂඥ සාක්කිකරුවන්'' පරීක්ෂා කර බලා, බෞද්ධ නීතියේ හා ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමයේ එතෙක් ව්‍යාකූලව පැවති තැන් නිරාකූල කරගත් පරිදි පහත සඳහන් වේ:

වර්ෂ 1910 ඔක්තෝබර් 10 වෙනිද.

1. **හැරම්ටිගල ධීරානන්ද ස්වාමීන්ද්‍රයන් වහන්සේ;**
   (1) ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව ඇරඹෙන්නේ, මහණ කිරීමේ මාර්ගයෙනි. ගුරුන් වහන්සේ විසින් මහණ කරවනු ලබන සාමණේර ශිෂ්‍යයා, තවත් භික්ෂුවක විසින්, තමන්වහන්සේ හා ගුරුන් වහන්සේ ද උපාධ්‍යාය කොට උපසම්පදාව ලැබුව හොත්, එබඳු භික්ෂුව, ඉහත කී අන්‍යතර භික්ෂූන් වහන්සේ ශිෂ්‍යයකු නැතිව අපවත් වූ කල්හි, උන්වහන්සේ ගේ ඇවෑමෙන් ඔහුගේ උරුමක්කාරයා වශයෙන් ද සලකනු ලැබේ.
   (2) උපාධ්‍යායයන් වහන්සේ විසින් මහණ නොකරනු ලැබුව ද, උපසම්පදාව සඳහා ඉදිරිපත් කරනු ලැබූ පමණින්, ඔහුගේ

ගෝලයා බවට පැමිණිය හැක්කේ එකී උපාධ්‍යායයන් වහන්සේ මහණ කළ ගෝලයකු නැතිවූ විට පමණකි.

(3) තමා මහණ කළ ගෝලයින් කිහිප නමක් ඇති කල්හි, ඒ සැම දෙනාම ශිෂ්‍යයින් බවට පත්වෙති. ඔවුනතුරින්, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට විහාරාධිපතිකම හිමිවෙන අතර, සෙස්සෝ එම විහාරයේ ආදායමෙන් යැපීමටත්, එහි විසීමටත් අයිතිය ලබති. ඔවුන්ට හිමිවන්නේ විහාරාධිපතිට දෙවෙනි වූ ස්ථානයකි. එහෙත් අවශ්‍ය යයි හැඟුණු විට, ශිෂ්‍යයින් අතර ජ්‍යෙෂ්ඨ-කණිෂ්ඨ භාවය නොතකා, තමා කැමති ශිෂ්‍යයකු උරුමක් කාරයා හැටියට පත් කිරීමට අවසර තිබේ.

(4) එක් උපාධ්‍යාය කෙනෙකුගේ ශිෂ්‍යයෙකුට, තවත් උපාධ්‍යාය කෙනෙකුගේ ශිෂ්‍යයෙකු බවට පත්විය හැකිය. එහෙත්, ඔහු මුලින් කී උපාධ්‍යායයන් වහන්සේ විසින් මහණ කරනු ලැබී නම්, ඔහුගේ උරුමක්කාරයා වීමේ අයිතියට එයින් හානියක් නොවේ. දෙවෙනි උපාධ්‍යායයන්ගේ ශිෂ්‍යයා වන්නේ, උපසම්පදාව සඳහා තමන්ගේ හෝ දෙදෙනා වහන්සේගේම නාමයෙන් ඉදිරිපත් කළහොත් පමණකි.

(5) කිසියම් ශිෂ්‍යයෙකු ඔහුගේ උපාධ්‍යායයන් අපවත්වීමට පෙර මිය ගිය හේතුවෙන්, ඒ ශිෂ්‍යයාගේ ශිෂ්‍යයා, තම උපාධ්‍යාය යන්ගේ උපාධ්‍යායයන් වහන්සේ ඇවෑමෙන් ශිෂ්‍ය උරුමක් කාරයා වීමේ අයිතියට අහිමි නොවේ.

(6) කිසියම් හේතුවක් නිසා උපාධ්‍යාය නමක් සිවුරු හළහොත්, ඔහු විහාරයේ අයිතියට අහිමිවන්නේය. එහෙත් ඔහුට තමා සතු පෞද්ගලික දේපළ ගෙන යා හැකිය. ගුරුන් වහන්සේ සිවුරු හැරීම නිසා ශිෂ්‍යයාගේ පාරම්පරික අයිතියට හානියක් නොවේ. ගුරුන් අපවත් වූ විටක මෙන් ගෝලයාට උරුමය හිමිවේ.

(7) උපාධ්‍යාය කෙනෙකුට ශිෂ්‍යයින් කිහිප නමක් වෙතොත්, ඉන් කෙනෙකු විශේෂයෙන් පත් නොකළ විට, යථා කාලයේදී විහාරාධිපති උරුමය හිමිවන්නේ, ඔවුනතර ජ්‍යෙෂ්ඨතම ශිෂ්‍යයාටය.

(8) ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමයට පූජා කරන ලද විහාරයක පරම්පරාව බින්න වී ගිය විට, එම විහාරයේ අයිතිය, එම නිකායේ සංඝයා වෙත පොදුවේ හිමිවී, සාංඝික වස්තුවක් බවට පත්වේ. එවිට අලුත් විහාරාධිපති වරයෙකු පත් කළ යුත්තේ, ඒ සඳහා රැස්වෙන නිකායානුබද්ධ මහා සංඝයාගේ ඒකමතික තීරණය අනුවය. එහෙත් පසුගිය අවුරුදු 200 ඇතුළත මේ සිරිත ක්‍රියාවේ යෙදී නැත.



(9) පුරප්පාඩුවට නීත්‍යානුකූලව පත් කරනු ලැබූ විහාරාධිපති තැනගෙන් පසු, ශිෂ්‍ය උරුමය සැලකෙන්නේ, ඒ පත්වීමේ කොන්දේසි අනුවය. පත්වීම ඒ විහාරාධිපතිගේ ජීවිතාවසානය දක්වා පමණක් නම්, ඊළඟ විහාරාධිපති අලුතුවෙන් පත් කර ගත යුතුය. පත්වීම දෙන ලද්දේ කොන්දේසි විර හිතව නම්, ඔහු ඇවෑමෙන්, ඔහුගේ ශිෂ්‍යයාට උරුමය හිමිවී, අලුත් පාරම්පරික ක්‍රමයක් බිහි වන්නේය. නිකායානුබද්ධ මහා සංඝයාගේ අනුමැතිය නොමැතිව, විහාරාධිපති සංඝ නායක කෙනෙකුට මෙසේ පත්වීම් දිය නොහැකිය.

**2. රතනජෝති මයියංගන නායක ස්වාමීන්ද්‍රයෝ:**

(1) කිසියම් භික්ෂුවක් ශිෂ්‍යයෙකු මහණ කොට, ඒ සාමණේර තැන, උපසම්පදාව සඳහා ඉදිරිපත් කළහොත්, එකී ශිෂ්‍ය සාමණේරයෝ, එම උපාධ්‍යායයන් වහන්සේ ඇවෑමෙන් උරුමයට හිමිකාරයා වෙති. එකී උපාධ්‍යායයන් අතින් උපසම්පදාව නොලද ද, උරුමයට හානි නොපැමිණේ.

(2) මහණ වීමේ දී ගුරුකොට නොගන්නා භික්ෂුවකගේ උරුමය හිමි ගෝලයා වශයෙන් කිසිවෙකුට පත්විය නොහැකිය. එහෙත්, ගෝලයකු නැති උපාධ්‍යාය නමකට තවත් භික්ෂුවක මහණ කරවා ගත් ගෝලයෙකු තම වචනයෙන් හෝ නැගි ඔප්පුවක මාර්ගයෙන් තම ගෝලයා වශයෙන් පත්කර ගත හැකිය.

(3) එක භික්ෂුවකට ගෝලයින් කීප දෙනෙකු වෙතොත්, ඒ හැම දෙනාම, ගුරු හාමුදුරුවන් ඇවෑමෙන් උරුමකම් ලබති. එහෙත්, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා, විහාරාධිපති පදවියට පත්වේ. සෙස්සෝ, එම විහාරයේ වාසය කිරීමටත්, එහි ආදායමෙන් යැපීමටත් අයිතිය ලබති.

(4) එක භික්ෂුවකගේ ගෝල නමක්, තවත් භික්ෂුවකගේ ගෝල නමක් බවට පත්වුව ද, මුල් ගුරු හාමුදුරුවන්ගේ ගෝලකමට ඔහු අහිමි නොවේ.

(5) ගුරු හාමුදුරුවන්ට පෙර ගෝලයෙකු මියගියත් මියගිය ගෝලයාගේ ගෝලයාට, තම ගුරුන්ගේ ගුරුවරයා ඇවෑමෙන් උරුමකම් හිමිවීමේ අයිතිය අහිමි නොවේ.

(6) භික්ෂුවක් සිවුරු හැරි කල්හි, ඔහු සියලු සාංඝික අයිතියට අහිමිවේ. එහෙත් ඔහුගේ ගෝලයකු වෙතොත්, ගුරුවරයා මිය ගිය කලෙක මෙන්, විහාරාධිපති කමට පත් වන්නේය.

(7) ගුරු හාමුදුරුවන්ට ගෝලයන් කීප දෙනෙකු සිටිතොත්, ඒ ගෝලයෝ උපසම්පදාව ලත් පිළිවෙළින් ගුරු හාමුදුරුවන්ගේ උරුමයට හිමිවෙති.

(8) ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය අනුගමනය කරන විහාර ස්ථානයක විහාරාධිපති පදවිය හිස්වූ කල්හි, එම ස්ථානය සාංඝික වස්තුවක් බවට පත්වී, එම නිකායට අයත් භික්ෂූන් සතු වේ. ඒ විහාරාධිපති ධුරයට කෙනෙකු පත් කිරීමේ අයිතිය එම නිකායානුබද්ධ මහා සංඝයා සතු කාරියකි.

(9) එබඳු පත්වීමක් ඇති කල්හි, අලුතෙන් ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමයක් ආරම්භ කළා වන්නේය. හාරිස්පත්තුවේ නාරංගොඩ විහාරයේත්, සබරගමුවේ මැද්දෙගම විහාරයේත් එබඳු පත්වීමක් දෙන ලදී.

3. **සරණංකර කෝපාවැව නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ:**

(1) මහණ කරනු ලැබීමේ හේතුවෙන්, ගෝලයකු සිය ගුරු හාමුදුරුවන් ඇවෑමෙන් උරුමක්කාරයා වීමේ අයිතිය ලබයි.

(2) මහණ කරනු ලැබූවේ නැත්නම්, ගෝලයකුට උරුමක්කාරයෙකු විය නොහැකිය. උරුමක්කාර හිමිකම් ලබන ගෝලයකු වීමට නම් ගුරුවරයා විසින් මහණ කරනු ලැබීම අත්‍යවශ්‍යය.

(3) ගුරුන් වහන්සේට ගෝලයින් කීප දෙනෙකු වෙතොත්, ඒ හැමදෙනම ඔහු ඇවෑමෙන් උරුමකම් ලබති. එහෙත් ඔවුනතර ප්‍රධානයා වශයෙන් එක් නමක් ක්‍රියා කරති. සාමාන්‍ය සිරිත නම් උපසම්පදව ලත් පරිදි, ජ්‍යෙෂ්ඨ තම ශිෂ්‍යයා ප්‍රධානියා වන්නේය. එහෙත්, ඔහු උගත්කම ආදියෙන් දුර්වල නම්, ගුරු හාමුදුරුවන් මිය යන්නට පෙර උන්වහන්සේ විසින් කණිෂ්ඨ ශිෂ්‍යයකු අධිපති පදවියට පත් කරනු ලැබුවහොත්, ඒ කණිෂ්ඨ ශිෂ්‍යයා විහාරාධිපති වන්නේය. එසේ නැත්නම්, සහෝදර සංඝයා විසින් ප්‍රධානියා තෝරා පත්කර ගත්ත හැකිය.

(4) එක් භික්ෂුවක් විසින් මහණ කරනු ලැබ, තවත් භික්ෂුවක් විසින් උපසම්පද සඳහා ඉදිරිපත් කරනු ලැබූ විට, ඒ සාමණේර ශිෂ්‍යයා පසුව කී භික්ෂුවගේ ගෝලයා ද වන්නේ ය. එහෙත්, මුලින් කී භික්ෂුව ඇවෑමෙන් උරුමක්කාරයා වීමේ අයිතියට ඒ නිසා හානියක් නොවේ.

(5) ගුරු හාමුදුරුවන්ට පෙර මිය යන ගෝලයාට තමාගේ ගෝලයකු සිටියහොත්, ඒ ගෝලයා, මිය ගිය ගුරුවරයාගේ ගුරුවරයා ඇවෑමෙන් ඔහුගේ උරුමක්කාරයා වන්නේය.

(6) භික්ෂුවක් සිවුරු හළ කල්හි ඔහු ස්වකීය අයිතියට අහිමි වන්නේය. එහෙත් ඔහුගේ ගෝලයින් කෙරෙහි එය බල නොපවත්වයි. ගුරු හාමුදුරුවන් මිය ගිය කලක මෙන් ඔව්හු උරුමකම් ලබති.



(7) ගුරු හාමුදුරු කෙනෙකුට ගෝලයින් දෙදෙනෙකු හෝ වැඩි ගණනක් වෙතොත්, ඔවුන් හැම දෙනම, ගුරුන් ඇවෑමෙන් උරුමකම් ලබතත්, ප්‍රධානියා වන්නේ ඉන් එක් ගෝලයෙකි.

(8) ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව අනුගමනය කරන විහාරස්ථානයක විහාරාධිපති නමක්, ශිෂ්‍යයෙකු නැතිව අපවත් වූ කල්හි, එම විහාරයේ උරුමක්කාරයා වශයෙන් කෙනෙකු පත්කිරීම, විහාරය සම්බන්ධ නිකායේ සංඝයා සතු වන්නේය.

(9) එබඳු පත්වීමක් තීරණය කළ කල්හි, ඉන්පසු උරුමකම් හිමිවීම ඒ පත්වීමේ ස්වරූපය අනුව සිදු වේ. පත්වීම, එකී විහාරාධිපතින්ගේ ජීවිත කාලයට සීමාවී ඇත්නම්, ඔහු ඇවෑමෙන විහාරාධිපති පදවිය නිකායට පැවරේ. ඒ පත්වීම ස්ථිර, සදාකාලික පත්වීමක් නම් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවක් බිහිවන්නේය.

4. **ශ්‍රී සුමන දඹුලු විහාරයේ මහා නායක ස්වාමීන් වහන්සේ:**

(1) මහණ කිරීමෙන් ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය හිමි වන්නේය.

(2) තමා මහණ නොකළ ගුරු හාමුදුරු කෙනෙකුගේ ගෝලයකු වීමට කිසි කෙනෙකුට අයිතියක් නැත.

(3) ගුරු හාමුදුරුවන් ජීවමාන කාලයේ දී අන් නියෝගයක් නොකළ හොත්, තමා මහණ කළ ගෝලයින් හැමදෙනාම උරුමකම් ලබන අතර, ගෝලයින් අතර උපසම්පදව ලැබීමෙන් ජ්‍යෙෂ්ඨයා ප්‍රධාන ගෝලයා වන්නේය.

(4) එක් ගුරු හාමුදුරු කෙනෙකුගේ ශිෂ්‍යයෙකු තවත් කෙනෙකුගේ ශිෂ්‍යයෙකු වූවහොත්, මුලින් කී ගුරු හාමුදුරුවන් ඇවෑමෙන් උරුමය හිමිවීමේ අයිතියට ඒ නිසා හානි පැමිණේ. එහෙත්, දෙවෙනි ගුරු හාමුදුරුව. යටතට පත්වීමට පෙර ඒ ගෝලයා සිවුරු හලේ නම් එසේ නොවේ.

(5) තමාගේ ගෝලයෙකු ද ජීවත්ව සිටියදී, තම ගුරු හාමුදුරුවන්ට පෙර යම් ශිෂ්‍යයකු මිය යතොත්, ඔහුගේ ගෝලයා ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය අනුව, ඔහුගේ ගුරු හාමුදුරුවන්ගේ උරුමයට හිමිවේ.

(6) සිවුරු හැරීම නිසා භික්ෂුවක් ඔහුගේ සාංඝික අයිතියට අහිමි වේ. එහෙත් ඔහුගේ ගොලයාගේ අයිතියට ඒ නිසා හානියක් නොවේ. පාරාජිකා වරදක් නිසා සිවුරු හළ ද, තත්වය එසේම ය.

(7) ගෝලයින් දෙදෙනෙකු ඇති ගුරු හාමුදුරු කෙනෙකු ඇවෑමෙන්, ඒ ගෝලයන් දෙදෙන ම, සම උරුම කම් ලබති; එහෙත් ඉන් එක් ගෝලයෙක් ප්‍රධානියා වන්නේය.

(8) ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව කැඩී ගිය විටෙක, උරුමක්කාර යෙකු පත්කිරීමේ අයිතිය, මල්වතු හෝ අස්ගිරි නිකාය සතුවන්නේය.

(9) එබඳු පත්වීමකින් පසු, යළි ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව පිහිට වූ හොත්, එය නැවතත් ආරම්භ වන්නේය. එහෙත්, එබඳු පත්වීම් දෙන්නේ කලාතුරෙකිනි. බොහෝ විට, විහාරාධිපති කෙනෙකු පත් කරන්නේ ජීවිත කාලය තෙක් පමණකි. මහා නායක ස්වාමීන් වහන්සේට පමණක් තනිව එවැනි පත්වීමක් නොදිය හැකිය.

5. **විද්‍යාලංකාර පරිවෙණාධිපති ශ්‍රී ධර්මාරාම කොළඹ හලාවත දෙදිසාවේ ප්‍රධාන නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ:**

(1) ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය දෙයාකාරයකින් හිමිකර ගත හැකිය. මහණ කරවනු ලැබීමෙන් හෝ උපසම්පදාව සඳහා ඉදිරිපත් කරනු ලැබීමෙනි. දෙවෙනි ක්‍රමය අනුව, උපසම්පද කර්මයෙහිදී සාමණේරයන් ඉදිරිපත් කරන උපාධ්‍යායයන් වහන්සේ, එකී සාමණේර සංඝයා, තම උරුමය හිමිවෙන පාරම්පරික ශිෂ්‍යයා ලෙස පත්කර ගන්නා බව නිකායානුබද්ධ සංඝයා හමුවේ ප්‍රකාශයට පත් කළ යුතු ය.

(2) මහණ කළ උපාධ්‍යායයන් වහන්සේ අන්කිසි භික්ෂුවක් සාමණේර නමක් උපසම්පදාව සඳහා ඉදිරිපත් කරතහොත්, එකී සාමණේර තැන උපසම්පද කර්මයෙහිදී උපාධ්‍යායයන් වශයෙන් ක්‍රියා කරන භික්ෂුවගේ පාරම්පරික ශිෂ්‍යයා විය හැක්කේ, ඒ බව උපසම්පදාවේදී තමන්ම පැවසුවොත්ය; නැත්නම් ලිපියක් මගින් ප්‍රකාශයට පත් කළ අනතුරුවය.

(3) උපාධ්‍යායයන් වහන්සේ කෙනෙකුට ශිෂ්‍යයින් කීපදෙනෙකු සිටියහොත්, ගුරුන් වහන්සේ ඇවෑමෙන් ශිෂ්‍යයින් හැම දෙනාම උරුමක්කාරයායෝ වෙති. එහෙත් තමාගේ ප්‍රධාන උරුමක්කාරයා වන්නේ කවරේ දැයි උපාධ්‍යායයන් වහන්සේ ජීවමාන කාලයේදීම තෝරා පත්කිරීම බොහෝ විට අනුගමනය කරන සිරිතය. එසේ නොකළ කල්හි, උපසම්පදාවෙන් පරණතම ශිෂ්‍යයා ප්‍රධාන ගෝලයා වන්නේය. යම් හෙයකින් ඒ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා ඒ පදවියට නුසුදුසු නම්, නැතහොත්, උගත්කම ප්‍රමාණවත් නොවේ නම්, ශිෂ්‍යයින් හැම දෙනම එක්ව, ප්‍රධානියා තෝරා ගැනීම සිරිතය.

* 

(4) එක භික්ෂුවකගේ ගෝලයෙකු තවත් භික්ෂුවකගේ ගෝලකමට පත් වූවහොත්, පසුව ගුරු කොට ගන්නා භික්ෂුවගේ උරුමක්කාරයා වීමේ අයිතිය ඒ ගෝලයාට හිමිවන්නේ, ප්‍රථම ගුරුවරයාගේ අවසරය ඇතිව දෙවෙනි ගුරුවරයා යටතට පත්වූවහොත් පමණකි. මුල් ගුරුවරයා සමග කලහ වී, ඔහුගෙන් සහමුලින්ම වෙන්ව, වෙනම ගුරුවරයෙකු යටතට පත්වී, ආපසු නොපැමිණියහොත්, මුල්ගුරුවරයාගේ උරුමක් කාරයා වීමේ අයිතිය අහෝසි වන්නේය.



(5) කිසියම් ගුරු හාමුදුරු කෙනෙකුගේ ගෝලයෙකු, තම ගුරුවරයා මිය යන්නට පෙර මළහොත්, මිය ගිය ඒ ගෝලයාගේ ගෝලයා, එකී ගුරු හාමුදුරුවන් ඇවෑමෙන් උරුමක්කාරයා වන්නේ, එකී ගුරු හාමුදුරුවන්ට කීකරුව පක්ෂපාතීව ක්‍රියා කළහොත් පමණකි. ඔහු පදිංචි කොතැනක ද යනු ඊට අදාල නොවේ.

(6) යම් භික්ෂුවක් සිවුරු හළ කල්හි, අපවත්වූ විට මෙන් සියලු අයිතිවාසිකම් වලට අහිමිවේ. උරුමය ඔහුගේ ගෝලයින් වෙත පැවරෙන අතර, ගුරුතුමා සිවුරු හැරීම නිසා ඒ ගෝලයින්ට කිසිදු බාධාවක් සිදු නොවේ.

(7) උපාධ්‍යායයන් වහන්සේ නමකට ගෝලයින් කීප දෙනෙකු සිටියහොත්, උන්වහන්සේ ඇවෑමෙන් ඒ ගෝලයෝ හැමදෙනම, උපසම්පදාව අනුව, පෙර පසු පිළිවෙළින් උරුමකම් ලබති.

(8) ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව හින්නව ගිය කල්හි, විහාරය නිකාය සතු සාංඝික වස්තුවක් බවට පත්වේ. එසේ හිස්වන විහාරාධිපති ධූරය, වැදගත් විහාරස්ථානයක නම්, නිකායේ මහානායක හා සංඝ සභාව විසින් විහාරාධිපති පත් කරනු ලැබේ. එතරම් නොවැදගත් විහාරස්ථානයක නම්, මහානායක ස්වාමීන්ද්‍රයෝ, විහාරාධිපති පුරප්පාඩුවට කෙනෙකු පත් කරති. විහාරස්ථානය ඉතා කුඩා ස්ථානයක් නම්, දිස්ත්‍රික්කයේ සෙසු සංඝයාගේ අනුමැතිය ද ඇතිව, දිස්ත්‍රික්කයේ ප්‍රධාන නායක ස්වාමීන් වහන්සේ අතින් පත් කිරීම සිදු වන්නේය.

(9) එබඳු පත්වීමක් කළ කල්හි ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය යළිත් ඇරඹීම පිළිබඳ ප්‍රශ්නය, ඒ පත්වීමේ කොන්දේසි මත රඳා පවතී. ඒ පත්වීම, ජීවිත කාලයට සීමා කරන ලද නම්, එසේ පත්කළ විහාරාධිපතිගේ ශිෂ්‍යයා ඔහු ඇවෑමෙන් උරුමක්කාරයා නොවේ. එහෙත් ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය පිහිටන සේ පත්වීම දිය හැකිය. එසේ කල්හි, යළිත් වරක් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව ඇරඹුනා වන්නේය.

6. **විද්‍යෝදය උප පරිවේණාධිපති ඇම්. ශ්‍රී ඥානිස්සර නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ**

(1) මහණ කරනු ලැබීමෙන් හෝ උපසම්පද කරනු ලැබීමෙන්, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය අත්කර ගත හැකිය.

(2) තමා මහණ නොකළ භික්ෂුවකගේ ශිෂ්‍යයා බවට පත් වීමට නම්, එම අදහසින් යුක්තව, උපසම්පද කිරීමෙහිදී ඒ භික්ෂුව උපාධ්‍යාය කොට ගත යුතුය.





(3) හැම ගෝලයෝම, ගුරු හාමුදුරුවන් ඇවෑමෙන් උරුමක්කාරකම් ලබති. එහෙත්, උපසම්පදාව අතින් ජ්‍යෙෂ්ඨතම ශිෂ්‍යයා නැතහොත් උගත්කමින් හා බණ දහම් දැනීමෙන් වැඩි ශිෂ්‍යයා, ප්‍රධාන විහාරාධිපති පදවියට පත්වේ. ගුරු හාමුදුරුවන් මිය යාමට පෙර මේ ප්‍රශ්නය නොවිසඳන ලද නම්, ශිෂ්‍යයෝ හැම එක්ව, තමන්ම එය විසඳාගනිති.

(4) ශිෂ්‍යයෙකු තම ගුරු හාමුදුරුවන් අතහැර අන්කිසි භික්ෂුවක ගුරු කොට ගත් නමුදු, මුල් ගුරුවරයා අත් හළේ ඔහුගේ අනුදැනීම ද ඇතිව නම්, එකී ගුරුතුමා ඇවෑමෙන් උරුමකම් හිමිවීමට ඉන් හානියක් නොවේ.

(5) කිසියම් ගුරු හාමුදුරු කෙනෙකුගේ ගෝලයෙකු, තම ගුරුවරයා මිය යන්නට පෙර මළහොත්, මිය ගිය ඒ ගෝලයාගේ ගෝලයා, එකී ගුරු හාමුදුරුවන් ඇවෑමෙන් ඔහුගේ උරුමක්කාරයා වන්නේය.

(6) කිසියම් භික්ෂුවක් සිවුරු හළ කල්හි ඔහු සියලු අයිතිවාසිකම් වලට අහිමිවන්නේය. එහෙත් ඔහුගේ ගෝලයින් කෙරෙහි එය බලනොපවත්වයි. ගුරු හාමුදුරුවන් මළ කලක මෙන් ඔව්හු උරුමකම් ලබති.

(7) (3) වෙනි ප්‍රශ්නයට දුන් පිළිතුර අනුව, ගුරුහාමුදුරු කෙනෙකුට ගෝලයින් කිහිප දෙනෙකු සිටියහොත්, ඔහු ඇවෑමෙන් ඒ හැම දෙනම උරුමකම් ලබති.

(8) ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව හින්නව ගිය කල්හි, විහාරය, එම ස්ථානය සතු නිකාය වෙත පැවරේ. අනතුරුව එම නිකායේ මහා නායක හා සෙසු සංඝයා විසින් අලුත් විහාරාධිපති කෙනෙකු පත්කර ගනු ලැබේ. මෙය සාමාන්‍ය නීතිය වුව ද, එය ක්‍රියාවට නැගීමෙහිදී තරමක් වෙනස්කම් සිදුවේ. අලුත් විහාරාධිපති පත්කරන්නේ නිකායේ සෙසු සංඝයා අනුමත කරතැයි යන විශ්වාසය පිට මහානායක ස්වාමීන්ද්‍රයන් විසින් පමණකි. තරහයක් නො සිදුවෙතැයි අදහස් කරන විට පමණක් මහා නායක ස්වාමී ද්‍රයෝ එසේ ක්‍රියා කරති. තරහයක් හටගත් විට ඒ පත්වීම අවලංගු කොට ප්‍රශ්නය විසඳීම නිකායට බාර කරනු ලැබේ.

(9) එබඳු පත් කිරීමකින්, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව යළි ඇරඹෙන්නේ නැත. විහාරාධිපති කෙනෙකු පත් කළ හැක්කේ, ජීවිත කාලය තෙක් පමණකි. ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව හින්නවූ කල්හි, විහාරය සාංඝික වන බැවින් පොදුවේ සංඝයා සතු වන බැවින්–මහානායක ස්වාමීන් වහන්සේට හා සංඝ සභාවට අලුත් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවක් බිහි කළ නොහැකි බව මගේ හැඟීමයි.



7. **මල්වත්තේ විහාරයේ අනුනායක වටරක රතනජෝති ස්වාමීන්ද්‍රයෝ:**

(1) ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය, ආචාර්යයන් කෙනෙකු විසින් මහණ කරනු ලැබීම හෝ උපසම්පද කරනු ලැබීමෙන් හිමිකර ගත හැකිය. මේ සඳහා උපසම්පදාව ඉදිරිපත් කරනු ලැබීම පමණක් වුව ද ප්‍රමාණවත්ය.

(2) තමා මහණ නොකළ ද, උපසම්පද කළ පමණින් ගෝලයෙකුට ඒ ගුරුවරයාගේ උරුමක්කාරයා විය හැකිය.

(3) ගෝලයින් කිහිප දෙනකු සිටින කල්හි, ඒ හැම දෙනාම ගුරුහාමුදුරුවන් ඇවෑමෙන් උරුමක්කාරයෝ වෙති. එහෙත් ඉන් වැඩිමහලු ගෝලයා නැතහොත් දක්ෂම ගෝලයා, ප්‍රධානියා වන්නේය. බොහෝ විට, ගුරු හාමුදුරුවෝ, ප්‍රධානියා කවරේදැයි නම් කරති. එසේ නොකළ කල්හි ගෝලයෝ තමන්ගේ ප්‍රධානියා තෝරා ගනිති.

(4) එක ගුරු හාමුදුරු කෙනෙකුගේ ගෝලයෙකු තවත් භික්ෂුවක් ගුරු තනතුරෙහි තබාගතහොත්, එසේ කළේ මුල් ගුරු හාමුදුරුවන්ගේ මතයට විරුද්ධව නම් මිස, ඒ නිසා, එකී මුල් ගුරු හාමුදුරුවන්ගේ උරුමක්කාරයා වීමේ අයිතියට හානියක් නොවේ.

(5) කිසියම් ගුරු හාමුදුරු කෙනෙකුගේ ගෝලයෙකු තම ගුරුවරයා මිය යන්නට පෙර මළහොත් මිය ගිය ඒ ගෝලයාගේ ගෝලයා තම ගුරු හාමුදුරුවන්ගේ ගුරු හාමුදුරුවන් ඇවෑමෙන් උරුමක්කාරයා වන්නේ එම විහාරයෙහි ජීවත් වෙමින් සුවචව ක්‍රියා කළහොත් පමණකි.

(6) මොන යම් හේතුවක් නිසා හෝ භික්ෂුවක් සිවුරු හළ විට ඔහු ගිහියෙකි. භික්ෂුවක වශයෙන් හැම අයිතියකටම අහිමි වන්නේය. මේ සිවුරු හැරීම, ඔහුගේ ගෝලයා කෙරෙහි බලනොපවත්වයි. ගුරු හාමුදුරුවන් මිය ගිය කලක මෙන් ඔහු උරුමකම් ලබයි.

(7) ගුරු හාමුදුරු කෙනෙකුට ගෝලයින් දෙදෙනෙකු හෝ වැඩි ගණනක් සිටිය කල්හි ඔව්හු හැම දෙනාම උරුමකම් ලබති. එහෙත් උපසම්පදාව අතින් ජ්‍යෙෂ්ඨයා ප්‍රධාන විහාරාධිපති වන්නේය. යම් හෙයකින් ඔහු උගත්කම අතින් හෝ අන්කිසි හේතුවක් නිසා නුසුදුස්සෙක් වී නම් ගුරු හාමුදුරුවන් තම ප්‍රධාන ගෝලයා තෝරා නම් කර නැති විට ගෝල පිරිස ඔවුනතුරෙන් ප්‍රධානියා තෝරා ගනිති.

(8) ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව අනුගමනය කරන විහාරයක පරපුර හින්නවී ගිය කල්හි විහාරස්ථානය මහා සංඝයා සතු සාංඝික වස්තුවක් බවට පත්වේ. එම පුරප්පාඩුවට කෙනෙකු පත්

කිරීමේ අයිතිය, මල්වතු හෝ අස්ගිරි පාර්ශ්වයේ මහානායක හා සංඝ සභාව සතු වන්නේය. ඉතා කුඩා විහාරස්ථාන සම්බන්ධයෙන් නම් මහා නායක ස්වාමීන්ද්‍රයෝ තනිවම පත්වීම කරති.

(9) එබඳු පත්වීමක් කළ කල්හි, අලුත් ශිෂ්‍ය පරම්පරාවක් ඇරඹුණා වන්නේ එම කොන්දේසි පිට පත් කළා නම් පමණකි. නොඑසේ කල්හි එවැන්නක් සිදුනොවේ.

කොළඹ දිස්ත්‍රික් නඩුකාර ඇප්. ආර්. ඩයස් මහතා විසින් සටහන් කර ගන්නා ලද ඉහත සඳහන් සාක්කි විස්තරය, අනතුරුව ශ්‍රේෂ්ඨාධිකරණය වෙත ඉදිරිපත් කරන ලදී.

මේ සාක්කි විග්‍රහ කර බැලීමේදී පැහැදිලි වෙන එක් කරුණක් නම් ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය ගැන අස්ගිරි- මල්වතු දෙපාර්ශ්වයේ බරපතල මතභේද පවත්නා බවය. විහාර නීතිය හා විනය නීතිය පිළිබඳ හසළ බුද්ධිමතුන් යයි සම්මත නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා මෙ ප්‍රශ්නය ගැන විවිධ මත දරණ බව මෙහිදී පැහැදිලි විය.

සරණංකර උන්නාන්සේ - ඉංදජෝති උන්නාන්සේ (20 නි.ලෝ.රි. 388) පිළිබඳ ඇපැල් නඩුවේදී මේ සාක්කි ගැන සඳහන් කළ බට්‍රම් අග්‍රවිනිශ්චයකාරතුමා මෙසේ පැවසීය:

> "ශ්‍රේෂ්ඨාධිකරණ නියෝගය පරිදි ප්‍රධාන නායක හිමිවරුන් සත්දෙනෙකුගෙන් සාක්කි විභාග කරන ලදී. සාමාන්‍ය වශයෙන්, මහණ කරනු ලැබීම ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය හිමිවීම සඳහා අත්‍යවශ්‍ය බව හැම දෙනම පිළිගනිති. ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය හිමිවීම සඳහා, මහණ කරනු ලැබීම නැති වුව ද උපසම්පද කරනු ලැබීම පමණක් ප්‍රමාණවත් යයි ඉන් හයදෙනෙක් එකඟ වෙති. එක් උගත් නාහිමි නමක් කියන්නේ උපසම්පදව නිසා පමණක් පාරම්පරික උරුමය ලැබීමට නම්, උපසම්පද කර්මයට ඉදිරිපත් කරන ආචාර්යයන් වහන්සේ, එම චේතනාවෙන්ම එය කළයුතු බවය. මේ චේතනාව, නිකායානුබද්ධ සංඝයා හමුවේ ප්‍රසිද්ධියේම ප්‍රකාශයට පත් කළ යුතු බව තවත් නාහිමි නමක් කියති. තවත් නායක ස්වාමීන් වහන්සේ කෙනෙකු කියන හැටියට, උපසම්පද - උපාධ්‍යයන්ගේ උරුමක්කාරයා විය හැක්කේ, ඒ ගුරු හාමුදුරුවන්, තමන් වහන්සේම මහණ නොකළ තවත් ගෝලයින් කිසිවෙකු නොසිටියොත් පමණකි."

ඉහතකී ධම්මරතන–සුමංගල (14 නි.ලෝ.රි. 400) නඩු තීන්දුවේ හරය වශයෙන්, එකී විශේෂඥ සාක්කි අනුව, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව පිළිබඳ සිද්ධාන්තය හැටියට පිඬුකොට ගත හැකි කරුණු මෙසේයි:

1. කිසියම් ශිෂ්‍ය භික්ෂුවක්, තම ගුරු හාමුදුරුවන් සහ තමා අධිපති පදවිය අපේක්ෂා කරන විහාරස්ථානයත් ඇතැර දැමුවහොත්, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය නොලබයි.



2. දුස්සීල බව නිසා හෝ අන් කිසියම් හේතුවක් නිසා භික්ෂුවක් සිවුරු හැරීම, ඒ භික්ෂුවගේ ගෝලයා සතුවන ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය කෙරෙහි බලපාන්නේ නැත.

3. කිසියම් විහාරයක "ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව" කඩවී ගිය කල්හි, එම විහාරය අයිති නිකායට, ඒ පුරප්පාඩුවට කෙනෙකු පත් කිරීමට බලය තිබේ. කුඩා විහාරස්ථාන විෂයෙහි නම්, නිකායේ මතු අනුමැතිය බලාපොරොත්තුවෙන්, නිකායේ මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේට තනිව පත්වීම දිය හැකිය; දිස්ත්‍රික්-නායක, පළාතේ නායක ස්වාමීන්ද්‍රයන් එසේ ක්‍රියා කළ අවස්ථා වුව ද දක්නට ලැබේ.

4. විහාරාධිපති පත් කිරීමේ අයිතිය ඇති පුද්ගලයා හෝ සංස්ථාව, එසේ පත් කිරීම දුන් කල්හි, පත් කරනු ලැබූ තැනැත්තාට ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික උරුමය අයිති නොවේ. එබඳු සාංඝික පත් කිරීමකින්, එම පත් කිරීමේදී සවිස්තරව එසේ සඳහන් නොවෙනොත්, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවක් යළි ඇරඹෙන්නේ නැත. එම පදවිය පිරවීමේ අයිතිය ඔහු ඇවෑමෙන් යළිත් නිකායටම පැවරේ.

# 6. නව අවුලක්

ධම්මරතන - සුමංගල[1] නඩු තීන්දුවෙන්, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවේ පැවැත්ම පිළිබඳ ව්‍යාකූල තැන් පැහැදිලිවම නිරාකරණය වූයේ යයි නිගමනය නොකළ යුතුය. ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව හා ඥාති පරම්පරාව අතර සම්බන්ධයත්, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවේ බේදයනුත් ගැන අස්ගිරි හා මල්වතු දෙපාර්ශ්වය අතර පැවති මත භේදය නිසා, විහාරාධිපති නඩුවලදී අනුගමනය කළ යුතු ස්ථිර චාරිත්‍රයක් හෝ පිළිවෙතක් නොවූයෙන් තමන් ඉදිරියට පත් කළ සාක්ෂි හෝ විශේෂඥ මත අනුව පිහිටා ශ්‍රේෂ්ඨාධිකරණයට ක්‍රියා කිරීමට සිදු විය. අධිකරණය හමුවට පත් කරන විශේෂඥ සාක්ෂිවල අසම්පූර්ණත්වය හෝ අංග සම්පූර්ණ සිද්ධාන්ත වශයෙන් එහි පවත්නා දුර්වලකම් නිසා හෝ ඒ මත අනුගමනය කිරීමෙන් උද්ගත විය හැකි දුෂ්කරතාවයන් එක්වරම ශ්‍රේෂ්ඨාධිකරණ විනිශ්චයකාරවරුන්ට පැහැදිලි නොවීමට එක් ප්‍රධාන හේතුවක් වූයේ, එවකට ලංකා ශ්‍රේෂ්ඨාධිකරණයේ, ඉංග්‍රීසි ජාතික, බෞද්ධ සම්ප්‍රදාය පිළිබඳ අවබෝධයෙන් ඌනවූ විනිශ්චයකාර වරුන් බහුල වීමය. සවිස්තර විශේෂඥ සාක්ෂි සටහන් කරගත් ධම්මරතන-සුමංගල නඩුවෙන් පසුව පවා මෙබඳු අවස්ථා කිහිපයක් අධිකරණය හමුවට පත්විය. ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා ක්‍රමය නව මගකට යොමු කරවන සුළු නඩු තීන්දුවක්[2] වර්ෂ 1921 දී ලංකා ශ්‍රේෂ්ඨාධිකරණය මගින් ප්‍රකාශයට පත් කරන්නට යෙදුණු නිසා, නැවත වරක් මේ ප්‍රශ්නය ගැන දීර්ඝ වශයෙන් සලකා බැලීමට සිදුවිය. විහාරාධිපතීන් වහන්සේගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා ඇවෑමෙන් ඊළඟ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට ද, ඔහු ඇවෑමෙන් ඊළඟ ජ්‍යෙෂ්ඨයාට ද වශයෙන් ගෝල පිරිස අතර, අනුශිෂ්‍ය පිළිවෙළ හෝ, ජ්‍යෙෂ්ඨතාව අනුව අධිකාරි පදවිය පැවරිය හැකි යයි ඊනිස් හා ස්නයිඩර් විනිශ්චයකාරවරු මේ නඩු තීන්දුවෙන් ප්‍රකාශ කළහ.

රතනපාල උන්නාන්සේ - කෙවිටිගල උන්නාන්සේ[3] නඩු තීන්දුවේදී පියර් අග්‍රවිනිශ්චයකාර තුමා විසින් ප්‍රකාශ කරන ලද අතුරු මතයක් මේ නිගමනය සනාථ කරන්නක් ලෙස ගෙන හැර දක්වන ලදී. ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික නීතිය, සහෝදර ගෝල නමකට වුවද අධිකාරි පදවිය ලැබිය හැකි තරම් නැමෙන සුළු නීතියකැයි පියර් අග්‍ර විනිශ්චයකාර තුමා එම නඩු තීන්දුවේ සඳහන් කළේය. වැලිගම ධම්මජෝති - වැලිගම සාරානන්ද[4] නඩු තීන්දුවේ දී

1 14 නිව් ලෝ රිපෝට්ස් 400
2 සිරිනිවාස - සාරානන්ද (1921) 22 නි.ලෝ.රි. 318
3 (1879) 9 සුප්‍රිම් කෝට් සර්කියුලර් 26
4 (1881) 5 සුප්‍රිම් කෝට් සර්කියුලර් 8



ඩයස් විනිශ්චයකාර තුමා පළ කළ තවත් මතයක් නිසා සමහර විනිශ්චයකාරවරු තවත් අවුල් ගාලක පැටළුණහ. සහෝදර ගෝල පිරිසගෙන් කෙනෙකුට වඩා අනු පිළිවෙළින් පැවතෙන ගෝල නමකට අධිකාරි පදවිය පිරි නැමීම බෙහෙවින් අනුගමනය කරන සිරිත යැයි ඩයස් විනිශ්චයකාරතුමා පැවසීය.

සරණංකර - ඉන්දජෝති[5] නඩු තීන්දුවේදී බට්‍රම් අග්‍ර විනිශ්චයකාරතුමා කළ ඇතැම් ප්‍රකාශයන් වගයක් ද මේ නව මතය බිහි කිරීමෙහිලා මූලික වූ බව කිව යුතුය. වර්ෂ 1827දී තීන්දු කරන ලද නඩුවකදී[6] මල්වතු පාර්ශ්වය වෙනුවෙන් ඉදිරිපත් කරන ලද සාක්ෂියක සඳහන් වූ කොටසක් ද මෙහිලා සඳහන් කළ යුතුය.

> "ප්‍රථම අධිකාරින් වහන්සේ ස්වකීය ගෝලයින් පස්දෙනා වෙත පොදුවේ තම අන්තිම කැමැත්ත පළ කර සිටිය කල්හි, ඔව්හු සැම දෙනම උරුමක්කාරයෝ වෙති. ඉන් එක්කෙනෙකු ප්‍රධානියා වශයෙන් තෝරා ගනු ලැබ, සෙසු හතර දෙනාද ආදයම භුක්ති විඳිති. එසේ තෝරා ගනු ලැබූ ප්‍රධානියා මිය ගිය කල්හි, ඊළඟ ජ්‍යෙෂ්ඨතාව දරණ ගෝලයා, ප්‍රධාන තැනට පත්වේ. අනික් අය සමග ආදයම භුක්ති විඳීමටත්, අන්කිසි ඕනෑම කෙනෙකුට තෑගි කිරීමටත් ඔහුට බලය තිබේ........"

සිංහල සිරිත් විරිත් අලලා ග්‍රන්ථයක් සම්පාදනය කළ වුඩ්හවුස් නම් ඉංග්‍රීසි ජාතික ලේඛකයෙක්, අධිකාරින් වහන්සේ තම ගෝල පිරිස වෙත පොදුවේ විහාරාධිපති පදවිය පැවරූවිට, "විහාරාධිපති කාරක මණ්ඩලයක්" වශයෙන් ඔවුන් එක්ව ක්‍රියා කරන බවත් සඳහන් කරයි. එහෙත් එබඳු සිරිතක් අනුගමනය කළ බවක් අන් කිසි ග්‍රන්ථයකින් හෝ අධිකරණයේ සාක්ෂි විභාගයකින් හෙළිවී නැත.



මේ ආදී විවිධ මත ප්‍රකාශය නිසා, සිරිනිවාස - සාරානන්ද[7] නඩු තීන්දුව, මෙතෙක් විනිශ්චය කරන ලද හැම නඩු තීන්දුවකට ම පටහැනි වූ සිද්ධාන්තයක් බිහි කරමින්, අලුත්ම ප්‍රතිපත්තියක් මත පදනම් වූවක් ලෙස පිළිගනු ලැබිය. දීර්ඝ කාලයක් තිස්සේ අධිකරණය අනුගමනය කළ සිරිත් වලින් බැහැර වෙමින්, අනාගතයේදී විශාල අවුල් රැසකට තුඩු දිය හැකි මේ නඩු තීන්දුව, ප්‍රතික්ෂේප කොට, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව පැවතෙන ක්‍රමය යළිත් පැහැදිලි කිරීම සඳහා ලංකා ශ්‍රේෂ්ඨාධිකරණය දැරූ තවත් තැතක්, ගුණානන්ද - දේවරක්ඛිත[8] නඩු තීන්දුවෙන් පිළිබිඹු වන්නේය. බට්‍රම් අග්‍රවිනිශ්චයකාරතුමා ප්‍රමුඛ ස්නයිඩර් හා ජයවර්ධන යන විනිශ්චයකාරවරුන්ගෙන් යුත් රජ තුන් කට්ටුවක් විභාග කළ මේ ඇපෑලේ අතීත කතාව මෙසේයි:

5 20 නිව් ලෝ රිපෝට්ස් 385
6 දන්තුරේ උන්නාන්සේ - ලංකාණ්ඩුව (වැන්ජුර්ස්ට්‍රාටන් වාර්තා අධෝ ලිපි Xii) වුඩ් හවුස් පැම්ප්ලට් - 30 වෙනි පිටුව
7 (1921) 22 නි.ලෝ.රි. 318
8 26 නි.ලෝ.රි. 257

''සිරිනිවාස—සාරානන්ද නඩු තීන්දුව තනි වූ නඩු තීන්දුවකි එහි පදනම් වූ සිද්ධාන්තය සනාථ කිරීමට වෙනත් අවස්ථා සොයා ගත හැකි නොවේ. එය, එම වචනයේම අර්ථයට නො ගැලපේ. එබඳු සිද්ධාන්තයක් පිළිගැනීම මහ අවුලකට මුල් විය හැකිය. සහෝදර ශිෂ්‍යයින්ගේ අන්තිමයා මිය ගිය කල්හි, අධිකාරී පදවියට පත් වන්නේ කවුද? විහාරාධිපති වශයෙන් තෝරා ගත යුත්තේ, හැම සහෝදර ශිෂ්‍යයින්ගේ ගෝලයින් අතුරින් කෙනෙක් ද, නැත්නම්, අවසානවරට අධිපති ධුරය දරූ ගෝලයාගේ ගෝලයින් අතුරින් කෙනෙක් ද? ඔප්පුවක් මාර්ගයෙන් කිහිප දෙනෙකුන් පත් කරන ලද අවස්ථා වලදී, අන්තිම විහාරාධිපති තැනගේ ශිෂ්‍යයා අධිකාරී පදවියට පත් විය යුතු යයි පිළිගත් චාරිත්‍රයක් වෙයි. එහෙත්, ඔප්පු තිරප්පුවක් නැති කල්හි, අනු-ගමනය කළ යුතු චාරිත්‍රයක් නැත. අනික් අතින් බ න විට ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා ඇවෑමෙන් ඔහුගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට අනු පිළිවෙළින් විහාරාධිපති පදවිය හිමි කෙරෙන චාරිත්‍රය, කිසියම් ස්ථිරත්වයක් ඇති කරයි. වර්ෂ 1874 පටන් මේ අධිකරණය මගින් එළඹී තීන්දු අනුව, විහාරාධිපති කෙනෙකුට සහෝදර භික්ෂූන් සිටිය ද, ඔහුගේ ශිෂ්‍යයාට අධිපති පදවියට පත්වීමේ අයිතිය පැහැදිලි වම පිළිගෙන අ ති බව මගේ හැඟීමයි. මේ අයිතිය කෙතරම් දුරට මුල් බැස ගෙන තිබේද යත්, විහාරාධිපති ගේ සහෝදර භික්ෂුවක් (එම පදවියට) නම් කිරීමෙන් එය ඉවත් කළ හැකි නොවේ.''

අනතුරුව, මේ තීන්දු වලින් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව පිළිබඳව පිළිගත් චාරිත්‍ර මෙයයි ජ. වර්ධන විනිශ්චයකාරතුමා, කරුණු සම්පිණ්ඩනය කර දක්විය. ඒ නිගමනා න් උපුටාගත්නාවූ තීන්දු, වැඩිදුර කරුණු සොයා බැලීමට කැමති පාඨකයින්ගේ පහසුව සඳහා, සිද්ධාන්තය අගින් යොදා ඇත.)

1. විහාරාධිපති පදවිය පිළිබඳ උරුමය, මුල් පත්‍රයේ අඩංගු කරුණු අනුව පවතින්නකි.

සංඝරතන – වීරසේකර (6 නි. ලෝ. රි 313); ධර්මපාල මැදගම සුමන (2සිලෝන් ලෝ රෙකොඩර් 83); උන්නාන්සේ—උන්නාන්සේ (22 නි.ලෝ. රි. 323).

2. මුල් පූජා පත්‍රයෙන්, මේ උරුම ක්‍රමය පැහැදිලි නොවේ නම්, එය ශිෂ්‍යානුශිෂ්‍ය ක්‍රමය වශයෙන් පිළිගනු ලැබේ. සිවුරු (ඤාති ශිෂ්‍ය) පරම්පරා ක්‍රමය පවා බැහැර කළ යුතුය. විහාරය පූජා කළ දයකකාරකාදීන්ට එය පාලනය පිළිබඳ අයිතියක් නැතිව යන්නේ ය.

රතනපාල – කෙවිටිගල (1879) 2 සුප්‍රිම්කෝර්ට් සර්කියුලර් 26
වැලිගම ධම්මජෝති - වැලිගම සාරානන්ද (1881) 5 සුප්‍රිම්කෝර්ට් සර්කියුලර් 8

ධර්මපාල උන්නාන්සේ—මැදගම සුමන උන්නාන්සේ (1910) 2 සිලෝන් ලෝ රෙකෝඩර් 83
උන්නාන්සේ—උන්නාන්සේ (1921 22 නි.ලෝ.රි. 323)



3. උරුම ක්‍රමය පිළිබඳ සාමාන්‍ය නීතිය, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා ක්‍රමයයි.

ධම්මජෝති—සෝභිත (16 නි.ලෝ.රි.408)

4. ශිෂ්‍යයින් කීප දෙනෙකු ඇති උපාධ්‍යාය නමක් අපවත් වූ විට, උන් වහන්සේගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා, පුරප්පාඩු වූ විහාරාධිපති පදවියට පත්වේ. අධිපති කවරේදැයි තෝරා ගැනීමේ කාර්යය, ශිෂ්‍ය පිරිස වෙත පැවරේ, ඇතැම් විට ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා ගේ අයිතිය නොසලකා හරිනු ලැබේ.

(සරණංකර—ඉන්දජෝති (20 නි. ලෝ.රි.388)

5. තම ශිෂ්‍යයින් අතුරින් කෙනෙකු විහාරාධිපති වශයෙන් නම් කිරීමට විහාරාධිපතිට බලය තිබේ. එසේ නම් කළ ශිෂ්‍යයා කණිෂ්ඨ ශිෂ්‍යයකු නම්, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා බැහැර කොට ඔහු (කණිෂ්ඨ ශිෂ්‍යයා) අධිපති පදවියට පත් වේ.

වැන්ඩස්ට්‍රාටන් අධෝලිපි
සුමංගල – සෝභිත (1883) 5. සුප්‍රිම්කෝර්ට් සර්කියුලර් 235
රවල උන්නාන්සේ – රත්න ජෝති උන්නාන්සේ (1916) 3 සිලෝන් වීක්ලි රෙකෝඩර් 193

6. අන්තිම කැමති පත්‍රයක් හෝ ඔප්පුවක් මාර්ගයෙන්, එක ශිෂ්‍යයෙකුට වැඩි සංඛ්‍යාවක් තමා ඇවෑමෙන් විහාරාධිපති පදවියට පත් විය යුතු යයි නම් කිරීමට විහාරාධිපතීන් වහන්සේට පුළුවන. එසේ කල්හි, ඔවුන් සම-අධි-කාරීන් වශයෙන් නම් කරනු ලැබුව ද, අධිකාරී පදවියට පත්වන්නේ ජ්‍යෙෂ්-ඨත්වය අනුවය. අන්තිම වශයෙන් පත්වෙන ශිෂ්‍යයාට තමන්ගේ ගෝලයෙකු (ඒ පදවියට) පත් කළ හැකි ය. එබඳු පත් කිරීමක් නැති කල්හි සිටි විහාරාධි පතීන් වහන්සේලාගේ ශිෂ්‍යයින් බැහැර කොට, අන්තිම විහාරාධිපතිගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා එම පදවියට පත් වේ.

7. විහාරාධිපති භික්ෂුවකට, ඔප්පුවක් හෝ අන්තිම කැමති පත්‍රයක් මාර්ගයෙන් සහෝදර භික්ෂුවක් හෝ අ ගන්තුකයෙකු පත් කිරීමෙන්, තම ශිෂ්‍යයින් විහාරාධිපති පදවියට පත්වීමේ අයිතිය ප්‍රතික්ෂේප කළ නොහැකි ය.

ධම්මජෝති - සෝභිත (1913) 16 නි.ලෝ.රි. 408
ඉන්දජෝති - රත්නජෝති (1915) 4 බාලසිංහම් වාර්තා 39.

8. ගෝලයින් කිසිකෙනෙකු නැති විහාරාධිපති කෙනෙකු මිය ගිය විට පමණක්, උන්වහන්සේගේ සහෝදර - භික්ෂුවට විහාරාධිපති පදවියට පත්විය හැකි ය.

පොල්වත්තේ ජිනානන්ද තෙරුන්නාන්සේ, කුරුණෑගල දි.උ. 19413
ධම්මජෝති - පරණතලේ උන්නාන්සේ (1818) 4 සුප්‍රිම්කෝර්ට්-සර්කියුලර් 121.

එහෙත්, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවට සම්බන්ධ නැත්නම්, සහෝදර භික්ෂුව-කට මෙසේ විහාරාධිපති පදවියට පත් විය නොහැකිය.

සුමන තෙරුන්නාන්සේ - කන්දප්පුහාමි (1938) සිලෝන් ලෝ රෙකෝඩර් 14.

9. විහාරාධිපති පදවියට පත්වීමට අයිතිය ඇති ගෝලයෙකු හෝ සහෝදර භික්ෂුවක නැති විහාරාධිපති කෙනෙකු මිය ගිය විට, උන්නාන්සේගේ ගුරු හාමුදුරුවන්ට හෝ එම විහාරයේ අධිපති පරම්පරාව හා සම්බන්ධව කිසියම් භික්ෂුවකට එම පදවියට පත් විය හැකි ය.

වැන්ඩස්ට්‍රාටන් වාර්තා - අධෝලිපි.
වැලිගම ධම්මජෝති - වැලිගම සාරානන්ද (1881) 5 සුප්‍රීම්කෝට් සර්කියුලර් 8.

10. මුල් විහාරාධිපති ගේ පටන් ශිෂ්‍ය-අනුශිෂ්‍ය වශයෙන් පැවතෙන පරම්පරාවේ අන්තිමයා මිය ගිය විට, එම පරම්පරාව අහෝසිව, උරුමක් කාරයෙකු නැතිව යන්නේ ය. එවිට විහාරය සංඝයා සතුවේ. එක් මතයක් අනුව, අපවත් වූ විහාරාධිපති භික්ෂුව මරණ මංචකයෙහි වැදමත් වේලේ එහි රැස් වූ මහා සංඝයා වෙත විහාරය පැවරේ. එසේ නැත්නම්, මල්වතු හෝ අස්ගිරි පාර්ශවයේ මහානායක හිමිවරුන් විසින් කරන පත්කිරීමකට යටත්ව හැම උපසපන් භික්ෂුවක් සතු වේ.

සුමන තෙරුන්නාන්සේ - කන්දප්පුහාමි (1898) 3 සිලෝන් ලෝ රෙකෝඩර් 14.
ධම්මරතන උන්නාන්සේ - සුමංගල උන්නාන්සේ (1910) 14 නි.ලෝ.රි. 400
ධර්මපාල උන්නාන්සේ - සුමණ උන්නාන්සේ (1910) 2 සිලෝන් ලෝ රෙකෝඩර් 83.

11. කලක් විහාරාධිපති පදවිය දැරූ භික්ෂුවකගේ ගෝලයෝ හැම දෙනාත් ඒ ගෝලයින් ගේ ගෝලයෝත්, විහාරයේ නේවාසිකව, එහි ආදායමින් යැපීමට අයිතිය ඇත්තෝ ය.

සරණංකර - ඉන්දජෝති (1918) 20 නි.ලෝ.රි. 385
සිරිනිවාස - සාරානන්ද (1921) 22 නි. ලෝ.රි. 318

මේ නිගමනයන් කුමක් වුව ද, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමයේ නියම අර්ථය සහ පදයන්හි පරිසමාප්ත අර්ථය ද වටහා ගෙන තීන්දු කරන ලද එකම නඩුව හැටියට සිරිනිවාස-සාරානන්ද නඩුව ඉතිහාස ගතවන බව කිය යුතු ය.






# 7. අරුම පුදුම චෝදනා

විහාරාධිපති ආරාවුල් නිසා සංඝ සමාජයේ බලවත් පරිහාණියක් සිදුවී ඇති බව දිනපතා සිවිල් උසාවි වල පැන නගින නඩුහබ වලිනුත්, පැරණි නීති ග්‍රන්ථයන්හි ඇතුළත් නඩු වාර්තා වලිනුත් පෙනේ. විහාරයක් සතු දේපළ භුක්ති විඳීමටත්, එහි අධිපති පදවිය දැරීමටත් පවත්නා තරඟය හා බලවත් ආසාව නිසා, සහෝදර භික්ෂූන් වහන්සේලා අතර හටගන්නා ආරාවුල් හැ මත භේද, උග්‍ර අවස්ථාවකට එළඹ, ඔවුනොවුන් කෙරෙහි අශිෂ්ඨ අශ්ලීල හා දුස්සිල චෝදනානගන ලද අවස්ථා ද නීති වාර්තා ග්‍රන්ථයන්හි දක්නා ලැබේ. මේ නිසා, සංඝ සමාජය තුළ පැතිර යන පිරිහීමත්, ගිහියන් අතර කෙමෙන් මුල් බැසගන්නා කලු කිරීමත්, බුද්ධාගමේ දියුණුවට හා පැවැත්මට මහත් බාධාවකි.

විහාරාධිපති නඩුහබවල දී දෙපක්ෂය ඔවුනොවුන් වෙත නගන අභූත චෝදනා මහජනයා අතර පැතිර යා නොදී, සංඝ සමාජයට පමණක් වත් එය සීමා කරන විදියක් පිළියෙළ කළ යුතුව තිබේ. සංඝයාගේ පිරිහීමක් වේනොත් එය ගිහියන්ගෙන් රහසක්ව තබාගත යුතු යයි මෙයින් අදහස් නොවේ. අනවශ්‍ය, ඇතැම් විට අශෝභන යයි කිය හැකි - කරුණු සීමාවක් නැතිව මහජනයා අතර කතාබහට පත්වන්නට ඉඩ හැරීම, ජනසමාජයේ සුචරිත වර්ධනයට පවා හානි කර ය. මහා සංඝ සබාවක් මගින් පත් කරන සංඝාධි කරණය වැනි සංස්ථාවක අවශ්‍යතාව පැහැදිලි වන්නේ මෙහිදී ය.

මීට අවුරුදු 50 කට පමණ පෙර, කැලණි විහාරයේ අධිපති පදවිය ගැන හටගත් ආරාවුලක් පිළිබඳ නඩුවක් විභාගයේ දී මහා සංඝ සබාව ගැන අධිකරණය ස්වකීය මතය ගෙනහැර දැක්විය. ඇපැලේ දී ද අනුමත වූ දිස්ත්‍රික් නඩුකාර ඇෆ්. ආර්. ඩයස් මහතා දුන් දිස්ත්‍රික් උසාවියේ තීන්දුව විස්තර වශයෙන් මෙසේයි.[1]

"මෙම නඩුවේ පැමිණිලිකාර සුමංගල ස්වාමීන් වහන්සේ, තමන් සතු යයි කියන කැලණි විහාරාධිපති පදවියට පත්විය නොදී 1 වෙනි හා 2 වෙනි විත්තිකරුවන් නීති විරෝධී ලෙස එම විහාරයේ ආදායම භුක්ති විඳිනා බවත්, 3 වෙනි විත්තිකරු, තමාගේ සහෝදර භික්ෂුවක් බැවින් සම-විහාරාධිපති වශයෙන් අධිකාරි පදවියෙන් භාගයකට හිමිකාරයා වුවද, පැමිණිල්ල සමඟ ක්‍රියා කිරීමට බැරියයි කිහෙයින් විත්ති පක්ෂයට ඇදා ඇති බවක් පවසති.

1 සුමංගල - ධම්මරක්ඛිත. කොළඹ දි. උ. 23,308.

''මෙම නඩුවේ තීන්දුව, මුළු බෞද්ධ ජනතාව කෙරෙහි ම බලපවත්වන සිද්ධියක් වන්නේ ය. එහෙයින්, එය විසඳීමට උත්සාහ කරන්නේ බලවත් වගකීමක් ගැන හැඟීමෙන් යුතුවය. මේ භික්ෂූන් වහන්සේලා තමන්ගේ ආරාවුල් සියල්ල සංඝ සභාවක් මගින් විසඳා ගත්තා නම්, මේ විදියට උසාවියට පැමිණෙනවාට වඩා බොහොම හොඳ බව කිය හැකියි.

''නඩු තීන්දුව රඳා පවත්නේ, මහනුවර මල්වතු විහාරයේ තැන්පත් කොට ඇති ලේකම් මිටියේ සඳහන් ඇතැම් කරුණු වගයක් විශ්වාස කළ යුතු ද නැද්ද යන ප්‍රශ්නය මත ය. උසාවියකට වඩා සංඝ සභාවක් විසින් ම තීන්දු කිරීමට මෙය ඉතා සුදුසු කාරණයක් බව පෙනේ. එහෙත්, මේ ප්‍රශ්නය ගැන සංඝයා අතර පවත්නා මත භේදය නිසා, එය එසේ කළ නොහැකි වූවා විය හැකියි.

''මේ ප්‍රශ්නය වඩා හොඳින් තේරුම් ගැනීමට නම්, කැලණි විහාරයේ හා එහි අධිපතිවරුන් පිළිබඳ ඉතිහාසය සැකෙවින් සඳහන් කළ යුතු ය. කැළණි විහාරය, ලංකාවේ බෞද්ධ සිද්ධස්ථාන අතුරින් ඉතා වැදගත් වූත්, ගරු කොට සලකන්නාවූත් ස්ථානයක් බව කවුරුත් දන්නා කාරණයකි. එම විහාරය ප්‍රතිසංස්කරණය කරන ලද්දේ, වර්ෂ 1779 දී කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමා විසින් විශාල ධනයක් වියදම් කිරීමෙනි. එම විහාරස්ථානය, රාජකීය සන්නසක් මාර්ගයෙන් මාපිටිගම බුද්ධරක්ඛිත ස්වාමීන් වහන්සේට හා උන්වහන්සේගේ ශිෂ්‍ය පරම්පරාවට අවිච්ඡින්න උරුමය හිමිකර පවරා දී තිබේ.

''වර්ෂ 1858 දී, විහාරයේ අධිපති භික්ෂුව වූයේ මාපිටිගම සංඝරක්ඛිත ස්වාමීන් වහන්සේය. උන්වහන්සේ, තම ශිෂ්‍යයන් වූ දෙම්පෙ බුද්ධ රක්ඛිත හා මාපිටිගම ධම්මරක්ඛිත (1 වෙනි විත්තිකාර) ස්වාමීන් වහන්සේලා දෙදෙනාට මේ විහාරය පොදුවේ පවරා තිබේ. ආචාර්යවරයා ඇවෑමෙන්, ශිෂ්‍යයෝ දෙදෙනා, විහාරයේ ආදායම සමසේ පරිහරණය කළහ. 1903 ජනවාරි මස දෙම්පේ හාමුදුරුවන් අපවත් වූ පසු විහාරයේ ආරාවුල් හට ගත්තේ ය.

''විහාරයේ පදිංචිව අධිපති ධුරය උසුලන්නෝ 1 වෙනි හා 2 වෙනි විත්තිකාරයෝ ය. පැමිණිලි කාර කන්දෙඹලුවේ හමුදුරුවන්, දෙම්පෙ හාමුදුරුවන්ගේ ගෝලයෙකු නොවන බවත්, 3 වෙනි විත්තිකරු, දෙම්පෙ හාමුදුරුවන්ගේ කණිෂ්ඨ ගෝලයෙකු වුවද, විහාරාධිපති පදවියට පත්වීමට ඔහුට අයිතියක් ලැබෙන්නේ දෙම්පෙ හාමුදුරුවන්ට ජ්‍යෙෂ්ඨ ගෝලයෙකු නැත්නම් පමණක් බවත්, 1 වෙනි 2 වෙනි විත්තිකාරයෝ පවසති.

''1 වෙනි විත්තිකරු, සංඝරක්ඛිත හාමුදුරුවන්ගේ ගෝලයෙකු වශයෙන් විහාරයේ විසීමේ අයිතිය ගැන පැමිණිලිකරුගේ විරෝධයක් නැතත්, 2 වෙනි විත්තිකාරයාට එබඳු කිසිම අයිතියක් නැතැයි පැමිණිලිකරු කියයි.

''ඇත්ත වශයෙන්, විහාරයේ අධිපති හැටියට ක්‍රියා කරන්නේ 2 වෙනි විත්තිකරු පමණකි. අවුරුදු කිහිපයකට පෙර 1 වෙනි විත්තිකරු විසින් පවරන ලද ඔප්පුවක් මගින් හා තමාගේ උරුම අයිතිය ද පිට, තමා විහාරාධිපති පදවිය දරන බව 2 වෙනි විත්තිකරු කියයි. 1 වෙනි විත්තිකරු දැන්



වයස් ගත දුබල තත්වයක පසුවේ. 1887 දී, දෙම්පෙ හාමුදුරුවන්ගේ හා 1 වෙනි විත්තිකාරයාගේ ගෝලයෙකු වශයෙන් උපසම්පදවක් ලත් තැනැත්තා හැටියට 2 වෙනි විත්තිකරු, ඔවුන්ගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා බව කියා සිටී. මේ බව ඇත්තනම් 1896 දී උපසම්පදව ලත් පැමිණිලිකරුගේ හා 3 වෙනි විත්තිකරුගේ ප්‍රකාශය අවශ්‍යයෙන් ම අනාථ වන්නේ ය. මහා නායකවරුන් ළඟ ඇති ලේකම් මිටියෙන් 2 වෙනි විත්තිකරු කියන කතාව ඔප්පු වේ. මේ ලේකම් මිටියේ සඳහන, හොර ලියවිල්ලකැයි චෝදනාවකි. දැන් විසඳිය යුත්තේ එය හොර ලියවිල්ලක් ද නැද්ද යන වගයි.

''ලේකම් මිටියේ සඳහන බොරු කිරීමට සාක්ෂි රාශියක් ඉදිරිපත් කර තිබේ. එහෙත් ආරම්භයේදීම කිය යුත්තේ, මේ සඳහන හොර ලියවිල්ලකැයි ඔප්පු කිරීමට පැමිණිලිකරු අපොහොසත් වූ බව ය.

''මේ ලේකම් මිටිය, නූලකින් එකට අමුනන ලද තල්පත් දහසකින් පමණ යුක්ත වේ. පසුගිය අවුරුදු 27 ක් පමණ කාලය තුළ මල්වතු විහාරයේදී උපසපන් බව ලැබූ භික්ෂූන්ගේ නාමලේඛනයන් එහි ඇතුළත්ය. 1887 සිට අවුරුදු පහක තල්පත්, මේ මිටියෙන් ඉවත්කොට, ඒවෙනුවට, බොරු සඳහනක් සහිත හොර තල්පත් අමුනා, දෙවෙනි විත්තිකරුගේ උපාධ්‍යායයන් හැටියට දෙම්පෙ හාමුදුරුවන් ගැන සඳහන් කර ඇතැයි චෝදනා කර තිබේ. පුස්කොල පොතකට අලුතින් තීරුපත් එක් කිරීම අමාරු කාරණයක් නොවේ. හුදු සැකය පිට නොව, අව්‍යාකූල සාක්ෂි නැත්නම්, යථා පරිදි සුරක්ෂිත කරන ලද ලියවිල්ලක් හොර ලියවිල්ලකැයි නිගමනය කිරීමට හේතුවක් නැත. මෙය ඉතා බරපතළ කාරණයකි. මල්වතු විහාරයේ ලේකම් මිටිය වැනි වැදගත් ලේඛනයක් ගැන පහසු වෙන් සැක පහළ කිරීම කනගාටුදායක කරුණකි. ඒ ලේකම් මිටිය, මහානායක ස්වාමීන්ද්‍රයන් භාරයේ පවතින්නකි. උන්වහන්සේ ඇවෑමෙන් ඊළඟ මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේට එය භාර දෙනු ලැබේ. දැන් එය ඉදිරිපත් කර ඇත්තේ, සිද්ධාර්ථ සුමංගල නායක හිමියන් විසිනි. මේ නායක ස්වාමීන්ද්‍රයෝත්, ශ්‍රී පාදස්ථානයේ නායක හික්කඩුවේ සුමංගල ස්වාමීන්ද්‍රයෝත්, ඒ ලේඛන මිටියේ ඉහත කී සඳහන හොර සඳහනකැයි චෝදනා කරති. මේ දෙදෙනාම, බෞද්ධයින් අතර ඉතා ගෞරවයෙන් සලකනු ලබන බව සැබෑය. එහෙත් උන්වහන්සේලා ගේ මතය හරියයි, නැත්නම් යුක්ති යුක්තයයි, පෙන්වන සාක්ෂි කිසිවක් නැති කල්හි, නිකම් ආවට ගියාට උන්වහන්සේලා කරන ප්‍රකාශය තීරණාත්මක ලෙස උසාවියක් මගින් පිළිගත හැකිදැයි මට කිය නොහැකි ය . . . .''

මේ බරපතළ චෝදනාව නගමින්, මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා දෙනමක් ඉදිරිපත් කළ කරුණු සම්පිණ්ඩනය කර දක්වන නඩුකාරතුමා, සාක්ෂි විභාගයේ දී උසාවියේ පවතින්නට ඇති කනගාටුදායක තත්වයක් අප හමුවේ චිත්‍රයට නඟා පෙන්වයි.

''........මේ තීරු පත් පහ හොර තීරු යයි චෝදනා කිරීමට ගෙනහැර පෑ සාක්ෂි මෙසේයි: එම පත්වලට පෙරත්, පසුවත් ඇති තල්පත්වල ප්‍රමාණයත්, වර්ණයත්, මේ කොළ පහ හා සමාන නොවේ.

''එහි අත් අකුරු මුලින් ඇති පත්වල අකුරු වලට වඩා වෙනස් ය. එහි අකුරු ලියා ඇත්තේ ඉක්මණටය, නොසැලකිලිමත්වය. සමහර සඳහනක් (අංක 41) ලියවිල්ලට ඇතුළත් කර නැත. එයින් පැහැදිලි වන්නේ, හොර ලියවිල්ල ලියූ අය කෙතරම් හදිස්සියට එය කළා ද යන වග ය...... ........

''මේ චෝදනා ඉදිරිපත් කළ සාක්කිකරුවනම, හරස් ප්‍රශ්නවලට පිළිතුරු දීමේ දී ඒ චෝදනා සහමුලින් ම බිඳ දැමූ බව පෙනේ. තල්පත් වල පාට, තරම, හැඩහුරුකම ආදිය ගැන භික්කවුවේ හාමුදුරුවන්ම ගෙන හැර පෑ කරුණු, තමන් සත්‍යයයි නිවැරදියයි පිළිගන්නා අනික් පුස්කොළ ඉරුවලත් එපරිද්දෙන්ම දක්නට ලැබෙන බව උන්වහන්සේම පිළිගත්හ. මඩුගල්ලේ සිද්ධාර්ථ හාමුදුරුවන්ගෙන් ලබාගත් පිළිතුරක් මෙහිලා විශේෂයෙන් සඳහන් කළ යුතු ය. මඩුගල්ලේ හාමුදුරුවෝ පැමිණිල්ලේ විශේෂඥ සාක්කි කරුවෙකි. මේ නඩු විභාගය සඳහා උන්වහන්සේ මේ ලේකම් මිටිය විශේෂයෙන් පරික්ෂා කර බලා තිබේ. අකුරු වැරැද්දීම නිසා පමණක්; මේ කියන තල්පත් පහ තමා ප්‍රතික්ෂේප නොකරන බව මඩුගල්ලේ හාමුදුරුවෝ අවංකව පිළිගනිති. ඇයි? නියම පුස්කොළ පත්වලත්, නොසැලකිල්ල නිසා එබඳුම වැරදි දක්නට ලැබෙන හෙයිනි. නඩු විභාගයේ දී, 1889 පටන් ලියන ලද සියලු පත් පරික්ෂා කර බැලූ මේ සාක්කිකරුට, ඒවායේ අකුරු වැරදි දක්නට ලැබිණ. ලේකම් මිටියේ තැනින් තැන, මේ කියන පත් පහට පෙරත්, පසුවත්, ඒවා වර්ණයෙන්, ප්‍රමාණයෙන් හා දිගින් වෙනස් වූ නියම පුස්කොළ පත් ඇති බවද උන්වහන්සේ පිළිගනිති. අංක 41 සඳහන අත්හරින ලදැයි කියන චෝදනාව ද හේතු රහිත ය. උප ග්‍රන්ථයේ සඳහන් අංක, උපසම්පදාව සඳහා ඉදිරිපත් කරන සාමනේර ලැයිස්තුවක් මිස, උපසම්පදාව ලත් භික්ෂූන්ගේ නාම ලේඛනයක් නොවන හෙයිනි. නමක් එවා එය උපග්‍රන්ථයෙහි ලියා සටහන් කළායින් පසු, කිසියම් අනපේක්ෂිත හේතුවක් නිසා උන්වහන්සේ උපසම්පදාව සඳහා ඉදිරිපත් නොවීමට ඉඩ තිබේ. උපග්‍රන්ථයේ සඳහන් අංක ඒ පිළිවෙළින්ම ලේකම් මිටියේ ද සඳහන් නොවන බවද පිළිගෙන ඇත්තේ ය.........

''ලේකම් මිටියේ නම් සඳහන් වන්නේ මෙසේයි. සාමනේර කෙනෙකු උපසම්පද කර්මය සඳහා ඉදිරිපත් කරත්ම, ඔහුගේ හා ඔහුගේ උපාධ්‍යායන්ගේ නම්ද, උපසපන් බව ලබන දිනය හා වේලාව ද වෙනම තල්පතක සටහන් කරනු ලැබේ. උපසම්පද උත්සව පවත්වන්නේ අවුරුද්දේ වස්සාන කාලයේ පමණකි. මාසයක් පමණ තිස්සේ පවත්නා මේ උත්සව වල දී, උපසම්පදාව ලත් අය පිළිබඳ විස්තර සඳහන් තල්පත් රැස්කොට ඒවා ලේකම් මිටියට පිටපත් කිරීම සඳහා, නායක හාමුදුරුවෝ තල්පත් ලියන්නෙකුට බාර දෙති. මෙය, උපසම්පද උත්සව අවසානයේ දීම සිදුකෙරෙන්නක් නොව, හයමසකට වරක් හෝ, ඇතැම්විට අවුරුදු දෙකකට හෝ තුනකට වරක් බැගින් සිදු කෙරෙන්නකි. හාමුදුරු කෙනෙකු වගන්තිය කියවන අතර, ලියන්නා එය පිටපත් කරයි. මේ ලියන්නා, සිංහල අක්ෂර විද්‍යාව හොඳින් උගතෙකු නොවේ. එහෙයින් මේ සඳහනක අව්‍යක්ත අක්ෂර දෝෂාදිය දක්නට ලැබීම අපට තේරුම් ගත හැකි ය. අවුරුදු පතා මේ සඳහන් ලකුණු කිරීම එකම



ලියන්නකු විසින් සිදු නොකෙරෙන බැවින් ලේකම් මිටියේ විවිධ පිටුවල විවිධ අත් අකුරු දක්නට ලැබීම ද අපට තේරුම් ගත හැකි ය.

''පැමිණිලිකරුගේ සාක්කිකරුවන් විසින්ම පිළිගන්නා ලද මේ කරුණු නිසා, එකී තල්පත ගැන සැකයක් පවා ඉපදවීමට පැමිණිලිකරු සමත්වී ඇත්දැයි මට කිය නොහැකි ය. එම ලේකම් මිටිය, විහාරයේ රාජකාරි ලේඛනයකි. එය දැන් ඉදිරිපත් කර ඇත්තේ නියමිත තැනක සුරක්ෂිත වූ ලේඛනයක් හැටියට ය. උසාවිය ඉදිරියේ මෙහෙයවන ලද කිසිම සාක්කියකින් මේ විශ්වාසය බිඳී ගොස් නැත.........

''මේ නඩු විභාගයේ දී හෙළිදරව් වූ කරුණක් නම්, දෙවෙනි විත්තිකරු අශිෂ්ට චරිතයක් ඇති, කැලණි විහාරාධිපති වශයෙන් තබා, සාමාන්‍ය භික්ෂුවක් වශයෙන් වත් නොපිළිගත යුතු පුද්ගලයෙකු හැටියට තම නිකායේ නායක මහා සංඝයා විසින් පිළිකුල් සහගතව සලකන්නෙක් බවය. ඔහු හොර අත්සන් හා ලියකියවිලි තබන්නෙකි; ශ්‍රේෂ්ඨාධිකරණය විසින් එබඳු චෝදනාවක් පිට විභාග කරනු ලැබූවෙකි, පොලිස් උසාවිය හමුවේ, හරක් හොරෙකු හැටියට පෙනී සිටියෙකැයි, ආදී චෝදනා ඔහුට විරුද්ධව නගන ලදී. මේ චෝදනා තරමක් දුර සාධාරණය. ඔහු වරදකරුවෙකු හැටියට විනිශ්චය කරනු නොලැබුව ද ඔහු මේ වැරදි කළා විය හැකිය. එහෙත් මේ උසාවිය සම්බන්ධයෙන් කිය යුත්තේ, එය හමුවේ පවත්නා කාරණය විසඳීමෙහි ලා, ඔහුගේ චරිතය කිසිසේත් සැලකිල්ලට ගත හැකි කරුණක් නොවන බවය. මිනිසකුගේ නරක චරිතය නිසා ඔහුගේ සිවිල් අයිතිවාසිකම් වලට ඔහු අහිමි නොවේ. බෞද්ධ භික්ෂුවක් නරක චරිතයෙන් යුක්ත නම්, ඔහු කිසියම් පදවියක් දැරීමට නුසුදුසු නම්, මහා සංඝයා හෝ දායකකාරකාදීන් ඒ සඳහා වෙනත් අයුරින් ක්‍රියාකොට, ඔහු පදවි වලින් බැහැර කළ යුතුය.

''ඒ නිසා, 2 වෙනි විත්තිකරුට විරුද්ධව සාක්කිදුන් මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා, ඇතැම් විට තමන් නොදැනුවත්වම, මේ භික්ෂුවගේ චරිතය පිළිබඳ තොරතුරු නිසා ඔහු ගැන සිත් අමනාප වූ අය බව පෙනේ ......''

පැමිණිල්ලේ කතාව නොවිය හැක්කක් වා පමණක් නොව, 2 වෙනි විත්තිකරු විසින් ඉදිරිපත් කරන ලද ඉතා බලසම්පන්න සාක්කි අනුව, වර්ෂ 1887 දී තමා උපසම්පදාව ලත් බවත්, දෙම්පෙ හා මාපිටිගම දෙදෙනාගේ ම සම ගෝලයා බවත් පිළිගත් විනිශ්චයකාරතුමා, මහා සංඝ සභාවේ තීරණය පිළිබඳව උසාවියේ අදහස දැක්විය.

මල්වතු පාර්ශ්වයේ මහා සංඝ සභාව මගින් 1904 දී දෙන ලද තීන්දුවක් අනුව, පැමිණිලිකාර හාමුදුරුවන්, විත්තිකාරයින් යමඟ කැළණි විහාරයේ සම-විහාරාධිපතීන් හැටියට සැලකිය යුතු යයි ද, 2 වෙනි විත්තිකරු ඒ තීන්දුවෙන් බැඳී සිටියයි ද පැමිණිල්ල කියා සිටියේය. මේ මතය සහමුලින්ම ප්‍රතික්ෂේප කළ දිස්ත්‍රික් නඩුකාරතුමා, ඊට හේතුන් දෙකක් දැක්විය.

1. එය, උසාවියක් හමුවේ, නඩු පැවරීමට බාධකයක් හැටියට ගෙන හැර පෑහැකි, පිළිගත් අධිකරණ මංඩලයක තීරණයක් නොවේ.

2. එය, 2 වෙනි විත්තිකරු වෙත බලයෙන් ප්‍රකාශ කරන ලද අනියම් තීන්දුවකි. තමාගේ හොඳම සාක්කිය වූ ලේකම් මිටිය ඉදිරිපත් කිරීමට පවා ඉඩ නොදී, මේ තීන්දුවට එළඹ, එය පළකළ විගසම, 2 වෙනි විත්තිකරු එය නොපිළි ගන්නා බව කියා සිටියේ ය.''

1903 දී, දෙඹපෙ හාමුදුරුවන් අපවත් වූ පසු, විහාරාධිපති පදවිය ගැන ආරාවුලක් හට ගත්තේ ය. මේ ආරාවුල බේරා ගැනීමට එය මල්වත්තේ මහා සංඝ සභාව වෙත ඉදිරිපත් කරන ලදී. 1903 නොවැම්බර් මස රැස් වූ සංඝ සභාව, පැමිණිල්ල විභාග කළහ. 2 වෙනි විත්තිකරු තමන් පරම්පරාවට අයත් ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යා බවත්, ලේකම් මිටිය ඉදිරිපත් කොට එය ඔප්පු කළ හැකි බවත් පවසා සිටියේය. එහෙත්, පැමිණිල්ල විභාග කළ සංඝ සභාවේ සභාපති මහානායක ස්වාමීන්ද්‍රයෝ එය ඉදිරිපත් කිරීමට මැලි වූහ. දිස්ත්‍රික් උසාවියේ දී සාක්කි අනුව හෙළි වූ තවත් පුදුම සිද්ධියක් නම්, 2 වෙනි විත්තිකාර හාමුදුරුවන් ලේකම් මිටිය ඉදිරිපත් කරන්නැයි ඇවිටිලි කළ කල්හි, අසල වූ කාමරයකට ඉවත්ව ගිය සභාපති නායක හාමුදුරුවන් මඳ වේලාවකින් එළියට ඇවුත්, කිසිවක් පැවසූ බවකි. එම ලේකම් මිටියේ පත් කිහිපයක් නියම කොළ දැයි සැකයක් ඇති බැවින්, උසාවියක නියෝගයක් අනුව මිස, වෙන කිසිම හේතුවක් නිසා කිසිම කෙනෙකු හමුවට එය පත් නොකරන බව උන්වහන්සේ පවසා තිබේ. සංඝ සභාවේ රැස්ව සිටි අනිකුත් සංඝයා ද, නායක හාමුදුරුවන්ගේ මතයට ගරු කිරීමක් වශයෙන් නිහඬ වූහ.

මහානායක ස්වාමීන්ද්‍රයන් මෙහි දී ක්‍රියා කළ ආකාරය, තේරුම් ගත හැක්කේ, ලේකම් මිටියේ කුමක් සඳහන් වුවත්, 2 වෙනි විත්තිකරු දෙඹපෙ හාමුදුරුවන්ගේ ගෝලයෙකු නොවන බවට තමා තුළ තද විශ්වාසයක් ඇතැයි යන මතය අනුව පමණකි. එසේ ක්‍රියා කිරීමෙන්, උන්වහන්සේ සාධාරණව, නිවැරදිව ක්‍රියා කළායැයි සිතුවා විය හැකිය. එහෙත්, එබඳු ක්‍රියා මාර්ගයක් උසාවියක තියුණු පරීක්ෂණයකින් පසු පිළිගත හැක්කක් නොවේ.

ලේකම් මිටිය ඉදිරිපත් නොකොටම, විභාගය අවසන් කළ සංඝ සභාව පුරුදු පරිදි එවෙලේම තීන්දුව ප්‍රකාශ කළේ නැත. මේ සිද්ධියෙන් මාස තුනක් ගත වූ පසු, විභාගය පැවැත්වූ අනුවිජ්ජක ස්වාමීන්ද්‍රයන් වහන්සේ නොව, මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ ගේ හුදු පෞද්ගලික විශ්වාසය මත ගොඩනගන ලද්දකි. අයහපත් භික්ෂුවක්, හැකිනම් තුරන් කරදැමීම චේතනාවෙන්, අන් හැම දෙනාම විසින් අවිවාදයෙන් පිළිගත යුතු යයි අදහස් කළ තීන්දුව, දෙවෙනි විත්තිකරු කෙරෙහි බලපවත්වන්නක් හැටියට පිළි ගැනීමට කිසිම උසාවියක් සූදානම් නැතැයි ද දිස්ත්‍රික් නඩුකාරතුමා සිය තීන්දුවේ සඳහන් කළේ ය.

මේ තීන්දුවට විරුද්ධව ගත් ඇපෑල, අග්‍රවිනිශ්චයකාර සර් ජෝසප් හචින්සන් හා වෙන්ඩ් විනිශ්චයකාරවරුන් හමුවේ විභාග කරන ලදුව, එම තීන්දුවම දෙමින් නිෂ්ප්‍රභා කරන ලදී.



# 8. අද තත්වය

කාලයක් තිස්සේ ලංකා ශ්‍රේෂ්ඨාධිකරණය මගින් දෙන ලද නඩු තීන්දුව අනුව, ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික නීතිය අද කෙසේ බලපවත්වන්නේ දැයි මේ පරිච්ඡේදයෙන් සලකා බලනු ලැබේ.

කිසියම් විහාරයක අධිපති පදවිය පැවැතෙන්නේ කිනම් ක්‍රමයකට දැයි ව්‍යාකූලත්වයක් හෝ සැකයක් හටගත් විට, එම ස්ථානය ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය අනුගමනය කරන ස්ථානයක් හැටියට පිළිගැනීම සිරිතය.

වර්ෂ 1832 දී තීන්දු කරන ලද නඩුවකින් මෙසේ තීරණය කර තිබේ. අස්ගිරි හා මල්වතු දෙපාර්ශ්වයේ උගත් ස්වාමීන් වහන්සේලා කැඳවා සාක්කි විභාග කිරීමෙන් පසුව, එම තොරතුරු අනුව ප්‍රකාශ කරන ලද මේ නඩු තීන්දුව, කරුණු කිහිපයකට ම පිළිතුරු සපයා ඇත.[1]

1. විහාරයක් සතු දේපළ උරුම වන ක්‍රමය සාමාන්‍යයෙන් දෙයාකාරය: ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව හා සිවුරු පරම්පරාව වශයෙනි. දෙවෙනි ක්‍රමය අනුගමනය කරනැයි ස්ථිර සාක්කියක් නොමැති කල්හි, මුල් ක්‍රමය (ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව) අනුගමනය කරන බව පිළිගනු ලැබේ.
2. විශේෂ අවස්ථාවන්හි දී, ආණ්ඩුව මගින් හෝ ගම් වාසීන් විසින් විහාර සතු දේපළ උරුමය නියම කරන බව ද පෙනේ.
3. විහාරයට දේපළ පූජා කරන මුල් ඔප්පුවේ හෝ සන්නසේ සඳහන් කරුණු අනුව, උරුම ක්‍රමය කවරේදැයි නිගමනය කළ යුතු ය.
4. එබඳු වගන්ති හෝ කරුණු සපයාගත නුහුණු විට, කලක් අනුගමනය කළ භාවිත ක්‍රම පිළිබඳ සාක්කි ඉදිරිපත් කළ හැකි ය.

මේ පැරණි නඩු තීන්දුව ගුරුකොට ගැනීමත්, විහාරාධිපති ආරවුල් සම්බන්ධ නඩුවලදී, ඒ ගැන අවිශේෂයෙන් ම සඳහන් කරනු ලැබීමත් නිතර ශ්‍රේෂ්ඨාධිකරණයේ සිදු වන්නේය.

බෞද්ධ විහාරයක අධිපති පදවිය උරුම වෙන සාමාන්‍ය ක්‍රමය ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව අනුව යයි දැන් පිළිගෙන තිබේ.

ධම්මජෝති - සෝභිත නඩුවේදීත්[2] ගුණරතන - ධම්මානන්ද නඩුවේදීත්,[3] ශ්‍රේෂ්ඨාධිකරණය මේ නිගමනයට එළඹ තිබේ. කැලණි රජමහා විහාරයේ

1 එරුම්ත්තෙ උන්නාන්සේ—සේනබෝවෙ උන්නාන්සේ සහ පරේ කුඹුරේ උන්නාන්සේ (වැන් වාසිං xli වෙනි පිටුව)

2 (1913) 16 නිව් ලෝ රිපෝර්ට්ස් 408

3 (1921) 22 නිව් ලෝ රිපෝර්ට්ස් 276

බාරකාර පදවිය පිළිබඳ නඩුවේ දී ද,[4] ශ්‍රේෂ්ඨාධිකරණය මගින් මෙම තීන්දුවම අනුමත කොට ඇත්තේ ය.

පොදුවේ අනුගමනය කරන තීන්දුව මෙය වුව ද, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා ඇවෑමෙන් ඔහුගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට නොව, සහෝදර අනු ශිෂ්‍යයාට විහාරාධිපති පදවිය පවරන ලද අවස්ථා ද නැත්තේ නොවේ. විපුලානන්ද - පඤ්ඤාසාර[5] නඩුවේ දී නිගමනය කරන ලද්දේ, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා ඇවෑමෙන්, ගුරු හාමුදුරුවන්ගේ ඊළඟ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට (අනු ශිෂ්‍යයාට) - විහාරාධිපති පදවිය පැවරෙන බවය. ශිෂ්‍ය - අනු ශිෂ්‍ය පදයේ අර්ථයට ගැළපෙන නඩු තීන්දුවක් වශයෙන් මෙය සඳහන් කළ හැකි ය.

විහාරාධිපතීන් වහන්සේ ඇවෑමෙන්, උන්වහන්සේගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා නිරායාසයෙන් ම අධිපති පදවියට පත් වෙතුදු, ආචාරීන් වහන්සේට ඕනෑ නම් තමන් වහන්සේ කැමති ගෝල නමක් අධිපති පදවියට පත් කිරීමේ බලය ඇත්තේ ය. අවශ්‍යයෙන් ම ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා අධිපති පදවියට පත් වන්නේ, එබඳු පත් කිරීමක් නැති වූ විටෙක පමණකි. ගුරු හාමුදුරුවන් ජීවත්ව සිටිය දී, තමන්ගේ ගෝලයින් අතරින්, තමන් කැමති කණිෂ්ඨ ගෝලයකු තෝරා, ඔහු තමා ඇවෑමෙන් විහාරාධිපති පදවියට පත් විය යුතු යයි ප්‍රකාශ කිරීමට විහාරාධිපතීන් වහන්සේට අයිතිය ඇත්තේය. පියතිස්ස තෙරුන්නාන්සේ - සරණපාල තෙරුන්නාන්සේ[6] නඩුවේ දී මේ අයිතිය ගුරු හාමුදුරුවන් සතු බව පිළිගන්නා ලදී. එබඳු පත් කිරීමක් අසුවල් විදියෙන් කළ යුතු යයි නීතියෙන් නියමයක් නැත්තේ ය. ඔප්පුවක් මාර්ගයෙන් හෝ, අන්තිම කැමති පත්‍රයක් මාර්ගයෙන්, එය කළ හැකි ය. කට වචනයෙන් පවා මෙබඳු පත්වීම් දුන් අවස්ථා පිළිගෙන ඇති බව පෙනේ.

කැලණි විහාරාධිපති පදවිය සම්බන්ධ නඩුවක දී,[7] එහි විහාරාධිපති වූ මාපිටිගම ධම්ම රක්ඛිත ස්වාමීන් වහන්සේ, ඔප්පුවක් මාර්ගයෙන් තමන්ගේ කණිෂ්ඨ ශිෂ්‍යයකු අධිපති පදවියට නම් කළ බව ඔප්පු විය. මහාරෝගශාලාවේ රෝගාතුරව සිටිය දී, වර්ෂ 1947 ජූනි මස 26 වෙනිද අත්සන් කළ ඔප්පුවක් මගින්, කැලණි විහාරයේ හා ලේන ගම්පොල විහාරයේ අධිපති වශයෙන්, තම කණිෂ්ඨ ශිෂ්‍යයා (මාපිටිගම බුද්ධ රක්ඛිත ස්වාමීන් වහන්සේ) පත් කරන බව ධම්ම රක්ඛිත ස්වාමීන් වහන්සේ පැවසූහ. එම ඔප්පුව අනුව, කණිෂ්ඨ ශිෂ්‍යයාට, ගුරුවරයාගේ ඇවෑමෙන් විහාරාධිපති පදවිය හිමි විය.

ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා සියලු උරුමකම්වලින් බැහැර කොට, අන්තිම කැමති පත්‍රයක් මාර්ගයෙන් කණිෂ්ඨ ශිෂ්‍යයෙකු පත් කළ අවස්ථාවක්, ගුණානන්ද-දීපාලංකාර[8] නඩු තීන්දුවෙන් හෙළිවේ.

4 (1948) 49 නිව් ලෝ රිපෝට්ස් 325
5 20 සිලෝන් ලෝ වික්ලි 122.
6 (1938) 40 නිව් ලෝ රිපෝට්ස් 262.
7 (1948) 49 නිව් ලෝ රිපෝට්ස් 325.
8 (1930) 32 නිව් ලෝ රිපෝට්ස් 241.



වර්ෂ 1924 දී අත්සන් තැබූ අන්තිම කැමති පත්‍රයකින්, වැලිතර සීලානන්ද ස්ථවිරයන් වහන්සේ, සුධර්මානන්ද විහාරයේ අධිපති පදවිය, තම කණිෂ්ඨ ශිෂ්‍යයකු වූ කහවේ ගුණානන්ද ස්ථවිරයන් වහන්සේට පැවරූහ. සීලානන්ද ස්ථවිරයන්ගේ ශිෂ්‍යයින් තිදෙනා අතුරින් දීපාලංකාර හා සුගුණසාර යන දෙපොළම ශිෂ්‍යකමින් පහ කළ බව 1919 මාර්තු 29 වෙනිද පුවත් පතක දැන්වීම් පළ කරවීමෙන් ප්‍රකාශයට පත් කළ සීලානන්ද ස්වාමීන්වහන්සේ, 1924 මාර්තු 25 වෙනිද අන්තිම කැමති පත්‍රයක් ලියමින්, තමනට කීකරුව තමන් ළඟම වෙසෙන කහවේ ගුණානන්ද ස්ථවිරයන් වහන්සේ වැලිකඩ සුධර්මාරාමයේ අධිපති පදවියට පත්කරන බව කියා සිටියහ.

අනතුරුව, දෙවර්ෂයක් ඇවෑමෙන්, 1926 සැප්තැම්බර් 14 වෙනිද, ශිෂ්‍යකමින් පහ කළ දීපාලංකාර හිමියන්ට සමාව දී යළිත් ශිෂ්‍යයකු වශයෙන් පිළිගත් බව සීලානන්ද හිමියන්ගේ ලියවිල්ලකින් පැහැදිලි වෙතත්, අන්තිම කැමති පත්‍රයෙහි කළ පත්වීම අනුව, කණිෂ්ඨ ශිෂ්‍යයා විහාරාධිපති පදවියට හිමි වන බව ශ්‍රේෂ්ඨාධිකරණය නිගමනය කළහ.

ඔප්පුවකින් හෝ අන්තිම කැමති පත්‍රය වැනි ලියවිල්ලකින් හෝ නොව කටවචනයෙන් පමණක් කරන ලද පත්වීමක් පවා, ශ්‍රේෂ්ඨාධිකරණය පිළිගත් අවස්ථාවක් ධම්මසිරි-සුධීරානන්ද[9] නඩු තීන්දුවෙන් පැහැදිලි වේ. ගුරු හාමුදුරුවන් ඇවෑමෙන් විහාරාධිපති පදවියට ගෝල නමක් පත් කිරීමට, ඔප්පු තිරප්පු නොතාරිස් ලේඛන ආදියක මාර්ගයෙන් සිදු කළ යුතු වීම් අවශ්‍ය නැතැයි එම තීන්දුවේ සඳහන් වේ.

විහාරාධිපති පදවිය සඳහා ඔප්පු තිරප්පු - අන්තිම කැමති පත්‍ර ආදියෙන් කරන පත්වීම්, එම ලේඛනය අවලංගු කිරීමේ මාර්ගයෙන් වෙනස් කොට අලුතෙන් කෙනෙකු පත් කිරීමට වුවද අයිතිය ඇත්තේ ය[10].

මෙසේ තමන් කැමති ශිෂ්‍යයකු, කැමති පරිදි පත්කිරීමේ අයිතිය විහාරාධිපතින්වහන්සේ වෙත පැවරී ඇතත්, මේ අයිතිය ක්‍රියාවේ යෙදවීමේ දී, එය එක්තරා ප්‍රමාණයකින් සීමාවී තිබේ. තමන් කැමති ඕනෑම හාමුදුරු නමකට විහාරාධිපති පදවිය පැවරිය නොහැකිය. ඒ සඳහා තෝරා ගත යුත්තේ, තමන් උපාධ්‍යාය කොටගත්, ශිෂ්‍යයන් අතුරින් කෙනෙකු පමණකි. පුංචිරාල ධම්මානන්ද ස්ථවිර[11] නඩුවේදී කණකරත්න විනිශ්චයකාරතුමා දුන් තීන්දුව අනුව, ආගන්තුක භික්ෂුවකට, විහාරාධිපති පදවිය පැවරිය නොහැකිය.

උපසම්පදාව නොලද සාමණේර භික්ෂුවකට වුවද විහාරාධිපති පදවියට පත්විය හැකියයි[12] තීරණය කර තිබේ.

කිසියම් විහාරාධිපති කෙනෙකුට ශිෂ්‍යයෙකු නැතිව ගිය කල්හි, තමා ඇවෑමෙන් විහාරාධිපති පදවිය හිමිවන ලෙස ඕනෑ ම සහෝදර භික්ෂුවක් පත්

9 (1937) 39 නිව් ලෝ රිපෝට්ස් 430
10 20 නිව් ලෝ රිපෝට්ස් 385.
11 (1946) 48 නිව් ලෝ රිපෝට්ස් 11.
(1913) 16 නිව් ලෝ රිපෝට්ස් 408
12 5 සුප්‍රිම් කෝට් සර්කියුලර් 8.



කළ නොහැකිය. මෙබඳු අවස්ථාවක දී පත් කළ හැක්කේ, එක ගුරු පරපුරෙන් පැවතෙන සහෝදර ස්වාමීන්වහන්සේ නමක් පමණකි.

විහාරාධිපති පදවිය හිමිවන්නට සුදුස්සෙකු නැතිව ගියද, එම දේපළ පූජා කළ අයට නැවතත් ඒවා නොපැවරේ. එසේවූ කල්හි විහාරය සතු දේපළ සියල්ල, නිකාය සන්තක වන්නේය. ඒවා පාලනය සඳහා, අධිපති කෙනෙකු පත් කිරීමේ අයිතිය නිකායස්ථ සංඝ සභාව කෙරෙහි පැවරේ[13] (ධම්මරතන-සුමංගල (1910) 14 නි.ලෝ.රි. 400)

කිසියම් විහාරාධිපති කෙනෙකුගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයකු, විහාරය අත්හැර ගියහොත්, එහි අධිපති පදවියට පත්වීමේ අයිතිය අහිමිව යන්නේය. නත්තගොඩ විහාරයේ හෙවත් පලිපාන විහාරයේ අධිපතිකම පිළිබඳ නඩුවකදී,[14] (ධම්මපාල-සුමංගල නඩුවේදී) මෙ බව තීරණය විය.

විහාරාධිපතීන් වහන්සේ අපවත් වන අවස්ථාවේ උන්වහන්සේගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා සිවුරු හැර සිටියේ නම්, ඉන්පසු කලක යළිත් පැවිදිවීමට පත් වුව ද ඔහුට විහාරාධිපති උරුමය හිමි නොවේ.

විහාරාධිපතීන් කෙනෙකු, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා හෝ අන්කිසි ශිෂ්‍යයෙකු විහාරාධිපති වශයෙන් නම් නොකොට අපවත් වූ කල්හි, ගෝල පිරිස අතුරින් තමන් කැමති ඕනෑ කෙනෙකු තෝරා පත්කර ගැනීමට ශිෂ්‍ය පිරිසට අයිතිය ඇත්තේය. කළුතර දිස්ත්‍රික්කයේ, ඉන්දසාරාරාම විහාර සතු රබර් ඉඩමක කූපන් බලපත්‍ර ගැන හටගත් අවුලක් විභාගයේදී[15] තේනමත් විනිශ්චයකාර තුමා දුන් නඩු තීන්දුවක් අනුව, ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාගේ විරෝධයක් නැත්නම්, මෙබඳු පත්වීමක් නීත්‍යානුකූල වන්නේය. තමන් සතු අයිතිය එසේ පවරා දීමෙන් පසු තමාගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට නැවතත් එම විහාරයේ උරුමයට අයිතිකම් කිය නොහැකිය.

ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව අහෝසිව ගිය අවස්ථාවකදී විහාර සන්තක දේපළ සියල්ල, නිකාය සතු වෙන බව ඉහතින් සඳහන් කරන ලදී. එබඳු අවස්ථාවකදී, විහාරයේ දායක පිරිසට තමන් කැමති කෙනෙකු විහාරාධිපති ධුරයට පත්කර ගත නොහැකිය. ආණ්ඩුව මැදිහත්වී, මෙවැනි පුරප්පාඩුවකට විහාරාධිපති වරයෙකු පත් කළ අවස්ථාවක් 1843-56 රාමනාදන් වාර්තාවල (42 වෙනි පිටුවේ) සඳහන් වේ.

අස්ගිරි-මල්වතු පාර්ශ්ව දෙකම, එකම නිකායේ කොටස් බැවින්, අස්ගිරි පාර්ශ්වයේ භික්ෂුවකට, මල්වතු පාර්ශ්වයේ විහාරාධිපති කෙනෙකුගේ ගෝල බවටත්, ඔහු ඇවෑමෙන් විහාරාධිපති පදවියටත් පත්විය හැකිය. අමරපුර නිකායේ භික්ෂුවකට සියම් නිකාය සතු දේපළක් හිමිකර ගත නොහැකිය.

13 (1954) 56 නිව් ලෝ රිපෝට්ස් 284.

14 (1939) 41 නිව් ලෝ රිපෝට්ස් 235.

15 ධම්මරක්ඛිත – විජිත (1940) 41 නිව් ලෝ රිපෝට්ස් 40
ධම්මජෝති – සාරානන්ද (1881) 5 සුප්‍රීම්කෝට් සර්කියුලර් 8.



විහාරාධිපතිපදවිය, භුක්තියට සවිකර ගත හැකි දේපළ විශේෂයක් නොවේ. උරුමකම නැතිව, බලහත්කාරයෙන් හෝ නොදැනුවත්කමින්, අන්සතු විහාරයක අධිපති පදවිය කොපමණ කලක් දැරුවද එහි අයිතිය නීත්‍යානුකූලව තහවුරු කරගත නොහැකිය.

විහාරාධිපති පදවිය, භුක්තියට සවිකරගත නොහැකි වස්තුවක් නම්, ඕනෑතරම් කාලයක් ගත වී වුවද නීති මගින් ක්‍රියාකොට, අයිතිය ආපසු ලබාගත හැකි විය යුතුය. එහෙත් නීතිමය තත්ත්වය මීට වඩා ව්‍යාකූල බව පෙනේ. මේ රටේ බලපවත්වන අන්කිසි නීතියකින්, නඩු පැවරීමේ කාලය සීමාවී ඇති නිසා, නැතිවූ විහාරාධිපති උරුමයක් ආපසු ලබාගැනීමට වුවද එක්තරා කාල සීමාවක් තුළ නඩු පැවරිය යුතුවෙයි[16] කාලසීමා Prescription Ordinance පනතේ 10 වෙනි ඡේදය යටතේ, නඩුවට නිදානය වූ කාරණු ඇරඹී තුන් අවුරුදු කාලයක් ඇතුළත නඩු නොපවරන ලද නම්, ඒ අයිතිය රැකගත නොහැකිය. ඒ නිසා, විහාර නීතිය අනුව, විහාරාධිපති පදවියක් භුක්තිය මාර්ගයෙන්ම අත්පත් කරගත නොහැකියයි පිළිගන්නා නමුදු, රටේ සාමාන්‍ය නීතිය අනුව, ඒ අයිතිය රැක ගැනීමේ පහසුකම සීමාවී ඇත්තේය. මෙය, පරස්පර විරෝධී තත්ත්වයකි.

විහාරාධිපතිකම පිළිබඳ අයිතිය භුක්තියට සවි නොවූවද විහාරයකටද පුද්ගලයෙකුට මෙන් කිසියම් දේපළක් නොකඩවා භුක්ති විඳීමෙන් විහාර සතු කර ගත හැකිය.

විහාරයක් සතු දේපළක් අන් සතු කර පවරා දීමට, විහාරාධිපති කෙනෙකුට බලයක් නැත. ඔප්පු-තිරප්පු ආදියෙන් අයිතියක් නොපෙන්විය හැකි ඉඩකඩම් ආදියක් වෙතොත්, ඒවා රජය සතු දේපළ යයි මූලික වශයෙන් පිළිගැනීමක් ඇතත්, සාංඝික වස්තූන් හමුවේ රජයේ මෙ අනුමති ඥානය පවා දෙවැනි තැනක් ගනී.

විහාරයේ යහපත උදෙසා, සාංඝික දේපළ දීර්ඝ කාලයකට වුව ද බදු දීමට මෙයින් අවහිරයක් නැත.

විහාර දේපළ කෙරෙහි (අර මුදල්) භාරකාර පනත 72 වෙනි පරිච්ඡේදය) බලපවත්වන අයුරු ගැනද මෙහිදී යමක් සඳහන් කළ යුතු ය. (අර මුදල්) භාරකාර පනතේ III වෙනි ඡේදයේ මෙසේ පළවේ:

"III පහත සඳහන් අවස්ථාවලදී, එනම්:

(අ) ..............................

(ආ) ..............................

(ඇ) පූජ්‍ය කටයුතු සඳහා වූ අරමුදලක් පිළිබඳ අයිතියක්, අරමුදලට අයත්වූ කිසියම් දේපළක් ආපසු ලබා ගැනීමක් හෝ එබඳු දේපළක අයිතිය තහවුර කරගැනීමක්, සඳහා කරන ඉල්ලීමක්,

16 කිරිකිත්තේ සරණංකර—මැදගම ධම්මානන්ද (1954) 55 නිව් ලෝ රිපෝට්ස් 313.

> කාලසීමා පනතේ කිසිම නීතියක් නිසා අවලංගු හෝ හානියකට පාත්‍රවූ ලෙස නොතැකිය යුතුය.''

මේ නීතිය බෞද්ධ විහාර සතු දේපළ කෙරෙහි ද බලපවත්වන බව වර්තමාන නීතියයි. අග්‍රවිනිශ්චයකාර හවඩ් සහ විනිශ්චයකාර ක්‍රූට්ස් මහතුන් විසින් තීන්දු කරන ලද නඩුවක් සංක්ෂේපයෙන් මෙහිදී සඳහන් කළ හැකිය.[17]

මේ නඩුව පවරන ලද්දේ කුරුණෑගල දිස්ත්‍රික්කයේ වෙරගල විහාරස්ථානය සතු වූ ඉඩමක් හා ගොඩනැගිල්ලක අයිතිය පිළිබඳ ආරාවුලක් බේරා ගැනීමටය. නඩුව විභාග කළ දිස්ත්‍රික් නඩුකාරතුමා, අවසානයේ දී පැමිණිල්ල නිෂ්ප්‍රභා කරමින් මෙසේ තීරණය කළේය:

(1) නඩුවට අදාල ඉඩම වෙරගල විහාරය සතු දේපළය.
(2) විත්තිකරුවෝ, භුක්තියට සවිකර ගැනීමේ මාර්ගයෙන් එකී දේපළ අයිතිකර ගත්හ.
(3) පැමිණිලිකරු වෙරගල විහාරයේ අධිපතිය. නඩුව පැවරීමට උන් වහන්සේට බලය තිබේ. එහෙත් විත්තිකරුවන් ඉවත් කිරීම සඳහා නියෝගයක් ඉල්ලීමට බලයක් නැත.

(2) වෙනි කාරණය සම්බන්ධයෙන් දිස්ත්‍රික් නඩුකාර මහතාගේ තීරණය වූයේ, වර්ෂ 1910 පටන් විත්තිකරුවන් පැමිණිලිකරුට පටහැනිව, එකී දේපළ භුක්ති විඳිමින් සිටි බවකි. එහෙත් පැමිණිලිකාර ස්වාමීන් වහන්සේ කියා සිටියේ, වර්ෂ 1910 පටන් ඔවුන් භුක්තිවින්දත්, (අරමුදල්) භාරකාර පනතේ iii වෙනි ඡේදය යටතේ, ඔවුන්ට භුක්තිය සවිකර ගැනීමේ අයිතියක් නොලැබෙන බව ය. දිස්ත්‍රික් නඩුකාර මහතා, මේ තර්කය නොපිළිගනිමින්, iii වෙනි ඡේදය ඊට නොගැලපෙන බව පැවසීය. අග්‍ර විනිශ්චයකාර හවඩ් මහතා පැමිණිලිකරුගේ ඇපෑලේ දී පළමුකොටම සලකා බැලුවේ මේ කාරණයයි.

දිස්ත්‍රික් නඩුකාරතුමා තම තීන්දුව සනාථ කිරීමට උපයෝගී කරගත් කුවත් නඩු තීන්දුවක් ගැන සිය මතය පළ කල අග්‍ර විනිශ්චයකාර තුමා මෙසේ පැවසීය:

''iii වෙනි ඡේදය මේ ප්‍රශ්නයට නොගැලපෙතැයි තීරණය කළ උගත් දිස්ත්‍රික් නඩුකාර තුමා රත්වත්තේ - මහාභාරකාර තැන[18] නඩු තීන්දුවේ අවසාන කොටස ද මෙසේ ගෙන හැර පායි:

> ''(අරමුදල්) භාරකාර පනතේ (X වෙනි කොටසේ) 109 වෙනි ඡේදය කුමක් පළ කරතත් වර්ෂ 1917 අංක 9 දරන ආඥා පනත සහමුලින්ම විහාර දේවාල කෙරෙහි බල නොපාන්නේ ය යන මගේ මතය, මේ හැම කරුණුම නිසා සනාථ වන්නේය. ඒ (විහාර හා දේවාල) සඳහා වර්ෂ 1931 අංක 19 දරන ආඥා පනතින් විශේෂ විධාන පනවා ඇති හෙයිනි........''

17 සෝභිත – විමලබුද්ධි 242 නිව් ලෝ රිපෝට්ස් 453
18 12 සිලෝන් ලෝ රෙකෝඩ්ස් 208



''අක්බාර් විනිශ්චයකාරතුමා ඉහතකී නඩු විනිශ්චයෙහිදී (අර මුදල්) භාරකාර පනත බෞද්ධ විහාර දේපළ කෙරෙහි බලපෑම පිළිබඳ ප්‍රශ්නය පැන නොනැගි බැවින්, එතුමාගේ ප්‍රකාශය අහම්බෙන් කළ එකක් ලෙස තැකිය යුතුවෙයි. එය එසේ නොවූව ද, මම එය අනුගමනය කිරීමට නොකැමැත්තෙමි. බෞද්ධ විහාර දේවාල ගම් පනතින් පාලනය වන ආගමික අරමුදල් කෙරෙහි 10 වෙනි කොටස බල පැවැත්වීමෙන් පැහැදිලිව ම බැහැර කරන බව 109 වෙනි ඡේදය සඳහන් කිරීම ම ආඥාපනතේ ඉතිරි කොටස් එසේ බල පවත්වතැයි නිගමනය කිරීමට මා පොළඹ වන කරුණකි. 10 වෙනි කොටස බැහැර කරන ලද නිසා, 99 වෙනි ඡේදයේ ''විශේෂ අර්ථ විවරණය ද'' බැහැර කරන ලදැයි තවදුරටත් තර්ක කර ඇත්තේ ය. මේ තර්කය පිළිගැනීමට මට නුපුළුවන. 10 වෙනි කොටසේ ඉතිරි ඡේද මගින් පුණ්‍ය අරමුදල් පාලනය සඳහා ඇතැම් විධාන ක්‍රියාවට නැංවෙයි. 109 වෙනි ඡේදය මගින් බෞද්ධ විහාරගම් බැහැර කර ඇත්තේ මෙකී විධාන බලපෑමෙනි. iii (1) (ඇ) ඡේදයේ සඳහන් වන ''පුණ්‍ය අරමුදල්'' කෙරෙහි ගැලපිය හැකි අර්ථ විවරණයක් උඩ 109 වෙනි ඡේදය නොපිළිගත යුතු යයි තීන්දු කළ ද, එබඳු අර්ථ විවරණයක් නැතිව පවා බෞද්ධ විහාර දේවාලගම් ඊට ඇතුළත් ය යනු මගේ මතයයි. (අරමුදල්) භාරකාර ආඥාපනතේ ඉහත කී විධාන පිළිබඳ මාගේ විග්‍රහය අනුව 3 (1) (ඇ) ඡේදය බෞද්ධ විහාර දේවාලගම් කෙරෙහි නොගැලපෙතැයි උගත් දිස්ත්‍රික් නඩුකාරතුමා කළ නිගමනය සාවද්‍ය බව මම තීන්දු කරමි. විත්තිකරුවන් වර්ෂ 1910 සිට (පැමිණිලිකරුට) පටහැනිව භුක්ති වින්ද බව ඒ තීන්දුවේ සඳහන් වේ. (අරමුදල්) භාරකාර ආඥාපනත නීතිගත වූයේ වර්ෂ 1918 අප්‍රේල් මස 16 වෙනිද බැවින්, භුක්තියට සවිවීම සඳහා ප්‍රමාණවත් කාලයක් ඉකුත් වී නැත.

අග්‍ර විනිශ්චයකාර හවඩ් මහතාගේ ඉහත කී නඩු තීන්දුවෙන් නිරාකරණය වන කරුණක් නම්, (අරමුදල්) භාරකාර ආඥාපනත නීතිගතවීමට දස වර්ෂයකට පෙරදී, විහාර දේවාලගම් සතු දේපළ භුක්තියට සවිකර ගත හැකිව තිබුණු බවයි. (අරමුදල්) භාරකාර පනත පැන වූයේ වර්ෂ 1918 අප්‍රේල් 16 වෙනිදය. භුක්තියට සවිවීම සඳහා දස වර්ෂයක කාලයක් නොකඩවා නිරවුල්ව භුක්ති වින්ද යුතු යයි කාලසීමා පනතේ (55 වෙනි පරිච්ඡේදයේ) 3 වෙනි ඡේදයේ සඳහන් වේ. මේ අනුව, (අරමුදල්) භාරකාර පනත පැනවීමට දස වර්ෂයකට පෙර එනම් වර්ෂ 1908 අප්‍රේල් 16 වෙනිදට පෙර විහාර සතු වූ දේපළ භුක්තියට සවිකර ගත හැකිව තිබුණි. 1918 න් පසු, (අරමුදල්) භාරකාර පනතේ විධාන නිසා කාල සීමා පනතේ විධානයක් බල පෑමෙන් බෞද්ධ විහාර දේවාල, ගම් බැහැර කරන ලද බව පිළිගත යුතුයි. විහාරයක් සතු සාමාන්‍ය දේපළක් කෙරෙහි තත්ත්වය මෙසේ නම්, විහාරාධිපති පදවිය පිළිබඳ ව පරස්පර විරෝධී තාවයක් පැවතීමට තුන් වර්ෂයක් ඇතුළත නඩු පැවරීමේ නීතිය බල පෑමට හේතුවක් අපට නො පෙනේ. මෙය ශ්‍රේෂ්ඨාධිකරණයේ සැලකිල්ල යොමු විය යුතු ප්‍රශ්නයක් බව ගෞරවයෙන් සඳහන් කරමු.

# 9. ගිහි දේපළ උරුමය

ගිහිගෙය හැරපියා, පැවිදි බිමට එළඹෙන කෙනෙකු සතු වූ, ගිහි ජීවිතයේ යුතුකම් මෙන්ම අයිතිවාසිකම් ද, පැවිදි බව ලැබීමත් සමඟම අහෝසි වන්නේ යයි සැලකීම තර්කානුකූලය. එහෙත්, නිත්‍ය හමුවේ ඇත්ත වශයෙන් ම මෙය සිදු වන්නේ ද?

වර්තමාන සමාජ ක්‍රමය යටතේ, ගිහියකු කෙරෙහි පැවරෙන කටයුතු අතර ධනය ඉපදවීමත්, මතු ආපදාවන්ට මුහුණ දීම සඳහා දේපළ රැස් කිරීමත් මුල් තැන ගනී. ගිහි ගෙයින් වෙන් වෙන පුද්ගලයා ධනය ඉපදවීමට හෝ ධනය රැස් කිරීමට බැඳී නොසිටී. ධනවාදී සමාජයක් යටතේ වුව ද, පූජ්‍ය පක්ෂයෙන් සමාජයට සිදු විය යුතු සේවය, ගිහියකු අතින් සිදුවිය යුතු සේවයට වඩා වෙනස් ය. පැවිදි වීමත් සමඟ පැවරෙන මේ නව වගකීම් හරිහැටි ඉටු වීමට නම්, ගිහි ජීවිතයේ වගකීම් වලින් සහමුලින්ම බේරුමක් ලැබිය යුතු යයි කීමේ වරදක් නැත. වගකීම් පමණක් නොවේ; ගිහි ජීවිතයේ ඇතැම් අයිතිවාසිකම් ද, පැවිදි ජීවිතයට නොගැලපෙන හෙයින්, අත්හැර දැමිය යුතු වෙයි. වගකීමක් වේනම්, එය ආශ්‍රිත අයිතිවාසිකමක් ද, අයිතිවාසිකමක් වේනම් ඒ හා සම්බන්ධ වගකීමක් ද ඇති හෙයිනි.

අප මෙහි දී විශේෂයෙන් ම සලකා බලන්නේ වස්තුව හිමි ගිහියකු සතු දේපළ උරුමකම්, මහු පැවිදි බිමට පත් වූ පසු ද, පළමු පරිද්දෙන් ම රැක දිය යුතු ද යන්නය.

වර්ෂ 1935 දී සැසි වාර්තාවක් වශයෙන් නිකුත් කරන ලද උඩරට නීති කොමිසන් වාර්තාවේ 305 වෙනි ඡේදයේ මෙසේ සඳහන් වේ.

''305 බෞද්ධ භික්ෂූන්ගේ අයිතිය: යමෙකු තම පියා ජීවත්ව සිටියදී, බෞද්ධ භික්ෂුවක් බවට පත්වූ කල්හි, තම පියා සතු දේපළවලට ඇති සියලු උරුමකම්වලට අහිමි වන්නේ ය යනු මූල් බැස ගත් නීතියයි.''

නීති නිඝණ්ඩුවේ සඳහන් පරිදි ද, තත්වය එසේම ය.

''දරුවන් කිහිප දෙනෙකු ඇති පියෙකු, ඉන් එකෙකු මහණ කළ විට, පැවිදි වූ පුත්‍රයා අත්හැර, ඔහුගේ අනික් දරුවෝ, ඔහු සතු සියලු නිශ්චල, චංචල දේපළවලට උරුම වෙති.'' (34 වෙනි පිට නීති නිඝණ්ඩුව)

වර්ෂ 1825 දී තීන්දු කරන ලද නඩු තීන්දු කීපයකින් ද මේ බව කිරණය වී ඇත.



ගිරාගම උන්නාන්සේ – රං එතනා
ඇතුල්ගම සෝනුත්තර – හේන්නෙක්ගෙදර ආරච්චිල
(ෂේලි-කැන්ඩියන් ලෝ අඩෝ ලිපි 11)

මේ නිත්‍ය, ගිහි ජීවිතය අත්හැර පැවිදිවන පුද්ගලයා, මූලික වශයෙන් පිළිගන්නා ප්‍රතිපත්ති වලට හැම අතින් ම ගැලපෙන බව අවිවාදයෙන් පිළිගත යුතු ය. හැම නීතියකට ම විකල්පයක් ද ඇති බැවින්, අවශ්‍ය වූ විශේෂ අවස්ථාවන්හිදී, පැවිදි වූ කෙනෙකුට වුව ද ගිහි ජීවිතයේ දී මෙන්ම දේපළ උරුමවන ආකාරය නීති නිඝණ්ඩුවෙන් සහ අනිකුත් නඩු තීන්දු කිහිපයකින් ද පැහැදිළි වන්නේ ය. මෙබඳු විකල්පයන් පැවිදි සමාජයේ මෙන් ම ගිහි සමාජයේ පැවැත්ම සඳහා අවශ්‍ය බව සමාජ සංවර්ධනය පිළිබඳව කරුණු දන්නා කවුරුන් වුව ද ඒත්තු ගන්නවා ඇත.

මේ විශේෂ අවස්ථා, සංක්ෂේපයෙන් මෙසේයි:

1. පවුලේ එකම දරුවා වීනම්; ඔහු පිය උරුමයට හිමිකම් ලබයි (නීති නිඝණ්ඩුව 59 පිට; කන්දේ-කිරිනයිදේ 1854 රාමනාදන් වාර්තා 51 පිට)
2. පියා ජීවත්ව සිටිය දී, ඔහුගේ අනුදැනීම ද ඇතිව සිවුරු හරින භික්ෂුව, තමාගේ පිය උරුමය යළිත් හිමිකර ගනී. (නීති නිඝණ්ඩුව 34 පිට; දෙහිගම කුඹුරු ගෙදර අප්පු- දෙහිගම ආරච්චිල (1824)
3. අනාථ වූ භික්ෂුවකට තම දෙමව්පියන්ගේ දේපළවල ආදයමින් රැකීමට අයිතිය ඇත. (නීති නිඝණ්ඩුව පිට 34; ආමර් 51 පිට)
4. පියා ද පැවිදිවී, පුතා සමඟ ජීවත් වෙමින්, ඔහුගෙන් උදවු උපකාර ලැබී නම්, පිය උරුමයට අහිමි නොවේ. (නීති නිඝණ්ඩුව 34 පිට, ආමර් 51 පිට)
5. දේපළ අයිතිය දීගයක ගිය එකම දියණියන් සතුවීම වැළක්වීම සඳහා, පියාගේ අභාවයෙන් පසු වුව ද සිවුරු හරින පුත්‍රයෙකුට, බූදලයට උරුමකම් කිය හැකිය. (නීති නිඝණ්ඩුව 40 පිට)
6. තම සහෝදරයින් කාගේත් ඒකමතික අනුමැතිය පරිදි සිවුරු හරින හාමුදුරු කෙනෙකුට තමන් ගිහිව සිටියා නම් හිමිවන මව්පිය උරුමයට අයිතිවාසිකම් කිය හැකි ය. (ආමර් 51 පිට)

5 වෙනි අංකයේ සඳහන් තත්ත්වය හැර අනිත් කරුණු අනුව, හාමුදුරු නමක් ගිහියෙකුමෙන් දේපළ උරුමකම් ලැබීමේ ඇති වරදක් අපට නොපෙනේ. මේ හැම තැනකම වාගේ පිය උරුමය ගැන පමණක් සඳහන් වන බැවින්, මව් උරුමය පිළිබඳව, විහාර නීතිය හෝ චාරිත්‍ර අමුතු ප්‍රතිපත්තියක් අනුගමනය කළා යයි සිතීම හේතු යුක්ති නොවේ. උඩරට නීතිය පිය උරුමය හා මව් උරුමය විෂයෙහි බලවත් වෙනස්කම් ඇති බව සැබැයි. එහෙත් විහාර නීතිය හෝ චාරිත්‍ර අනුව, මෙබඳු වෙනසක් බල පැවැත්ම අනවශ්‍යය. ගිහියාත් පැවිද්දාත් අතර වෙනස දැක්විය යුතු වූයේ, දේපළ අයිතිය පිළිබඳව පමණක්

බැවිනි. ඒ දේපළ මවගෙන් උරුම වුව ද, පියාගෙන් උරුම වුව ද, වස්තුකාමය වර්ධනය කිරීමට ඉවහල් වන, අනවශ්‍ය දේපළ රැස් කිරීම පැවිදි බව හා නොගැලපෙන බව පිළිගත යුතු ය.

භික්ෂූන් වහන්සේලා වෙත දේපළ උරුම වෙන ක්‍රමය ගැන උඩරට නීති කොමිෂන් සභාවේ දී සාක්කි විභාග කරන ලදුව, අස්ගිරි මල්වතු දෙපාර්ශ්වයේ මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා තදින්ම කියා සිටියෝ, අන්තිම කැමැති පත්‍රයක් නැතිව කෙනෙකු මිය ගිය කල්හි, දේපළ අයිතිය සම්බන්ධයෙන් ගිහි පැවිදි කිසිදු බේදයක් නොතිබිය යුතු බව ය. වෙනත් වචන වලින් කියතොත්, ගිහියාත් පැවිද්දත්, දේපළ උරුමය සම්බන්ධයෙන් එක හා සමාන කොට සැලකිය යුතු යයි උන්නාන්සේලා තරයේ ම කියා සිටියහ. මේ ආයාචනය සනාථ කිරීමට ආගමික, විනයානුකූල හෝ ඓතිහාසික හේතූන් ඉදිරිපත් කරන්නැයි කොමිසම මගින් කරන ලද ඉල්ලීමට සතුටුදායක පිළිතුරක් දීමට උන්වහන්සේලා අපොහොසත් වූහ. කොමසාරිස්වරු ද ඒ ආයාචනය ප්‍රතික්ෂේප කළහ.

මහණ වූ කෙනෙකුට අයිති නොවන්නේ පිය උරුමය පමණකැයි නීති නිසණ්ඩුවේ සඳහන් පාඨවලින් තේරුම් ගත හැකි ය. තම සහෝදරයින් ගෙන් හෝ වෙනත් නෑදෑයින් ගෙන් උරුම වන දේපළ ගැන තහනමක් නැති බව පෙනේ. (98 පිට)

අන්තිම කැමති පත්‍රයක් නොලියා අපවත් වන භික්ෂුවකගේ පෞද්ගලික දේපළ ගිහියන් අතර බලපවත්වන නීතියම අනුව, උරුම වෙන බව නීති නිසණ්ඩුව කියයි. රතනපාල උන්නාන්සේ – සේගු සයිබු සේගු අබ්දුල් කාදර් (5 සුප්‍රිම්කෝට් සර්කියුලර් 61) සහ සෝමාලෝක – සොමාලංකාර (3 නිව් ලෝ රිපෝට්ස්, 380) යන නඩු තීන්දු දෙකම මේ මතය සනාථ කරයි.

මව් උරුමය සම්බන්ධයෙන්, නීති නිසණ්ඩුවේ සඳහන් වන අන්දමට ගිහි පැවිදි භේදයක් නොතකා, පුතෙකුට හිමිවිය යුතු කොටස නොවෙනස්ව අයිති වන්නේය.[1] මේ අනුව, පැවිදි බවට පත් වූ පසු ද ගිහි ගෙයි ජීවත් වන කලක මෙන් පවුලේ මව්පිය උරුමය නොකඩවා ඔහු වෙත පැවරේ.

මව් උරුමය ගැන එසේ වුවද, පිය උරුමය සම්බන්ධයෙන් තත්වය මීට වඩා හාත්පසින් ම වෙනස් බව පෙනේ[2]

"පැවිදි බව ලබන පුතා, ඔහුගේ දෙමව්පිය උරුම සියල්ලටම අහිමි වේ. මහණ වීව, සියලු ලෞකික සැප සම්පත් අත් හැර දැමීමක් හෙයිනි. සිය සොහොයුරාගේ හෝ සොහොයුරන්ගේ ඒකමතික ඉල්ලීම පිට, පියාගේ අභාවයෙන් පසු සිවුරු හළහොත් මිස, නිකම් සිවුරු හැරිය පමණකින්, ඔහුගේ උරුම කම් ආපසු නොලැබේ. එසේ (සහෝදරයින්ගේ ඉල්ලීම පරිදි) සිවුරු හළ කල්හි, ඔහු පැවිදි නුවූවා නම් හිමිවෙන දෙමව්පිය උරුමයට ඔහුට අයිතිකම් කිය හැකි ය."

1 නීති නිසණ්ඩුව – 106 පිට. (5 පරිච්ඡේදය)

2 සෝයර් — මොඩර් මුද්‍රණය පිට 7.



මෙහි සඳහන් වන්නේ, පියාගේ අභාවයෙන් පසු, දෙමව්පිය උරුමය, පැවිදි පුතෙකුට හිමි විය හැකි අයුරු පමණකි. මව් උරුමය ගැන කිසිදු විශේෂ සඳහනක් එහි නැත. එහෙත්, පිය උරුමය කෙරෙහි බලපවත්වන ප්‍රතිපත්තිමය, මව් උරුමය විෂයෙහි ද අනුගමනය කළ යුතු යයි තර්ක කළ හැකි ය. ඉහත සඳහන් පාඨයෙන් ප්‍රකාශිත ප්‍රතිපත්තිය, ආගමික චාරිත්‍රානුකූලව නිවරද යයි පිළිගත යුතු වුව ද ඇතැම් නඩු තීන්දු වල දී, වෙනත් නිගමනයනට එළඹී අවස්ථා නැත්තේ නොවේ.

1923 දී තීන්දු කරන ලද නඩුවකින්, මහණව සිට සිවුරු හළ කෙනෙකුට, සිය මව් උරුමය අයිතිකර දී ඇත්තේ ය.[3]

එනිස් හා පෝටර් නම් විනිශ්චයකාර වරුන් දෙදෙනා විසින් ප්‍රකාශිත එම නඩු තීන්දුව, කුරුණෑගල, උඩ රැටියන් සතු ඉඩම් හබයක් පිළිබඳ තීන්දුවකි. මෙම නඩුවට සම්බන්ධ ඉඩම, බටවි එතනා නම් කාන්තාවකට අයිති විය. බටවි එතනාට, සිරිදරහාමි සහ පොඩි අප්පුහාමි නමින් පුත්තු දෙදෙනෙක් වූහ. සිරිදරහාමි විවාහ විය. පොඩි අප්පුහාමි මහණ විය. සිරිදරහාමි, දරුවන් දෙදෙනෙකුගේ පියෙකු වූ පසු, මිය ගියේ ය. ඔහු ඇවෑමෙන්, ඔහුගේ වැන්දඹු භාර්යාව වූ රංසොහාමි ඉඩමේ කොටසක් අවුරුදු 10 කට බදු දුන්නේය. මහණව සිට පොඩි අප්පුහාමි ද, ඉඩමේ ඉතිරි කොටස, එම බදු කාරයින්ටම අවුරුදු 14 කට බදු දුන්නේය. අනතුරුව, පොඩි අප්පුහාමි මළායින් පසු ඔහු බදු දුන් ඉතිරි කොටසට ඔහුට නීත්‍යානුකූල උරුමයක් නැතැයි රංසොහාමි මේ නඩුව පැවරුවා ය.

රංසොහාමි කියන්නේ පොඩි අප්පුහාමි මහණ වූ නිසා, මවගේ උරුමයෙන් ඔහුට අයිති විය යුතු දෙකෙන් පංගුව, අයිති නොවන බවය. සිවුරු හළ පමණින් ඔහුට නැති වූ අයිතියක් යළිත් ආපසු නොලැබෙන බව ය.

කුරුණෑගල දිස්ත්‍රික් උසාවියේ දී මේ නඩුව විභාග කරන ලදුව පොඩි අප්පුහාමි මහණ වූ පසු, දේපළ අයිතියට අහිමි විණැයි තීන්දු කරන ලදි. විත්තිකරුවෝ මේ තීන්දුවට විරුද්ධව ඇපැල් ගත්හ.

ඇපැල විභාගයේ දී, උඩරට නීතිය අලලා, ප්‍රශ්නය නිරාකරණය කරන්නට බැලූ ශ්‍රේෂ්ඨාධිකරණ විනිශ්චයකාරවරු, නීති නිසණ්ඩුවේ ඉහත කී කොටසත්, පැරණි සිංහල නීති ගැන සෝයර් නම් විචාරකයා ලියූ ග්‍රන්ථයක සඳහන් කොටසත් සලකා බලා, හාමුදුරු නමකට, තම මව් පස උරුමය හිමි වෙන බව නිගමනය කළහ.

මේ තීන්දුව, ගිහියන් කෙරෙහි බල පවත්වන උඩරට නීතිය අනුව පිළිගත හැකි වුව ද, පැවිදිව සිට සිවුරු හළ අයෙක් ද රීට සම්බන්ධ බැවින්, ආගමික චාරිත්‍රානුකූලව සනාථ කළ නොහැකි බව ගෞරවයෙන් සඳහන් කළ යුතුය. ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව වේවා, විහාරය සතු දේපළ වේවා, සංඝයා වහන්සේ පිළිබඳ කරුණුවල දී, උඩරට පාතරට බේදයකින් තොරව, එකම ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම සිරිතය. භික්ෂුවක් වීමට පළමු, උඩරට හෝ

3 මැණිකා – තෙයිනා 26 නිව් ලෝ රිපෝට්ස් 111





පාතරට නීතිය යටතේ දේපළ උරුමය කෙරෙහි බලපවත්වන නීතියක්, සිවුරු දැරීමෙන් පසු ද රැක දෙන්නට තැත් කිරීම නුසුදුසු බව අපේ හැඟීමයි. සාංඝික දේපළ විෂයෙහි, හාමුදුරු නමක් කෙරෙහි බල නොපවත්වන උඩරට පාතරට බේදයක්, පෞද්ගලික දේපළ හෝ උරුමකම් සම්බන්ධයෙන් බලපැවැත්වීම කෙසේ සුදුසු වේ ද? මැණිකා- නෙයිනා නඩු තීන්දුවේ දී, විනිශ්චයකාරවරුන් දෙදෙනා ඒ තීරණයට එළඹුණේ ගිහියකු වශයෙන් පොඩිඅප්පුහාමිගේ උරුමය රැක දෙන්නට ගොස්, ආගමික චාරිත්‍ර හා පැවිදිකමේ පරමාර්ථයන් ගැන අවිනත කර දැමීමෙන් බව ගෞරවයෙන් සඳහන් කළ යුතුය.

සංඝයා වහන්සේ අතර වුව ද, දේපළ පිළිබඳ සාංඝික - පෞද්ගලික වශයෙන් දෙවැදෑරුම් ක්‍රමයක් අනුගමනය කරන බව සැබැයි. එහෙත් හාමුදුරුවන් සතු, පෞද්ගලික දේපළ, ආගමික චාරිත්‍රානුකූලව පමණක් නොව, සිවිල් නීතිය අතින් ද සීමා කර ඇත. බෞද්ධ විහාර දේවාල ගම් පනතේ 23 වෙනි ඡේදය අනුව, හාමුදුරු නමක් සතු පෞද්ගලික දේපළ පැවරීම කෙතරම් දුරට ,සීමා කර ඇති දැයි රඹුක්වැල්ලේ සිද්ධාර්ථ[4] ස්වාමීන්වහන්සේගේ දේපළ පිළිබඳ නඩුතීන්දුවෙන් පැහැදිලි වන්නේය.

විශාල කීර්තියකට මෙන්ම මහත් ධනයකට ද හිමිකම් ලත් රඹුක්වැල්ලේ සිද්ධාර්ථ හාමුදුරුවන් අපවත් වන්නට පෙර ලියූ අන්තිම කැමති පත්‍රයකින්, තමන් සතු සියලු ''පෞද්ගලික දේපළ'' පවරා, මුදලයේ පාලනයට නඩුවේ පැමිණිලිකාරයා නම් කළහ. 1941 මාර්තු 11 වෙනිද. සිද්ධාර්ථ හිමියෝ අපවත් වූහ. උන්වහන්සේ පරිහරණය කළ පුස්තකාලය ඇතුළු දේපළ ලංකා තිලක විහාරය සතු යයි කියන ලංකාතිලක විහාරාධිපති සුමන හිමියෝ, බෞද්ධ විහාර දේවාලගම් පනතේ 23 වෙනි ඡේදය යටතේ එහි පාලනය තමන්ට පවරා දෙන මෙන් මේ නඩුව පැවරූහ.

බ.වි.දේ. පනතේ 23 වෙනි ඡේදයෙන් ප්‍රකාශ වන්නේ මෙසේයි:

''කිසියම් භික්ෂුවක් විසින් උරුමයෙන් තමන් සතුවූ දේපළ හැරෙන්නට, පෞද්ගලික පරිභෝගය සඳහා ඉපයූ සියලු පෞද්ගලික දේපළ, ස්වකීය ජීවිත කාලපරිච්ඡේදය තුළ, ඒ භික්ෂුව විසින් අන්සතුකොට නොපවරන ලද නම්, ඒ පෞද්ගලික දේපළ, එකී භික්ෂුව සම්බන්ධ වූ විහාරය සන්තක දේපළ ලෙස ගිණිය යුතුය.''

නඩුවේදී තීරණය කළ යුතු වූයේ සිද්ධාර්ථ ස්වාමීන්වහන්සේ ලියූ අන්තිම කැමති පත්‍රයෙන්, තමන් සතුවූ පෞද්ගලික දේපළ සියල්ල ''ස්වකීය ජීවිත කාල පරිච්ඡේදය තුළ අන්සතු කොට පවරන ලද ද?'' යන්නය. ආරාවුලට මුල්වූ දේපළ, හාමුදුරුවන් සතුවූ පෞද්ගලික දේපළ බව දෙපක්ෂයම පිළිගත්හ.

අන්තිම කැමති පත්‍රයක් ලියූ පමණින්, එහි සඳහන් දේපළ ''අන් සතු කොට පවරන ලදැයි'' සැලකිය හැකි ද? අන්තිම කැමති පත්‍රයක් නැවත වෙනස්

4 රඹුක්වැල්ලේ සිද්ධාර්ථ මුදල් බලකාරයා – සුමන (1943) 44 නි.ලෝ.රි. 365.



කිරීමට වුව ද පුළුවන. එවැන්නකට අත්සන් තැබූ පමණින්, එහි සඳහන් කිසියම් දේපළක් වෙන කෙනෙකු සතු නොවන්නේය. මරණින් පසු එය කා සතු විය යුතු ද යන්න පමණකි එයින් පැහැදිලි වන්නේ. එසේ නම්, එය ''ජීවිත කාලය තුළ අන්සතු කර පැවරීමක්'' හැටියට පිළිගත නොහැකිය. පනතේ 23 වෙනි ඡේදය අනුව හාමුදුරු නමක් සතු පෞද්ගලික දේපළ, විහාරය සතු නොවන්නේ, ඒවා, තම ජීවිත කාලය තුළ දී අන්සතු කොට පවරා දුනහොත් පමණකි. එහෙයින් රඹුක්වැල්ලේ හාමුදුරුවන්ගේ පුස්තකාලය සහිත අනිකුත් පෞද්ගලික දේපළ, අන්තිම කැමති පත්‍රයෙන් පවරා දී ඇතත්, එය ''අන්සතු නුවූ'' නිසා, ඒ දේපළ සියල්ලම ලංකාතිලක විහාරය සතු වේයයි නඩු විභාගය අවසානයේ දී තීන්දු කරන ලදී.

මේ තීන්දුවෙන් මෙන්ම, පනතේ 23 වෙනි ඡේදයෙන් ද අදහස් කරන ලද්දේ හාමුදුරුවන් සතු දේපළ, ගිහියන් සතු දේපළ මෙන් කැමති කැමති පරිද්දෙන් අන්සතු කිරීමට ඉඩ නොදිය යුතු බවය. හාමුදුරු නමක් සතු වූ පෞද්ගලික දේපළ පවා, සංඝයා වහන්සේ කෙනෙකු හැටියට උපයා ගත් වස්තූන් බැවින්, හැකි තරම් දුරට ඒවා සංඝ සමාජය සතුව පැවැත්ම වඩා මැනැවැයි අදහස් කරන ලදී. අන්තිම කැමති පත්‍ර මාර්ගයෙන් දේපළ පැවරීම ගිහියකු සතු සාමාන්‍ය අයිතියක් වුව ද, සංඝයා වහන්සේ විෂයෙහි එය සීමා කර ඇත්තේ එහෙයිනි. දේපළ පැවරීම සම්බන්ධයෙන්, ගිහි- පැවිදි දෙපක්ෂය අතර පිළිගත් මේ වෙනස, දේපළ අයිතිය හා උරුමය සම්බන්ධයෙන් ද අනුගමනය කළ යුතු බව මෙහි දී ගෞරවයෙන් සඳහන් කළ යුතු ය.

ගිහියන් වශයෙන් දේපළ උරුමය පිළිබඳව පවත්නා උරුම හා අයිතිවාසිකම් පැවිදි බිමට පත්වූ පසු ද බලපැවැත්වීම ගිහි ජීවිතය, පැවිදි ජීවිතය කෙරෙහි අනවශ්‍ය අන්දමින් බල පෑමට හේතු විය හැකි බැවිනි. හාමුදුරුවන් අතර දැනට පවත්නා නඩු හබ බොහොමයකට මුල දේපළ හිමිකම් බෙදා ගැනීමට ඇති අපහසුව හෙයින්, සංඝ සමාජයේ පොදු යහපත තකා, මේ සිරිත් වෙනස් කළ යුතු වේ. ආඥාපනතේ 23 වෙනි ඡේදයේ ද, ඒ සමගම කළ යුතු වෙනස්කමක් ද වෙයි. දෙමව්පිය උරුමයෙන් හාමුදුරු නමකට හිමිවෙන දේපළ සාමාන්‍ය පෞද්ගලික දේපළ වශයෙන් වත් නොසලකා, විශේෂ තැනක් දීමට එයින් අදහස් කර තිබේ. මහා සංඝ සභාවක් මගින් සියලු සාංඝික හා පෞද්ගලික දේපළ පාලනය සංවිධානය කරන විට යථා පරිදි මේ නීති සංශෝධනය ගැන විශේෂ සැලකිල්ලක් දැක්වීම යෝග්‍ය යි.

23 වෙනි ඡේදයේ ඇති අයෝග්‍යතාවය මෙන් ම, පෞද්ගලික පරිභෝගය සඳහා යයි හාමුදුරුවරුන් දේපළ රැස් කිරීමට ගිහියන් මෙන්ම වෙහෙසෙන අයුරු ද පැහැදිලි වන තවත් අවස්ථාවක් මාතර දිස්ත්‍රික් උසාවියේ නඩුවක දී හෙළි විය. ඉන්ෂුවරන්ස් සහතිකයක් ද පෞද්ගලික දෙයක් මෙන් තබාගත් භික්ෂූන් වහන්සේ නමක් ඇවෑමෙන් එය හිමි විය යුත්තේ කෙසේ ද යන්න විසඳීම මේ නඩුවේ කාර්යය විය[5].

5 ධම්මාධාර – සේදරංනාමී (1939) 41 නිව් ලෝ රිපෝට්ස් 236

ඉන්ෂුවරන්ස් සහතිකයක්, සිවුපස අතර ලා ගිණිය නොහැකි බැවින් එය පෞද්ගලික ප්‍රයෝජනයට, තබා ගත් දෙයක් නොවන නිසා, 23 වෙනි ඡේදය යටතේ, විහාරය සතු නොවන බව පැමිණිලි පක්ෂය තර්ක කළේය. මේ තර්කය නොපිළිගත් ශ්‍රෙෂ්ඨාධිකරණය, ''විහාර චාරිත්‍ර හෝ නීතිය කුමක් වුව ද, පනතේ සඳහන් වගන්තිවල අර්ථය නියම කිරීම අප සතු කාර්යයක් වන්නේය'යි පවසමින් අපවත්වූ හාමුදුරුවන්ගේ ජීවිත සහතිකය, විහාරය සන්තක වස්තුවක් බවට පත් කළහ. ''ජීවිතං අනියතං'' යන බණ පදය වදරමින් ම, ජීවිතය ''නියත කොට'' දෙන ජීවිත සහතිකයක් ලබා ගැනීමට භික්ෂූන් වහන්සේ නමක් නැඹුරුවීම කනගාටු දායකය.





# 10. මහණ කමින් නෙරපීම හා සිවුරු හැරීම

භික්ෂූන් වහන්සේ නමක් සිවුරු හැරීම හෝ මහණ කමින් පහකිරීම පිළිබඳව තත්ත්වය, නිරාකරණය සඳහා අධිකරණය හමුවට පැමිණි වාර රැසකි. මල්වතු කාරක මහා සංඝ සභාව මගින් නෙරපනු ලැබූ භික්ෂුවකගේ නම, රිජිස්ට්‍රාර් ජනරාල් තැනගේ නාම ලේඛනයෙන් ද ඉවත් කළ යුතු යයි කරන ඉල්ලීමක් ප්‍රතික්ෂේප කිරීම නිසා මේ ප්‍රශ්නය දෙවරක් ම මැන්ඩාමුස් ආඥාවක් පතා ශ්‍රේෂ්ඨාධිකරණය වෙත ඉදිරිපත් විය.[1]

මේ ආරාවුලට මුල් වූයේ, ශ්‍රී පාදස්ථානයේ බාරකාර පදවිය සඳහා පැවැත්වූ තරඟයයි. ඇත්ත වශයෙන් ම, මේ සඳහා තරඟ දෙකක් පවත්වන ලදී. පැල්මඩුල්ලේ තරඟයේ දී, 1934 පෙබරවාරි 14 වෙනිද ඌරාපොල රතනජෝති ස්වාමීන්ද්‍රයන් වහන්සේ තෝරා ගනු ලැබූ බව කියන අතර, 1934 පෙබරවාරි 2 ද, කිරිඇල්ලේ දී පැවැත්වූ අනික් තරඟයේදී මොරොන්තුඩුවේ ශ්‍රී ධම්මානන්ද ස්වාමීන්ද්‍රයන් වහන්සේ පත්වූ බව කියති. මල්වතු කාරක මහා සංඝ සභාව ආධාර කළේත්, පිළිගත්තේත්, මොරොන්තුඩුවේ හාමුදුරුවන්ගේ පත්වීමය. එහෙත් තමන් වහන්සේ ද යථා පරිදි, නීත්‍යානුකූලව එම පදවියට පත්වූහයි කියා සිටි ඌරාපොල හාමුදුරුවෝ එම පදවියේ කටයුතු නොකඩවා කරගෙන ගියහ. ඒ ගැන මොරොන්තුඩුවේ හාමුදුරුවන් පැමිණිලිකර සිටි කල්හි, 1934 අගෝස්තු 27 වෙනිද පැවැත්වූ කාරක මහා සංඝ සභාවේ රැස්වීමට පැමිණෙන ලෙස සංඝ සභාව ඌරාපොල හාමුදුරුවන් කැඳවූහ. එහෙත් ඌරාපොල හාමුදුරුවෝ ඒ නියෝගය ගණනකට නොගත්හ. මෙය තමන්ගේ බලය නොතකා හැරීමක් ලෙස සැලකූ කාරක මහා සංඝ සභාව, උන්වහන්සේට විරුද්ධව විනයානුකූලව ක්‍රියා කරමින් උන්වහන්සේ මහණකමින් නෙරපා තමන්ගේ නාම ලේඛනයෙන් ද උන්වහන්සේගේ නම කපා හැරියහ. බෞද්ධ විහාර දේවාලගම් පනතේ 41 වෙනි ඡේදයේ විධාන අනුව, රිජිස්ට්‍රාර් ජනරාල් වරයා ලවා ඔහුගේ සංඝ නාම ලේඛනයෙන් ද ඒ නම ඉවත් කොට නාමලේඛනය සංශෝධනය කරනු කැමති වූ මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ එසේ කරන මෙන් රෙජිස්ට්‍රාර් ජනරාල් වරයාට දන්වා සිටියහ.

ප්‍රථම වරට මෙසේ දන්වා සිටියේ, 1935 මැයි මස 29 වෙනිද ය. රිජිස්ට්‍රාර් ජනරාල්වරයා මේ ඉල්ලීම ප්‍රතික්ෂේප කළෙන් මහා නායක ස්වාමීන්ද්‍රයෝ

---

1 39 නිව්ලෝ රිපෝට්ස් 186
42 නිව්ලෝ රිපෝට්ස් 251

1937 ජනවාරි මස 26 වෙනිද ශ්‍රේෂ්ඨාධිකරණයෙන් මැන්ඩාමුස් ආඥාවක පිහිට පැතුහ. මේ ඉල්ලීම විභාගකර බැලූ සූට්ස් විනිශ්චයකාර තුමා, 1937 මැයි මස 27 වෙනිද එය නිෂ්ප්‍රභා කළේය. අනතුරුව, කාරක සංඝ සභාවේ තීරණය පරිදි නැවත දෙවරක්ම රිජිස්ත්‍රාර් ජනරාල්වරයාගෙන් ඉහත කී ඉල්ලීම කරන ලද නමුත්, මුල් වාරයේ මෙන්ම එය ඉවත දමන ලදී. දෙවෙනි වරටත් 1940 ජූනි 20 වෙනිද ශ්‍රේෂ්ඨාධිකරණයෙන් මැන්ඩාමුස් රිට් ආඥාවක් නිකුත් කරන ලෙස කාරක මහා සංඝ සභාවේ සාමාජික සංඝයා වහන්සේලා 17 නමක් අයැද සිටියහ.

කාරක මහා සංඝ සභාව වෙනුවෙන්, රාජනීතිඥ ඇන්. ඊ. වීරසූරිය, ජේ. ආර්. ජයවර්ධන හා වී. ඇස්. ගුණරත්න මහතුන්ගේ සහාය ඇතිව පෙනී සිටි රාජනීතිඥ එච්. වී. පෙරේරා මහතා, තම ආයාචනයට මුල් වූ සිද්ධිය පිළිබඳ ඉතිහාසය සංක්ෂේපයෙන් පැහැදිලි කරමින් බෞද්ධ විහාර දේවාලගම් පනතේ 41 වෙනි ඡේදය යටතේ රිජිස්ත්‍රාර් ජනරාල්වරයා මේ ඉල්ලීම ඉටු කිරීමට නීතිය මගින් බැඳී සිටින බව පැවසීය. මල්වතු කාරක මහා සංඝ සභාව, සියම් නිකායේ (එවකට) 6000 ක් පමණ වූ සංඝයා වහන්සේලා පාලනය කරන උසස්ම ආයතනයයි. එම කාරක සභාව විසින් 1935 දී ඌරාපොල රතනජෝති හාමුදුරුවෝ මහණකමින් නෙරපන ලදහ. එහෙත් රිජිස්ත්‍රාර් ජනරාල්වරයා ඒ නම තම නාමලේඛනයෙන් ඉවත් කර නැත. මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ- රිජිස්ත්‍රාර් ජනරාල් වරයා (39 නිව් ලෝ රිපෝට්ස් 186) නඩුවෙන් තීරණය කරන ලද පරිදි, මහා නායක ස්වාමීන්ද්‍රයන්ගේ ඉල්ලීම ඉටු කිරීමට රිජිස්ත්‍රාර් ජනරාල්වරයා බැඳී සිටී. එහෙත් එම නඩු තීන්දුවේදී, ඌරාපොල රතනජෝති ස්වාමීන්ද්‍රයන් වහන්සේ මහණ කමින් නෙරපූයේ මහා නායක ස්වාමීන්ද්‍රයන් විසිනැයි සූට්ස් විනිශ්චයකාරතුමා කළ නිගමනය සාවද්‍යය. මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ එබඳු දුෂ්ට චේතනාවකින් ක්‍රියා කළා හෝ වේවා, නොකළා හෝ වේවා කාරක මහා සංඝ සභාව වැනි උසස් මණ්ඩලයක් එවැනි දුෂ්ට චේතනාවෙන් ක්‍රියා කරතැයි ඇඟවීම බරපතල වරදකැයි ද එච්. වී. පෙරේරා මහතා පවසා සිටියේය.

රිජිස්ත්‍රාර් ජනරාල්වරයා වෙනුවෙන් පෙනී සිටි ආණ්ඩුවේ නීතිඥ එච්. එච්. බස්නායක මහතා, මේ පෙත්සම් කරුවන්ට රිජිස්ත්‍රාර් ජනරාල් තැනගෙන් එම ඉල්ලීම කිරීමට බලයක් නැතැයි පැවසීය.

ඌරාපොල හාමුදුරුවන් වෙනුවෙන් පෙනී සිටි ඇල්. ඒ. රාජපක්ෂ මහතා (ඩී. ඩබ්ලිව්. ප්‍රනාන්දු සහ ඊ. ඇල්. ඩබ්ලිව්. ද සොයිසා මහතුන්ගේ සහාය ඇතිව) කරුණු ඉදිරිපත් කරමින් මේ පෙත්සම, දෙවෙනි ඉල්ලීමක් බැවින් ද, මෙය මුල් ඉල්ලීම ම වෙස්වළා ඉදිරිපත්වීමක් බැවින් ද, අධිකරණමය නිගමනය (res Judicata) පිළිබඳ සිද්ධාන්තය අනුව ඊට ඉඩ නොදිය යුතුයයිද, 1 වෙනි පෙත්සම්කර වූ මහා නායක ස්වාමීන්ද්‍රයන් හැරෙන්නට අනික් පෙත්සම්කරුවන්ට මේ ඉල්ලීම ඉදිරිපත් කිරීම සඳහා අයිතියක් නැතැයි ද, පෙත්සම්කරුවෝ දුෂ්ට චේතනාවෙන් මඩනා ලදහයි ද, කෙසේ වුවත්, ප්‍රමාද



වී කරන ලද ඉල්ලීමක් නිසා ඊට කොහෙත්ම ඉඩ නොදිය යුතුයයි ද කියා සිටියේය.

මේ කරුණු සලකා බලා සිය තීන්දුව ලියූ සොනමන් විනිශ්චයකාරතුමා මෙසේ සඳහන් කරයි:

> “මුල් පෙත්සමේදී, නීතිය සුපරීක්ෂාකාරීව සලකා බැලූ සූට්ස් විනිශ්චයකාරතුමා, වැරදි සෑදීම, වෙනස් කිරීම හා (තොරතුරු) එකතු කිරීම' යනුවෙන් මහණ කමින් නෙරපනු ලැබීම නිසා භික්ෂුව කගේ නම, නාම ලේඛනයෙන් ඉවත් කිරීම ද අදහස් කරන ලදැයි තීන්දු කළේය. මේ වෙනස් කිරීම මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ විසින් රිජිස්ත්‍රාර් ජනරාල් තැන වෙත දන්වූ කල්හි, ඔහු තම නාම ලේඛනය වෙනස් කිරීමට ද බැඳී සිටින බව ද තීන්දුවී ඇත්තේය. විධානයක විලාශයෙන් නීති මාලාව මගින් ඔහු වෙත පවරන ලද යුතුකමකි එය. ඔහුට අභිමත පරිදි ක්‍රියා කිරීමට ඉන් බලයක් දී නැත. ඔහු මේ සිද්ධියේදී ක්‍රියා කළාක් මෙන් ක්‍රියා කිරීම, ඔහුට පැවරී ඇති කාර්යක් බලයෙන් පැහැර ගැනීමකි. “මේ නිගමනය හා මම සහමුලින් එකඟවෙමි. මේ නිගමනය නිවැරදි බව නඩුවට සම්බන්ධ හැම නීතිඥයෙක්ම පිළිගත් කාරණයකි. එහෙත් මා ඉදිරියේ තබන ලද තවත් කරුණු රාශියක් ඇති බැවින් ඒවා සලකා බැලිය යුතු වෙයි.”

තුන් පක්ෂයේම නීතිඥවරුන්ගේ තර්ක සියුම් ලෙස විග්‍රහකර බලා තීන්දුව දුන් සූට්ස් විනිශ්චයකාරතුමා, පෙත්සම්කරුවන්ගේ චේතනාව ගැන තමා තුළ සැකයක් ඇති හෙයින් ඉල්ලීමට ඉඩ නො දෙන බවත්, ඒ පෙත්සම ඉදිරිපත් කිරීමෙහිලා ඇතිවූ ප්‍රමාදය තම නිගමනයට හේතුවූ තවත් කරුණක් බවත් පළ කරයි. මේ හේතූන් නිසා, මහා නායක ස්වාමීන් ප්‍රමුඛ සංඝ සභාවේ ඉල්ලීම විනිශ්චයකාරතුමා විසින් ප්‍රතික්ෂේප කරන ලදී.

භික්ෂූන් වහන්සේ නමක් සතු අයිතිවාසිකම් අහිමි වන්නේ උන්වහන්සේ මහණ බවින් මිදීමේ හුදු චේතනාවෙන්ම සිවුරු හළ හොත් පමණකි. කෙනෙකු “හිරළුවෙකු” බවට පත්ව, විහාරාධිපති උරුමකම් හෝ හාමුදුරු නමක් සතු හැම අයිතිවාසිකම් ද අහිමිවන්නේ, සිය කැමැත්තෙන්ම, මහණ කමින් බැහැර වීමේ චේතනාව මුල් කොට ගෙන සිවුරු හළ හොත් පමණකැයි අග්‍ර විනිශ්චය කාර බෝන්සර් හා විනිශ්චයකාර විදර්ස් දෙදෙනාගේ නඩු තීන්දුවක[2] සඳහන් වේ. වෛද්‍ය උපදේශ අනුව, රෝගයකට බෙහෙත් ගැනීම සඳහා සිවුරු හළ භික්ෂුවක් පසුව නැවතත් ශ්‍රමණ පදවියට ඇතුළු වීමෙන් තමන් සතුවූ ජ්‍යෙෂ්ඨත්වයට හානියක් නොවන බව සූට්ස් විනිශ්චයකාරතුමාගේ තවත් නඩු තීන්දුවක[3] සඳහන් වේ.

මේ නඩුවට හේතු වූයේ ගාලු දිස්ත්‍රික්කයේ, මලිදූව විහාරාධිපතින් වහන්සේ විසින් මහණ කරන ලදැයි කියන ශිෂ්‍යයකුගේ නියම ආචාර්යපාදයන්

2 1 මාකර කේසස් 227.

3 සෝමරතන – ජිනරතන 42 නිව් ලෝ රිපෝට්ස් 361.

වහන්සේ පිළිබඳ අර්බුදයකි. පැමිණිලිකාර හාමුදුරුවන් අතිරේක තර්කයක් වශයෙන් ඉදිරිපත් කළේ, විත්තිකාර ස්වාමීන් වහන්සේ, මුල් අවදියේ තම ගුරු හාමුදුරුවන්ගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා වශයෙන් සලකන ලද නමුදු, රෝගයකට ප්‍රතිකාර ගැනීම සඳහා සිවුරු හළ බැවින් ඒ ජ්‍යෙෂ්ඨත්වයට ඉන්පසු අහිමිව ගිය බවකි. මහණ බිමින් ඉවත් වීමේ පරම චේතනාවෙන් නොව වෛද්‍ය උපදේශ නිසා කළ සිවුරු හැරීමක් නිසාත්, අනතුරුව මහණ බිමට එළඹී නිසාත්, මුල් ජ්‍යෙෂ්ඨතාවය යළිත් උන්වහන්සේ වෙත පිරිනැමුනු බව සූවිස් විනිශ්චයකාරතුමා නිගමනය කළේය. මේ තීන්දුවේදී, මීට වඩා දුෂ්කර වූ විනයානුකූල හා නීත්‍යානුකූල ප්‍රශ්න රාශියක් ඇතුළත් වූ ප්‍රේමරතන-ඉන්දසාර[4] නඩු තීන්දුව ගැන ද සඳහන් කරන ලදි. ඒ නඩුවේ අතීත කතාන්තරය මෙසේය:

වර්ෂ 1882 දී, තිස්සමහාරාම විහාරස්ථානයේ අධිපති පදවිය පිරිනැමුණේ වල්පිට මේධංකර ස්ථවිරයන් වහන්සේටය. මේධංකර හාමුදුරුවෝ 1916 දී අපවත් වූහ. අනතුරුව විහාරාධිපති පදවිය පිළිබඳ ආරාවුල් හටගත්තේය. තංගල්ලේ දිස්ත්‍රික් උසාවියේ විභාගවූ නඩුවේදී තීන්දු කළ යුතු කරුණු 17 ක් විය. ඉන් මෙහිදී වැදගත් ලෙස සැලකිය හැක්කේ එක් කරුණක් පමණකි. එනම්:

ධම්මානන්ද ස්වාමීන් වහන්සේ සිවුරු හළ සේක් ද?
එසේ නම් කවදා ද?

පැමිණිල්ලේ කතාව වූයේ, වල්පිට මේධංකර හාමුදුරුවන්ට උපතිස්ස නම් ගෝලනමක් වූ බවය. මේධංකර හාමුදුරුවන්ගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා වූ උපතිස්ස හාමුදුරුවෝ තම ගුරු හාමුදුරුවන්ටත් ප්‍රථම අපවත් වූහ. මේධංකර හාමුදුරුවන් ඇවෑමෙන් විහාරාධිපති පදවියට පත් වූයේ උපතිස්ස හාමුදුරුවන්ගේ ද ගෝල නමක් වූ හික්කඩුවේ ධම්මානන්ද ස්වාමීන්වහන්සේය. 1931 මැයි මස ධම්මානන්ද හාමුදුරුවන් සිවුරු හළ නිසා, උපතිස්ස හාමුදුරුවන්ගේ ගෝලයකු වන පැමිණිලිකාර තමන්වහන්සේ තිස්සමහාරාම විහාරාධිපති වශයෙන් පත් කරන ලෙස මේ නඩුවෙන් ඉල්ලා සිටින ලදී. දිස්ත්‍රික් නඩුකාර තුමා පැමිණිලිකාර ස්වාමීන් වහන්සේගේ කරුණු පිළිගනිමින් ධම්මානන්ද හාමුදුරුවන් 1931 මැයි මස සිවුරු හළ බව තීන්දු කළේය. ඇපෑල් ගන්නා ලද්දේ මේ තීන්දුවට විරුද්ධවය.

දිස්ත්‍රික් නඩුකාර තුමාගේ මේ නිගමනය පදනම් වූයේ 1931 මැයි මාසයේ 19 වෙනිද ධම්මානන්ද හාමුදුරුවන් කළැයි ඔප්පුවූ එක්තරා කටයුත්තකි. මේ කටයුත්ත, වෙන නඩුවක දී ඔප්පු වූවක් බැවින් ඒ ගැන විවාදයක් මෙහිදී ඇති නොවීය. එහෙත්, ඒ සිද්ධිය නිසා ධම්මානන්ද හාමුදුරුවන් සිවුරු හළ බවත් ස්ථිරවම පිළිගත යුතු ද යන්න තීරණය කළ යුතු විය.

1931 මැයි මස 19 වෙනිද රාත්‍රී, ධම්මානන්ද ස්වාමීන්වහන්සේ ඩිංගිරිහාමි නමැති ස්ත්‍රියකගේ ගෙදර රෑකාලය ගත කළ සේක. ඒ ගෙදර ජීවත් වූයේ ඩිංගිරි හාමි සහ ඇයගේ දියණිය වන නෝනහාමිය. ඩිංගිරි හාමිගේ ගෙදර වූ ඇඳක් යට

[4] 40 නිව් ලෝ රිපෝට්ස් 235.



එළන ලද පැදුරක ධම්මානන්ද හාමුදුරුවන් සිවුරු රහිතව සැතපී සිට අසුවූ අතර, උන්වහන්සේගේ සිවුරු ගැහැණියකගේ වස්ත්‍ර වගයක් සමග යකඩ පෙට්ටියක තිබී සොයා ගන්නා ලදී.

දිස්ත්‍රික් නඩුකාරතුමා තීන්දු කළේ, ධම්මානන්ද හාමුදුරුවන් ස්ත්‍රියක හා කාම සේවනය සඳහා පිය සිවුරු ඉවත් කළ බැවින් මහණ කමින් ඉවත් වීමේ චේතනාවෙන් එසේ කළ බවය. ඇපෑල් අධිකරණයේදී තීරණය කළ යුතු වූයේ, මේ කාම සේවනය සඳහා සිවුරු ඉවත් කිරීම සිවුරු හැරීමක් ලෙස සැලකිය යුතු ද යන්නය.

මේ ගැන සිය තීන්දුව ලියන මාටින්ස් විනිශ්චයකාරතුමා මෙසේ සඳහන් කරයි:

> ''ධම්මානන්ද නැවතත් සිවුරු පොරවා නොගත්තා නම්, එය සාධාරණ නිගමනයක් විය හැකිය. එහෙත් ඔහු යළිත් සිවුරු පෙරවූ බවට සාක්කි තිබේ. එහෙයින්, මේ කරුණු අනුව ධම්මානන්ද සිවුරු ඉවත් කළේ සිවුරු හැරීමේ චේතනාවෙන්ය යන නිගමනයට නොපැමිණිය හැකි බව මගේ හැඟීමයි. අනිකුත් පිරිසක් අතරවූ නඩු විභාගයකදී එකී දිනයේ රාත්‍රී ධම්මානන්ද, කිසියම් ස්ත්‍රියක සමග කාම සේවනයේ යෙදුනැයි සාක්කිවලින් ඔප්පු වෙතත්, ඔහු තිරච්චෙකු වූ බව ඒත්තු ගැන්වීමට එය ප්‍රමාණවත් සාධකයක් නොවේ. ධම්මානන්ද සාක්කි දී නැති නිසා විශේෂයෙන් ම එසේ පැවසිය යුතුය. ඔහු පැන්නීමට බලය ඇති අධිකරණයක් මගින් මේ වරදට ඔහු මහණ කමින් පන්වන ලදැයි සාක්කි තිබිය යුතුය......
> ''............ධම්මානන්ද සිවුරු හරින බව කියමින් තමන්ගේ සිවුරු ගලවා දමා, තම දියණිය සමග රැය ගත කළැයි ඩිංගිරිහාමි කියන කතාව පිළිගත නොහැකිය............
> ''............ධම්මානන්ද සිවුරු හළ බව ඔප්පු කිරීමට පැමිණිලිකරු අපොහොසත් වී ඇතැයි මම විශ්වාස කරමි''යි විනිශ්චයකාරතුමා අවසාන වශයෙන් සඳහන් කරයි.

මේ නඩු තීන්දුවේ පිණ්ඩාර්ථය වනුයේ, විනය විරෝධීව ක්‍රියා කොට පාරාජිකා වුව ද, හාමුදුරු නමක්, බලය ඇති අධිකරණයක් මගින් මහණ කමින් නෙරපා දමන තුරු සංඝයා වහන්සේ කෙනෙකු ලෙස නීතිය හමුවේ සලකන බවය.

විනයධර, ධම්ධර සුපේශල ශික්ෂාකාමී බහුශ්‍රැතයින් වහන්සේලාගේ අවධානය යොමුවිය යුතු විනය පිළිබඳ වැදගත් ප්‍රශ්නයකි.

# 11 සංඝාධිකරණයක් ඕනෑ

''මෙ නඩුව, විහාරාධිපති පදවි උරුමය හා ඊට අදල දේපළ පිළිබඳව, බෞද්ධ භික්ෂූන් වහන්සේලා අතර සදකාලික ආරාවුල්වලට හේතුවූ, අභාග්‍යයකට මෙන් අප කවුරුනුත් හොඳින් දන්නා, සිද්ධීන් අතුරින් එකකි. නියෝජිත අධිකරණ මණ්ඩල සුලබ මේ යුගයේ, යටත්පිරිසෙයින් සංඝයාගේ විනය රැකීම තකා හෝ, මෙබඳු කරුණු ගැන සලකා බැලීමට ආගමික අධිකරණයක් පත් කිරීම මැනවැයි කෙනෙකුට සිතිය හැකිය. විශේෂයෙන්ම, එබඳු ප්‍රශ්න නිරාකරණය කිරීම සඳහා දක්ෂ, හැම අතින් ම සුදුසුකම් ඇති, උගත් සංඝයා, බෞද්ධ භික්ෂූන් වහන්සේ අතර සිටින බව අවිවාදයෙන් පිළිගත යුතු හෙයිනි. එහෙත්, අද සිදුවන්නේ, බෞද්ධ ආගමික නීති ගැන කිසිදු දැනීමක් නැති වුව ද, මේ අර්බුදයන් හා ප්‍රශ්න නිරාකරණය කිරීම පැවරෙන්නේ, ඕනෑවටත් වඩා වැඩ පළ අධික වූ සිවිල් උසාවි කෙරෙහිය........''

අදට අවුරුදු 15 කට පෙර, ලංකා ශ්‍රේෂ්ඨාධිකරණය හමුවට පැමිණි විහාරාධිපති අවුලක නඩු තීන්දුවේ මුල පුරමින්, අබෞද්ධ විජාතික ශ්‍රේෂ්ඨාධිකරණ විනිශ්චයකාර තුමෙක්, සංඝ සමාජයේ එවකට පැවති බලවත් දුර්වල කමක් මෙසේ පිඩු කොට දැක්වීය.[1]

මේ නඩුවට හේතුවූයේ, ගාලු දිස්ත්‍රික්කයේ රජ මහා විහාරය නමින් හඳුන්වන විහාරයේ අධිපති පදවිය ගැන ඇතිවූ ආරවුලකි. විහාරාධිපති වූ කලෙහේ ශ්‍රී රතනජෝති හාමුදුරුවන්ට සෝමරතන හා පියරතන නමින් ගෝලයෝ දෙදෙනෙක් වූහ. පැවිදි බව ලැබීම, උපසම්පදාව ලැබීමට වඩා කලින් සිදු කරන්නක් බැවින්, මුලින් පැවිදි බව ලැබූ ශිෂ්‍යයා ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා හැටියටත් වෙන කිසියම් හේතුවක් ඉදිරිපත් කළ නොහැකි කල්හි, ඔහු ආචාර්යයන් ඇවෑමෙන් අධිපති පදවියට පත්වන බවත් මේ නඩුවෙන් තීන්දු විය.

නඩු තීන්දුව ආරම්භයේදී, සංඝ සමාජයේ පවත්නා අභාග්‍ය සම්පන්න සිරිතක් ගැන සිය කනගාටුව පළ කළ සුවිස් විනිශ්චයකාරතුමා, භික්ෂූන් කෙරෙහි ගිහියන් තුළ පවත්නා භක්තිය හා ගෞරවය මෙන් ම සංඝයා අතර විනය ගරුකත්වය ද රැක දෙමින්, මේ ප්‍රශ්න නිරාකරණය කරගත හැකි මාර්ගයක් සඳහන් කළේ ය:

විහාරාධිපති අවුල්, දේපළ ආරාවුල්, විහාර අරමුදල් පිළිබඳ නඩු ආදිය නිසා, දිනපතා සිවිල් උසාවිවල අගු ගානේ ළතවෙමින්, දකින අයගේ අවඥාවට ලක්වන භික්ෂූන් වහන්සේලා අදත් ඕනෑම උසාවියක සුලබ දර්ශනයකි. සැදැහැවත් බෞද්ධයින්ගේ පමණක් නොව, අවංක අන්‍ය ලබ්ධිකයන්ගේ ද

1 සුවිස් විනිශ්චයකාරතුමා – සෝමරතන–ජිනරතන (1943) 27 නි.ලෝ.වා. 363



සිත් කනස්සල්ලට හේතු වන මෙවැනි දර්ශන වළකාලීම, සංඝ සමාජය ගැන වග කිය යුතු අය කෙරෙහි පැවරී ඇති යුතුකමකි. නිකාය වශයෙන් හෝ ගෙන ඒ ඒ නිකායානුබද්ධ සංඝයා කෙරෙහි බලපවත්වන පරිදි, මහා සංඝ සභා මගින් මේ සඳහා නීති රීති පැනවිය යුතුව තිබුණේ, මීට අවුරුදු ගණනකට ඉහත දිය. එහෙත් අභාග්‍යයකට මෙන්, භික්ෂු සමාජයේ පිරිහීමටත්, සංඝ ගෞරවයේ විනාශයටත් හේතු වූ මේ පුරුද්ද නැති කිරීමට සාමූහික නිකායික උත්සාහයක් දැරූ බවක් නොපෙනේ. 1941 දී සුවිස් විනිශ්චයකාර තුමා කළ චෝදනාත්මක ප්‍රකාශය, අද සංඝ සමාජය කෙරෙහි එදරිද්දෙන්ම ගැලපෙන බව කනගාටුවෙන් වුව ද පිළිගත යුතු ය.

සංඝයා අතර හට ගන්නා හැම අවුලක් ම සංඝාධිකරණයක් මගින් විසඳා ගැනීම යෝජනා කිරීමෙන්, සාමාන්‍ය උසාවිවල බලතල පැහැර ගැනීමක් අදහස් නොකරනු ලැබේ. යථා පරිදි සංඝාධිකරණයක් මගින් විනිශ්චිත ආරවුලක්, සිවිල් උසාවි මගින් ක්‍රියාවට නැංවිය හැකිය. ඒ සඳහා දැනට වුව සිවිල් නඩු විධාන සංග්‍රහයේ පහසුකම් ඇත්තේ ය.

කිරිකිත්තේ සරණංකර මැදගම ධම්මජෝති[2] නඩු තීන්දුවේ දී ග්‍රෙෂන් විනිශ්චයකාරතුමා ද මේ ගැන සිය අදහස් පළකර සිටියේ ය.

සංඝාධිකරණයක සිදුවිය හැකි අයථා ක්‍රියාවන්ට විරුද්ධව ඇපැල් ගැනීමට හෝ වෙනත් අයුරින් ක්‍රියා කිරීමට අවශ්‍ය නීති සම්පාදනය කරගත හැකිය. 1929 දී විසඳන ලද නඩුවක දී මහා සංඝ සභාවක් මගින් පවත්වන ලද විභාගයක සිදු වූ වරදක් නිසා එම තීන්දුව පිළිගත නොහැකි බව නිගමනය කරන ලදී.[3]

මාතර දිස්ත්‍රික්කයේ, නිමලව වත්ත විහාරයේ අධිපති ධූරය සඳහා හටගත් ආරාවුලක් මල්වතු මහා සංඝ සභාව වෙත විනිශ්චය සඳහා ඉදිරිපත් කර තිබේ. එහෙත්, පෙත්සම්කරු පැමිණිල්ල ඉදිරිපත් කළේ දෙපක්ෂයේම කැමැත්ත ඇතිව හෝ විභාගයේ තීන්දුව පිළිගැනීමේ එකඟත්වය ඇතිව හෝ නොවේ.

මෙබඳු පැමිණිල්ලක් ඉදිරිපත් කළ විට, එක්කෝ, මල්වතු සංඝ සභාව විසින් එය විභාග කළ යුතු ය. නැත්නම්, පළාත දුර බැහැර නම්, දිස්ත්‍රික්කයේ ප්‍රධාන නායක ස්වාමීන්ද්‍රයන් විසින් පැමිණිල්ල විභාග කළ යුතු ය. මෙ පෙත්සම් විභාගය සඳහා වැලිගම අග්‍රබෝධි විහාරයේ නායක හාමුදුරුවන් වෙත ඉදිරිපත් කරන ලදී. පැමිණිලි කරු හා වික්තිකරු ඉදිරියේ පෙත්සම විභාග කළ ද, මෙහි දී උන් වහන්සේ තීන්දුවකට නොඑළඹි බව කියති. පැමිණිල්ල ගැන තමා පැවැත්වූ සාක්කි විභාගයේදී හෙළි වූ කරුණු අනුව, තීන්දුවක් දීම අග්‍රබෝධි විහාරාධිපතින් වහන්සේගේ යුතුකමව තිබුණි. උන්වහන්සේ තීන්දුවක් නුදුන් නිසා විභාගයේදී කරගත් සටහන් අනුව මල්වතු මහා නායක ස්වාමීන්ද්‍රයන් විසින් තීන්දුව ප්‍රකාශ කර තිබේ. මෙසේ ප්‍රකාශ කරන ලද තීන්දුව, වික්තිකරු කෙරෙහි බලනොපවත්වන බව ශ්‍රේෂ්ඨාධිකරණය නිගමනය

2 (1954) 55 නි.ලෝ.වා. 313
3 (1929) 31 නි.ලෝ.වා. 161





කළේය. උසාවියක් නොපිළිගන්නා, යුක්තියට නොගැලපෙන, ක්‍රියාවක් සිදුවී ඇත්නම්, ඒ නිසා මුළු තීරණයම අහෝසි වන බව මෙයින් පැහැදිලි වේ.

මහා සංඝ සභාව, බේරුම්කාර මණ්ඩලයක් හැටියට සැලකිය හැකි වුවද, අහියම් කරුණක් හෝ අයථා ක්‍රියාවක් නිසා, එහි නිගමනයන් බලනොපවත් වන බව වර්ෂ 1908 දී තීන්දු කළ සුමංගල–ධම්මරක්ඛිත (11 නි.ලෝ.රි.360) තීන්දුවේ සඳහන් වේ. මහා සංඝ සභාව පිළිගත් අධිකරණ මණ්ඩලයක් නොවේ. එහි තීරණයන් අධිකරණමය තීන්දුවක් ලෙස බල නොපවත්වන බව ද එම නඩු තීන්දුවේ සඳහන් වේ.

මේ අඩුපාඩු කම් මග හරවා, කාගේත් අනුමැතිය හා ගෞරවය පිරිනැමෙන පරිදි, සංඝාධිකරණයක් සකස් කරගත හැකිය: සකස් කරගත යුතුය.

සූවිස් විනිශ්චයකාරතුමා පැවසුවාක් මෙන්, බෞද්ධ ආගමික චාරිත්‍ර, විනය නීති රීති ආදියේ හසල බුද්ධියක් ඇති, ඥානවෘද්ධ, සංඝ සමාජයේ පොදු ගෞරවයට පාත්‍රවූ උගත් භික්ෂූන් වහන්සේලා, සංඝාධිකරණ මණ්ඩලයක සේවය සඳහා සපයා ගැනීම එතරම් දුෂ්කර කාරියක් නො වේ. උසාවි ගාණේ රස්තියාදු වෙමින්, ගිහියන්ගේ අවඥාවට හා බැනුම්වලට සංඝයා වහන්සේ ලක්වීම වහාම වැළැක්විය යුතු ය. වේගයෙන් පිරිහෙන සංඝ ගෞරවය රැකගැනීම සඳහා එය අවශ්‍යයෙන් ම කළ යුතු කාරියකි.

ඒ අතරම, එබඳු සංඝාධිකරණයකින්, කළ හැකි තවත් සේවයක් වෙයි. බෞද්ධ චාරිත්‍ර හෝ විනය හෝ එහි ඓතිහාසික සංවර්ධනය ගැන මනා වැටහීමක් නැති, අන්‍ය ලබ්ධික විනිශ්චයකාර වරුන් විසින් ප්‍රකාශ කරන ලද නඩු තීන්දු රාශියක් නිසා, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව, විහාරාධිපති පදවිය, සාංඝික දේපළ වැනි සංස්ථාවින් අද අමුතුම ස්වරූපයක් ගෙන, ගිහියන්ගේ දේපොළ උරුම ක්‍රම අනුගමනය කරන තැනට කරුණු යෙදී තිබේ. මෙය වළක්වා, අල්පේච්ඡ ජීවිතයක් පිළිගත් භික්ෂු සමාජයට ගැලපෙන පරිදි, එය සකස් කිරීම මහා සංඝයා අතරින්ම සිදුවිය යුතු කාරියකි. සමාජයේ අවශ්‍යතාවන් ගැන සැලකිලිමත් වන අතරම, ආගමික ප්‍රතිපත්ති හා මූලික විනය සිද්ධාන්තයනට පටහැනි නොවන පරිදි, ඒ ඒ සංස්ථාවන් හැඩ ගස්වා ගැනීම, ගිහියන් අධිපති කම් කරන සිවිල් උසාවියකට වඩා සංඝාධිකරණයක් මගින් සිදු කිරීම, භික්ෂු සමාජයේ ගෞරවයට ගැලපෙන්නකි. අතලොස්සක් දෙනාට සිදුවිය හැකි අලාභය හෝ පාඩුව නොව, පොදුවේ සංඝ සමාජය කෙරෙන් වැළැක්විය හැකි පරිහාණිය, ඊට සිදුවිය හැකි යහපත හා දිනාගත හැකි භක්ති පූර්ව ගෞරවය තකා, එය අප්‍රමාදව ඉටු කළ යුතු කාරියක් බව අපේ හැඟීමයි.



# 12 අධිකරණ තීරණ

විහාර නීතිය විෂයෙහි එළඹී අධිකරණ තීරණ හා විවිධ අර්ථකථනයන් ඒ ඒ විෂයයන් යටතේ වර්ග කොට පළ කිරීම නීතිය හදාරන්නවුන්ගේ පහසුව සඳහා වන්නේය.

දෙවෙනි මුද්‍රණයේ අතිරේක පරිච්ඡේදයක් වශයෙන්, 1980 වර්ෂය දක්වා වාර්තා කර ඇති නඩුතීන්දු මෙම පරිච්ඡේදයට ඇතුළත්ය.

නඩු තීන්දු වර්ග කිරීමේදී තීරණයේ හරය (Ratio decidendi) අනුව විෂයයන් තෝරා ගෙන ඇති අතර එකම නඩුවේදී කරුණු කිහිපයක් තීරණය කර ඇති කල්හි, දෙ-තුන් පළකම එකම තීන්දුව ගැන සඳහන් වී ඇත.

නඩුවාර්තා ගැන සඳහන් කිරීමේදී පහත සඳහන් කෙටිනාමයන් භාවිතය කරන ලදි.

නිව්ලෝ රිපෝට්ස් — නව නීති වාර්තා (න.නි.වා.)
සිලෝන් ලෝ වීක්ලි — සතිපතා ලංකා නීතිය (ස.ල.නී.)
සිලෝන් ලෝ රෙකෝඩර් — ලංකා නීති වාර්තා (ල.නී.වා.)
ශ්‍රෙනියර් රිපෝට්ස් — ශ්‍රෙනියර් වාර්තා. (ශ්‍රෙ.වා)
සුප්‍රිම්කෝට් සර්කියුලර් — ශ්‍රේෂ්ඨාධිකරණ චක්‍රලේඛන (ශ්‍රෙ.අධි.චලේ)
වැන්ඩස්ට්‍රාටන් අඩෝලිපි— වැන්.අ.ලි.

### ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික ක්‍රමය

විහාරාරම්භයේදී පූජාපත්‍රයේ සඳහන් පරිදි විහාරාධිපති පදවියට පත්වීම හෝ පත් කිරීම සිදුවන්නේය.

6 න.නි.වා. 313 – සංඝරතන – වීරසේකර
22 න.නි.වා. 323 – උන්නාන්සේ- උන්නාන්සේ
59 න.නි.වා. 412 – මොරොන්තුඩුවේ ධම්මානන්ද- බද්දේගම පියරතන

මුල් පූජාපත්‍රය විහාරාධිපති පත් කරන ක්‍රමය ගැන නිහඬ නම්, ශිෂ්‍යානු ශිෂ්‍ය පාරම්පරික ක්‍රමය අනුගමනය කළ යුතුයයි පූර්ව නිගමනයක් පවත්නේය. පූජාකළ දායකකාරකාදීන්ට පාලක බලයක් හිමිනොවේ.

6 න.නි.වා. 313 - සංඝරතන - වීරසේකර
2 ශ්‍රෙ.අධි.චලේ. - 26 (1879) රතනපාල - කෙව්ටියගල
5 ශ්‍රෙ.අධි.චලේ. 8 (1883) වැලිගම ධම්මජෝති - වැලිගම සාරානන්ද
16 න.නි.වා. 408 ධම්මජෝති - සෝභිත.
20 න.නි.වා. 385 සරණංකර - ඉන්ද්‍රජෝති.

39 න.නි.වා. 251 සුමනතිස්ස - ගුණරතන.
65 න.නි.වා. 388 වංගීස - සුනන්ද.
3 ල.නි.වා. 25 ධම්මරක්ඛිත - ගුණරතන
9 ල.නි.වා. 159 තෙරුන්නාන්සේ - තෙරුන්නාන්සේ.

ශිෂ්‍යයින් අතුරින් ඕනෑම ශිෂ්‍යයෙකු විහාරාධිපති පදවියට පත්කළ හැකිය.

5 (1883) ශ්‍රෙ.අයි.වලේ. 235 සුමංගල - සෝභිත.
20 න.නි.වා. 385 සරණංකර - ඉන්ද්‍රජෝති.
41 න.නි.වා. 401 ධම්මරක්ඛිත - විජිත
51 න.නි.වා. 372 ප්‍රේමානන්ද - සෝරත
වැන්ඩස්ට්‍රාටන් අධෝලිපි F

අනුශිෂ්‍යයකු හෝ ආගන්තුක භික්ෂුවක් විහාරාධිපති පදවියට නම් කොට, ශිෂ්‍ය පරම්පරාවට හිමි අධිපතිකම ඔවුනට අහිමි කළ නොහැකිය.

1 මාතර කේසය් 236 තේරුන්නාන්සේ - තෙරුන්නාන්සේ.
16 න.නි.වා. 408 ධම්මජෝති - සෝභිත.
5 බාල. වා. 39 ඉන්ද්‍රජෝති - රත්නජෝති.
12 ල.නි.වා. 52 පු විරාල - ධම්මානන්ද
31 න.නි.වා. 161 තෙරුන්නාන්සේ - තෙරුන්නාන්සේ.
48 න.නි.වා. 11 පුංචිරාල - ධම්මානන්ද.
56 න.නි.වා. 284 ධම්මවිසුද්ධි - ධම්මදස්සි.
64 ස.ල.නි. 52 සංඝානන්ද - සුමනතිස්ස.

ශිෂ්‍යපරම්පරාව අවසන්වූ විට - අනුශිෂ්‍යයා විහාරාධිපති පදවියට පත්වේ.

4 ශ්‍රෙ. අයි. වලේ. 121 ධම්මජෝති - පරණතලේ.
46 න.නි.වා. 51 ප්‍රනාන්දු - ජිනාලංකාරතිස්ස.
3 නිති. වාත්‍ර. 143 දිසා අධිකරණය කුරුණෑගල 19413.
3 ශ්‍රෙනියර්වාර්තා 66
69 න.නි.වා. 514 ධම්මසාර - කල්‍යාණවංස

ශිෂ්‍ය පරම්පරාව අවසන්වූ කල්හි, පත්කළ හැකි අන් හිමිවරුන් නොමැති විට, විහාරය ''සාංඝික'' බවට පත්වේ: එවිට නිකායේ නායක හිමියනට එම විහාරාධිපති පදවියට සුදුස්සකු පත්කළ හැකිය.

(1893) 3 සී.එල්.ආර්. 14 සුමන - කන්දප්පුහාමි
14 න.නි.වා. 400 ධම්මරතන - සුමංගල
2 ව.නි.වා. current law Reports 83
57 න.නි.වා. 519 ධම්මාලෝක - සරණපාල

එක භික්ෂුවකට ආචාර්යයන් වහන්සේ දෙනමකගේ ශිෂ්‍ය භාවයට පත්විය හැකිය. ඔවුන් දෙදෙනම ඇවෑමෙන් හිමිකම් ලද හැකිය.

16 න.නි.වා. 408 ධම්මජෝති - සෝභිත.



ආචාර්යයන් වහන්සේ අත්හැර ගිය කල්හි, ශිෂ්‍යයා ආචාර්යයන් වහන්සේ ඇවෑමෙන් විහාරාධිපති පදවියට පත්වීමේ අයිතියට අහිමිවේ.

65 න.නි.වා. 459 උපනන්ද - සෝභිත

ගුරු ශිෂ්‍ය සම්බන්ධය - ශිෂ්‍යයා, ගුරුවරයා විෂයෙහි දුන් තීරණයකින් බන්ධනය වේද?

62 න.නි.වා. 193 පියරතන - ප්‍රේමානන්ද.

විහාරය අත්හැර ගිය ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා ගුරුන් ඇවෑමෙන් විහාරාධිපති පදවියට පත්වීමේ අයිතියට අහිමිවේ.

18 ල.ස.නි. 219 ධම්මපාල - සුමංගල

මහණ කිරීමෙන් ලබන ශිෂ්‍යභාවය හා උපසම්පදාවෙන් ලබන ශිෂ්‍යභාවය; ජ්‍යෙෂ්ඨත්වය ලබනුයේ මහණ කිරීමෙන් ද? දුස්සාධ්‍ය ව්‍යාධියකදී තාවකාලිකව උපැවිදි වූ පමණින් හිමිකම් අහෝසි වන්නේද?
42 න.නි.වා. 361 සෝමරතන - ජිනරතන
21 ල.ස.නි. 68 — එම —

අනුශිෂ්‍යයකුට විහාරාධිපති පදවියට පත්විය හැකිය.

22 න.නි.වා. 318 සිරිනිවාස - සාරානන්ද
ශිෂ්‍යයකු නොමැති කල්හි අනුශිෂ්‍යා විහාරාධිපති පදවියට පත්වේ.
78 න.නි.වා. 471 සරණපාල සෝරත. (1976)
ශිෂ්‍යයකු හා අනුශිෂ්‍යයකු අතුරින් විහාරාධිපති පදවිය හිමිවන්නේ ශිෂ්‍යයාටය.
26 න.නි.වා. 257 ගුණානන්ද - දේවරක්ඛිත.
(22 න.නි.වා. 318 සිරිනිවාස - සාරානන්ද තීරණය නිෂ්ප්‍රභා කිරීමකි).

ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව කුමක්ද: අවරෝහණ (Decending line) පරම්පරාව මිස ආරෝහණ පරම්පරාව (Ascending line) ඊට අයත් නොවේ.

59 න.නි.වා. 79 අත්ථදස්සි - ඉන්ද්‍රජෝති

**ශිෂ්‍ය වර්ග:**

ශිෂ්‍යානුශිෂ්‍ය - ඥාතිශිෂ්‍ය - සිවුරු පරම්පරාව - හදවඩාගත් (Adoption) ශිෂ්‍ය.
1 සි.එල්.ඩබ්ලිව්. (ල.ස.නි.) 290 ඉන්ද්‍රජෝති - සරණංකර
42 ල.ස.නි. 83 පුඤ්ඤානන්ද - වැලිවිටියේ සෝරත.
ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාගේ අනුමැතිය ඇතිව, ශිෂ්‍යපරපුර අතුරින් කැමැති ශිෂ්‍යයකු විහාරාධිපති පදවියට තෝරා පත්කර ගත හැකිය.
16 ස.ල.නි. (සිලෝන් ලෝ වීක්ලි) 127 ධම්මරක්ඛිත - විජිත.
19 ල.නි.වා. 86 — එම —
41 න.නි.වා. 401 — එම —
ශිෂ්‍යයෙකුට විහාරාධිපති පදවිය හිමිවීමේ අයිතිය අත්හළ හැකිද?

52 ල.ස.නි. 81 නන්දරාම - රතනපාල,
57 න.නි.වා. 4457 —එම—
59 න.නි.වා. 289 වතුගෙදර අමරසීහ - සාසනතිලක.

පැවිද්ද උපසම්පදාවට වඩා ජ්‍යෙෂ්ඨය.

21 ල.ස.නි. 68 සෝමරතන - ජිනරතන.

පැවිදි - උපසම්පද කර්මය පිළිබඳ සාක්ෂි - ලිඛිත සටහන් අවශ්‍යම නැත.

61 න.නි.වා. 76 සරණජෝති - ධම්මාරාම

විහාරාධිපති පදවියට නම් කිරීම ඔප්පුවකින් හෝ අන්තිම කැමති පත්‍රයකින් පමණක් සිදුකළ යුතුයයි නියමයක් නැත.

40 න.නි.වා. 262 පියතිස්ස - සරණපාල
17 ස.ල.නි. 106 සද්ධානන්ද - ධම්මසිරි

නොතාරිස් ලේඛනයක් අවශ්‍ය නැත.

11 ස.ල.නි. 142 සද්ධානන්ද තිස්ස - ගුණානන්ද.
39 න.නි.වා. 430 ධම්මසිරි - සුධීරානන්ද

ලිඛිත පත්වීමක් අවශ්‍ය නැත.

57 න.නි.වා. 469 ධම්මවිසුද්ධි - ධම්මදස්සි

අන්තිම කැමති පත්‍රය - පසුව ශිෂ්‍යභාවය පිළිගත් ලිපියකින් අහෝසි වූයේ නැත.

32 න.නි.වා. 241 ගුණානන්ද - දීපාලංකාර

බෞද්ධ විහාර දේවාලය ගම් නීතිය මෙම පත්වීමේ ක්‍රමය කෙරෙහි බලපා නැත.

11 ස.ල.නි. 142 සද්ධානන්ද තිස්ස - ගුණානන්ද.

### විහාරාධිපති පදවිය

විහාරාධිපති පත්වීම් ලේඛනයේ පදමාලා වෙන්ම දායක චේතනාව නිගමනය කළ යුතුය.

32 ස.ල.නි. 11 ජිනරතන - සෝමරතන.
80 ස.ල.නි. 61 ගුණසිරි - ධම්මානන්ද

බෞද්ධ විහාර දේවාලගම් පනත 10,11 වගන්ති.

36 ස.ල.නි. 68 බුද්ධරක්ඛිත - මහාභාරකරු.

බෞ. වි. දේ. පනත 4 (2) ''විහාරාධිපති කවුද?''

52 ස.ල.නි. 14 තෝමස් පෙරේරා - ප්‍රේමානන්ද.

විහාරාධිපතින් වහන්සේගේ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා, විහාරාධිපතීන් වහන්සේට පෙර අපවත් වූ කල් හි ඊළඟ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාට එම පදවියට පත්වීමේ අයිතිය



හිමිවේ. අපවත්වූ ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයාගේ ශිෂ්‍යයින් වෙත එම අයිතිය නොපැවරේ.

20 ස.ල.නි. 1 විපුලානන්ද - පඤ්ඤාසාර.

කාලාවරෝධයෙන් විහාරාධිපති පදවිය බුක්තියට සවිනොවේ.

20 ස.ල.නි. 1 විපුලානන්ද - පඤ්ඤාසාර.
19 ල.නි.වා. 143 සෝභිත - නිම්ලබුද්ධි.
(1977) 77 න.නි.වා. 145 ධම්මධජ - විමලජෝති

**විශේෂ නඩුතීන්දු කිහිපයක්**

අමරපුර නිකාය රාමඤ්ඤ නිකාය - ශිෂ්‍යභාවය.

31 න.නි.වා. 259 මාලාලංකාර - සීමානන්ද.

**උපැවිදිවී අනතුරුව මහණවීම.**

31 න.නි.වා. 285 ධම්මානන්ද - ධම්මපාල.

විහාරවයාධිපතිගේ ශිෂ්‍ය භික්ෂූන්ගේ අයිතිවාසිකම්.

3 ල.නි.වා. 15 ගුණරතන - ධම්මානන්ද.

**විහාරාධිපති පදවිය අත්හැරීම කවර අයුරින්ද: එහි විපාක.**

42 ස.ල.නි. 83 පුඤ්ඤානන්ද - සෝරත
41 න.නි.වා. 235 ධම්මපාල - සුමංගල
51 න.නි.වා. 372
57 න.නි.වා. 372 ජිනරතන - ධම්මරතන.
58 න.නි.වා. 29 පොඩියා - සුමංගල.
59 න.නි.වා. 289 අමරසීහ - සාසනතිලක.
66 න.නි.වා. 394 සංඝානන්ද - සුමනතිස්ස.
67 න.නි.වා. 559 ධීරානන්ද - රත්නසාර.
76 න.නි.වා. 73 ධම්මතිලක - ධම්මරතන.
53 ස.ල.නි. 2 ජිනරතන - ධම්මරතන.
67 ස.ල.නි. 71 ධීරානන්ද - රතනසාර.

**විහාරාධිපති පදවිය, ජීවමානව සිටියදී අත්හළ නොහැකිය.**

(1977) 79 න.නි.වා. 145 ධම්මධජ - විමලජෝති (රජ පස්කවුන්සිල තීන්දුවකි).

විහාරාධිපති පදවිය: නොබෙදිය හැකි ඒකීය අයිතියකි. හවුලේ දැරිය හැකි නොවේ.

16 න.නි.වා. 408 - ධම්මජෝති - සෝභිත.
20 න.නි.වා. 385 සරණංකර - ඉන්දජෝති.
32 න.නි.වා. 271 පියරතන - මේධංකර.
66 න.නි.වා. 178 පියනන්ද - සුමනජෝති.
3 ල.නි.වා. 11 සිරිනිවාස - සාරානන්ද.

විහාරාධිපති පදවිය: තවටුමාරු ක්‍රමයට දැරිය හැකිය.

29 න.නි.වා. 415 }
9 ල.නි.වා. 33 } දේවේන්ද්‍ර - සුමංගල

ශිෂ්‍යයින් එකිනෙකා ඇවෑමෙන් විහාරාධිපති පදවියට පත්විය හැකිය.

32 න.නී.වා. 271 පියරතන - මේධංකර.
66 න.නී.වා. 178 පියනන්ද - සුමණජෝති.

පරිපාලක විහාරාධිපති : පදයේ අර්ථය.

බෞ.වි.දේ. පනත 4 (1).
56 න.නී.වා. 413 ප්‍රේමානන්ද - තෝමස් පෙරේරා.
45 ස.ල.නී. 47 රොමානිස් ප්‍රනාන්දු - විමලසිරි ථෙර.
38 ස.ල.නී. 53 පුංචිරාල - ධම්මානන්ද.

සාංඝික දේපොල - කවරේද?

65 න.නී.වා. 196 ඥානිස්සර - පඤ්ඤාසේඛර.
65 න.නී.වා. 351 විමලරංසි - මැතිව්.

විහාරය යනු කුමක්ද?

බෞ. වි. දේ. පනත 2 වගන්තිය.
53 න.නී.වා. 245 රොමානිස්අප්පු - විමලසිරි හිමි.
54 න.නී.වා. 391 ගුණරතන - WS නායක තෙර.

නටබුන් වුවද විහාරයක් සේ පවතී.

49 න.නී.වා. 391.

**භාරකාර පදවිය සහ ආනුශංගික කරුණු**

බෞද්ධ විහාර දේවාල ගම් පනත 3 වගන්තිය යටතේ ප්‍රකාශය අධිකරණය මගින් පිළිගත යුතු බව

29 ස.ල.නී. 77 ගුණානන්ද - අතුකෝරල සහ තවත් අය.

බෞ.වි.දේ. පනත 4 (1)

භාරකරුට නඩු පැවරිය නොහැකිය. 17 ස.ල.නී. 189
65 න.නී.වා. 116

තේවාව භාර භික්ෂුව
33 ස.නී.ල. 60
47 න.නී.වා. 553 ශ්‍රී ධම්මසිද්ධි - ධම්මදස්සි

භාරකරුවකු නොමැති කල්හි විහාරාධිපතීන් වහන්සේ කළ බදුදීම නීත්‍යානුකූලය. 28 න.නී.වා. 88.

බෞ.වි.දේ. පනත 20 වගන්තිය. 68 න.නී.වා. 286
විහාරාධිපතීන් වහන්සේට නඩු පැවරිය නොහැකිය 34 න.නී.වා. 348.

භාරකරු වශයෙන් නඩු පැවරිය හැකිය. 19 න.නී.වා. 204.

තාවකාලික භාරකරුට හිමිකම් තිබේ.
52 න.නී.වා. 150 අල්ගම - බුද්ධරක්ඛිත.



බෞ.වි.දේ. පනත 4,18,20,26 ජේදය

68 න.නී.වා. 286 තෙරුන්නාන්සේ - අන්ද්‍රයස් අප්පු.

ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික හිමිකමක් නොමැතිව නඩු පැවරිය නොහැකිය.

48 න.නී.වා. 11 පුංචිරාල - ධම්මානන්ද.

බෞ.වි.දේ. පනත 3, 11 වගන්ති.

65 න.නී.වා. 116 පෙරේරා - මැතිව්.

බෞ.වි.දේ.පනත 4(2), 10(1) වගන්ති: හිමිකම් ප්‍රකාශ නඩු.

නව පත්වීමක් ලබා නඩුව පවත්වා ගෙන යා නොහැකිය.
69 න.නී.වා. 438 විරමන් - සෝමරතන හිමි.

තාවකාලික භාරකරු: නඩුකරය පවත්වාගෙනයා නොහැකිය.

16 න.නී.වා. 385 අප්පුසිංඤ්ඤො - බාලසූරිය.
19 න.නී.වා. 204 ප්‍රනාන්දු-ප්‍රනාන්දු.

නව භාරකාරයකු පත්කිරීම.

19 න.නී.වා. 36 ගෝනා මැරුවැව නඩුකින්දුව.




භාරකරු අස්කිරීම.
13 න.නී.වා. 207 නුගවෙල - රත්වත්තෙ.
14 න.නී.වා. 150.
14 න.නී.වා. 444

භාරකරු පත්කිරීම

15 න.නී.වා. 225 මුතියංගන විහාර භාරකරු - බංඩාර

භාරකරු පෞද්ගලිකව ගිවිසුම විෂයෙහි වග කිව යුතුය.

23 න.නී.වා. 261 මාරලිය - ගුණසේකර.

භාරකරු වෙත නීත්‍යානුකූල අයිතිය පැවරේ : විහාරාධිපතීන් වහන්සේට විහාර දේපළ පරිහරණයට සම්පූර්ණ අයිතිය ඇත.

28 න.නී.වා. 145 ගුණරතන නාහිමි - පුංචිබංඩා කෝරාළ.

නෛතික භාරකරුට නඩු පැවරිය හැකිය.
28 න.නී.වා. 239 සිල්වා - බංඩා.

භාරකරු - නඩුගාස්තු පෞද්ගලිකව නොගෙවිය යුතුය.

29 න.නී.වා. 255 ජාලත්පේඩිගේ අබද්ද - වෙදදුරයලාගේ අබද්ද.

භාරකරු - කළ හැකි වියදම්.

31 න.නී.වා. 177 අබේසේකර - මාරලිය.

බෞ.වි.දේ. පනත යටතේ භාරකරු - සංස්ථාපිත ආයතනයක් නොවේ.

35 න.නි.වා. 157 හේලි – නුගවෙල.

බස්නායක නිලමෙ – මරණයට පසු ආදේශකළ හැකිද?

71 න.නි.වා. 350 චාල්ස් අප්පු කපුරාල – මාතිස් අප්පු.

මහණවීම නිසා, භික්ෂුවකට උඩරට නීතිය යටතේ මවගේ උරුමය අහිමි නොවේ.

26 න.නි.වා. 111 මැණිකා – නෙයිනා.

මහා සංඝසභා අධිකරණයක තීන්දුව අනියම් පරිදි එළඹියේ නම, අවලංගු කළ හැකිය.

11 න.නි.වා. 360.
31 න.නි.වා. 161 තෙරුන්නාන්සේ – තෙරුන්නාන්සේ
55 න.නි.වා. 313.

විහාරය – නෛතික පුද්ගලයෙක්ද?

36 න.නි.වා. 422 සද්ධානන්ද - සුමනතිස්ස.
54 න.නි.වා. 391.
47 ස.ල.නි. 95
62 න.නි.වා. 48 බුද්ධරක්ඛිත - විජයවර්ධන.

විහාරයකට දේපොළ අයිතිකර ගත හැකිද? ගො හැකිය.

58 ස.ල.නි. 1 විජයවර්ධන - බුද්ධරක්ඛිත.
59 න.නි.වා. 121 —එම—
62 න.නි.වා. 48 බුද්ධරක්ඛිත - විජයවර්ධන.

විහාරාධිපතිට, විහාර සන්තක දේපළ පිළිබඳ හිමිකම් ප්‍රකාශයක් පතා නඩු කිව නොහැකිය. (1931 අංක 19 පනත යටතේ)

40 න.නි.වා. 41 ඩයස් - රතනපාල හිමි.

විහාරාධිපතිට විහාර සන්තක දේපොළ බුත්තිය සඳහා නඩු කිවහැකිය.

50 න.නි.වා. 126 මැණිකා - ධම්මානන්ද හිමි.

34 න.නි.වා. 348.
14 න.නි.වා. 348
37 න.නි.වා. 19.

ආචාර්යපාදයන්ගේ විහාරස්ථානයෙන් නඩත්තුව සඳහා ශිෂ්‍යයකුට ඇති අයිතිය-

සාධාරණ දීමනාවකට අයිතියක් තිබේ.



31 ස.ල.නි. 55 අනපත්තු - ප්‍රේමානන්ද හිමි.

සියලු පාරම්පරික ශිෂ්‍යයනට නේවාසිකව සිටීමටත් එහි ආදායමින් යැපීමටත් හිමිකම් ඇත.

20 න.නි.වා. 385
22 න.නි.වා. 318.

විහාරාධිපතිට භාරකරුගෙන් ගතවූ කාලය සඳහා නඩත්තුව ඉල්ලිය නොහැකිය.

13 ස.ල.නි. 140 දේවරක්ඛිත - බඹරදෙණිය.
29 න.නි.වා. 249 ගුණරතන - පුංචිබංඩා.

අනාගත නඩත්තුව සඳහා අයිතියක් තිබේ.

46 න.නි.වා. 538 පේමානන්ද - සරණපාල.

භික්ෂුවක් විහාරයෙන් ඉවත්කළ හැකිද?

නඩුව පරාදවූ පමණින්ම ඉවත් කළ නොහැකිය.
17 ල.නි.වා. 106.
18 න.නි.වා. 24.
23 න.නි.වා. 24
47 න.නි.වා. 460.

ඇතැම් ක්‍රියා කලාපයන් අනුව ඉවත් කළ හැකිය.
34 ස.ල.නි. 40.
47 න.නි.වා. 460.

සාංඝික දේපොළ නොවේ නම් ඉවත් කළ හැකිය.

56 න.නි.වා. 369 විමලසාර - පොරෝලිස් ප්‍රනාන්දු.

''පාරාජිකා'' යනු කවරේද?

9 ල.නි.වා. 98
11 ස.ල.නි. 116.
14 න.නි.වා. 403
39 න.නි.වා. 186
40 න.නි.වා. 335.
49 න.නි.වා. 407

''සොර භික්ෂුව''

41 න.නි.වා. 78

''අධිකාරි භික්ෂුව''

26 න.නි.වා. 257

භික්ෂුරිජිස්ටරය

නම ඉවත්කළ හැකිද?

39 න.නී.වා. 186
46 න.නී.වා. 235
42 න.නී.වා. 251.
46 න.නී.වා. 519
61 න.නී.වා. 273
(1881) 4 ශ්‍රෙ.අධි. වලේ. 121.

දේවාලය හා කපුරාල : අනුප්‍රාප්තිකයින්ගේ අයිතිය.

69 න.නී.වා. 357.
70 න.නී.වා. 231
71 න.නී.වා. 350.
77 න.නී.වා. 172.
77 න.නී.වා. 289.

බෞ.දේ. නීතිය අදාල නොවේ.

41 න.නී.වා 527.
49 න.නී.වා. 17.

**මාලිගාකන්ද පිරුවන ;**

59 න.නී.වා. 412 ඥානිස්සර - පියරතන.

65 න.නී.වා. 196 ඥානිස්සර - පඤ්ඤාසේඛර.

ශ්‍රී පාදස්ථානය.

57 න.නී.වා. 78.

දියවඩන නිලමෙ.

17 ල.නී.වා. 96

විහාරාධිපති නඩුවකදී පාශ්වකරුවකු අපවත් වූ කල්හි, අදේශික කොට නඩුව පවත්වාගෙන යා හැකිද? සිවිල් නඩු විධාන 404.

හැකිය.
69 ස.ල.නී. 8 පඤ්ඤානන්ද - සුමංගල.
(1965) 68 න.නී.වා. 367. — එම —
නොහැකිය.
(1958) 60 න.නී.වා. 7 සිරානන්ද - රතනසාර.

සංඝාධිකරන තීන්දු: අධිකරණය මගින් ක්‍රියාත්මක කළ හැකිය.

55 න.නී.වා. 313 සරණංකර - ධම්මානන්ද.



**සාංඝික දේපොල හා පෞද්ගලික දේපොල.**

සාංඝික දේපොළ 1887 අංක 7 ආඥාව යටතේ නාගරික බදුවලින් නිදහස් කර ඇත.

7 න.නී.වා. 167 මුදියන්සෙ - මහනුවර නගර සභාව.
9 න.නී.වා. 374 ප්‍රනාන්දු - මහනුවර නගර සභාව

පූජා කිරීමට පෙර බලපත්‍ර ලබා ගත යුතු නැත.

24 න.නී.වා. 464 සිල්වා - විපුලසේන සභා.

පරවේණි පංගුවක් බෞ.වි.දේ. පනතේ 27(1) වගන්තියට අදල නොවෙ.

37 න.නී.වා. 109 පියරතන හිමි - නන්දිනා.

පෞද්ගලික දේපොල ''ජීවමානව සිටියදී අන්සතු කිරීම'' යනු කවරේද බෞ.වි.දේ. පනත 23 වගන්තිය.

විහාර සන්තක බවට පත්වේ.
44 න.නී.වා. 365 රඹුක්වැල්ලේ සිද්ධාර්ථ හිමියන් අන්තිම කැමති පත්‍රය පිළිබඳ නඩුව.

විහාරස්ථ භූමියේ පන්සල විහාර සන්තකය.

39 න.නී.වා. 236 පියරතන - සෝනුත්තර

විහාරාධිපති මිලටගත් ඉඩම - සාංඝිකයයි පූර්ව නිගමනය.

47 න.නී.වා. 304 චන්ද්‍රවිමල - සියදෝරිස්.

විහාර සන්තක නුවූ කුඹුරක් විහාරය බුක්ති විඳි කල්හි එය විහාර සන්තක වෙ. එහි බුක්තිය සඳහා නඩු පැවරිය හැක.

50 න.නී.වා. 126 මැණිකා - ධම්මානන්ද හිමි.

භික්ෂුවක් පෞද්ගලිකව උපයාගත් දේපළ, උපැවිදි වුවද ජීවමානව සිටියදී අන්සතු නොකරනලද නම් විහාර සන්තක වේ.

57 න.නී.වා. 16 විලියම් සිඤ්ඤො - ධම්මජෝති.

බෞ.වි.දේ. පනත 23 වගන්තිය.
පෞද්ගලික දේපොළ බව ඔප්පු කළ යුතුය.

68 න.නී.වා. 178 } පියරතන - ජිනානන්ද.
66 ස.ල.නී. 78 }

වරක් සාංඝික කොට පූජාකළ දෙපොළක් ආපසු ගත නොහැකිය.

57 ස.ල.නී. 55 ධර්මවංස - උක්කුබංඩා.

**විහාර බුක්තියට සවිකළ හැකිද?**

භාරකරුව පැවරුනු විහාර දේපොල සඳහා විහාරාධිපතිට නඩු පැවරිය නොහැකිය.

34 න.නී.වා. 345 තෙරුන්නාන්සේ - දෙන් ආරොන්.

විහාරාධිපතිට විහාරය වෙනුවෙන් බුත්තියට හිමිකර ගත හැකිය.

37 න.නී.වා. 19 රණසිංහ - ධම්මානන්ද.

විහාරාධිපති පදවියක් බුත්තියට සවිකරගත නොහැකිය.

(1955) 56 න.නී.වා. 322 සුමංගල - පියදස්සී.

20 ස.ල.නී. 119 විපුලානන්ද - පඤ්ඤාසාර.

විහාරාධිපති කෙනෙකු පත් කිරීමට මහානායක සතු අයිතිය කාලාවරෝධයෙන් අහෝසි නොවේ.

(1956) 57 න.නී.වා. 518 ධම්මාලෝක - සරණපාල.

තෙවසරකට පසු විහාරාධිපති පදවිය සඳහා නඩු පැවරිය නොහැකිය.

(1938) 40 න.නී.වා. 235 }
40 ස.ල.නී. 116. } ප්‍රේමරතන - ඉන්දසාර.

මෙම තීන්දුවේ නිරවද්‍යතාවය ගැන සැක උපදවා ඇත.

50 ස.ල.නී. 43 සරණංකර - ධම්මානන්ද.

කාලාවරෝධ පනතේ 3 වගන්තිය බල නොපායි. තෙවසරක් ඉකුත් වුවද නඩු පැවරිය හැකිය.

(1977) 79 න.නී.වා. 145 ධම්මධජ — විමලජෝති.

(රජ පස් කට්ටුවක තීන්දුවකි.)

භික්ෂුව "අයිති" විහාරය කුමක්ද? බෞ. දේ. වි. පනත 23 වගන්තිය අපවත්වනවිට තත්වය අනුව එය තීරණය කළ යුතුයි.

5 ස.ල.නී. 43 දේවරක්ඛිත - සුමංගල.

විහාරයකට පූජාකළ වස්තුවක් විහාරාධිපති සන්තක වන්නේය. උන්වහන්සේ ඇවෑමෙන් ඊළඟ විහාරාධිපතීන්ට පැවරේ.

10 ස.ල.නී. 78 ධම්මානන්ද — දෙන් දවිත් රණසිංහ.

භික්ෂුවගේ ජීවිතාරක්ෂණ මුදල් : මරණින් පසු සාංඝික වෙයි.

15 ස.ල.නී. 20 ධම්මාධාර - සේදරංහාමි.

භික්ෂුවගේ අන්තිම කැමැති පත්‍රය පෞද්ගලික දේපොළ අන්සතු කිරීමක් නොවේ.

25 ස.ල.නී. 86 සුමන - රඹුක්වැල්ලේ.

ශිෂ්‍ය භික්ෂුව, විහාරාධිපතීන් වහන්සේගේ උරුමක්කාරයකු නොවේ.

2 න.නී.වා. 380 සෝමාලෝක - සෝමාලංකාර.

**කපුරාල: පාරම්පරික උරුමය**

පියාගේ දුසිරිත් නිසා ඔහු පදවියට අහිමි වුවද ඔහුගේ උරුමක්කාරයින්ට ඉන් හානියක් නොවේ.

(1971) 77 න.නී.වා. 172 පනන්වල බස්නායක නිලමෙ
පුංචිබංඩා දිසානායක

**මහා සමන්දේවාලය — රත්නපුර**

මහ කපුරාල පදවියක් නොමැතිවිට කපුරාලකෙනකු පත් කළ නොහැකිය.

(1971) 77 නී.නී.වා. 289 වේරගම — බංඩාර.



# උප ග්‍රන්ථය

## බෞද්ධ විහාර දේවාල ගම් ආඥා පනත

### 222 වෙනි පරිච්ඡේදය

( දැන් 318 වෙනි පරිච්ඡේදය )

318 වෙනි පරිච්ඡේදය

# බෞඩ විහාර දේවාල ගම් ආඥා පනත

ලංකාද්වීපයේ බෞද්ධ විහාර දේවාල ගම් පිළිබඳ නීතිය සංශෝධනය කිරීමේ හා ස්ථාපිත කිරීමේ ආඥා පනත.

**වෂ 1931 අංක 19** දරන පනත. 9/1940 14/1941 32/1947 22/1955 11/1968 34/1973 22/1980

(1931 නොවැම්බර් 1)

**1 වෙනි කොටස**

## ප්‍රාරම්භය

කෙටි නාමය

1. මෙම ආඥා පනත බෞද්ධ විහාර දේවාලගම් පනත යනුවෙන් හඳුන්වනු ලැබේ.

අර්ථ විවරණය

2. මෙම ආඥා පනතේ ප්‍රකරණාර්ථ වශයෙන්, වෙනස් අර්ථයක් අවශ්‍ය වුවහොත් මිස,

'භික්ෂුව' යනුවෙන් උපසම්පන්න හෝ සාමණේර භික්ෂුවක් අදහස් කෙරේ.

'උසාවිය' යනුවෙන් ප්‍රශ්නයට අදල වන කාරණය කෙරෙහි අධිකරණය බලය ඇති දිස්ත්‍රික් උසාවිය අදහස් කෙරේ.

'මාරුවෙන පංගුව'' යනුවෙන් විහාරයක්, යටතේ අභිමත බදු කාරයකු හෝ වැඩි දෙනෙකු බුක්ති විඳින, විහාරයට රාජකාරි සේවය කිරීමේ හෝ බදු ගෙවීමේ ක්‍රමයට භාජනය වූ ඉඩම් කැබැල්ලක් අදහස් කෙරේ.

''පරවේනි පංගුව'' යනුවෙන් විහාරයකට රාජකාරි සේවය කිරීමේ හෝ බදු ගෙවීමේ ක්‍රමයට යටත් වූ, පාරම්පරික බදුකාරයෙකු හෝ වැඩි දෙනෙකු බුක්ති විඳින ඉඩම් කැබැල්ලක් අදහස් කෙරේ.

මෙම පනතේ සඳහන් වෙන ''මහා බාරකාර තැන'' යනුවෙන්, මහා බාරකාර පනත අනුව පත් කළ මහා බාරකාර තැන මිස, ඔහු වෙනුවෙන් පෙනී සිටින්නෙක් හෝ පෙනී සිටින්නෝ අදහස් නොකෙරෙති.

1968 අංක 11 සංශෝධනය.

''රෙජිස්ට්‍රාර්ජනරාල්'' යන පදයට ඕනෑම සහකාර රෙජිස්ට්‍රාර් ජනරාල් වරයෙක්ද ඇතුළත්ය.

''විහාරස්ථානය''

යනුවෙන් විහාරය, දාගැබ, දේවාලය, කෝවිල, ආවාසය හෝ ඕනෑම බෞද්ධ සිද්ධස්ථානයක් අදහස් කෙරේ. දළදා මාළිගාව, ශ්‍රී පාදස්ථානය සහ අනුරාධපුර අටමස්ථානය ද මීට ඇතුළත්ය.

''භාරකාරයා'' යනුවෙන් මේ පනත යටතේ පත්කළ, විහාරයක භාරකාර තැන ද, දියවඩන නිලමේ ද බස්නායක නිලමේලා ද, අටමස්ථාන කාරක සභා ද අදහස් කෙරෙති.

''විහාරාධිපති'' යනුවෙන් දේවාලයක හා කෝවිලක හැර, විහාරයකට අධිපති භික්ෂුව, එහි නේවාසික වුව ද නොවුව ද අදහස් කෙරේ.

පනතින් පාලනය වන විහාරස්ථාන

3. මේ ආඥා පනත, දිවයිනේ හැම විහාරස්ථානයක් කෙරෙහිම බල පැවැත්විය යුතුය. දළදා මාළිගාය, ශ්‍රී පාදස්ථානය, හා අටමස්ථානය හැර, වෙන ඕනෑම විහාරස්ථානයක් ගැන පොදුවේ හෝ වෙනත් අයුරකින් කරන සඳහනකින්, මේ පනතේ කිසියම් නීතියකින් හෝ සියලුම නීති වලින්, ආණ්ඩුවේ ගැසට් පත්‍රයේ පළ කරන අග්‍රාණ්ඩුකාර තුමාගේ ප්‍රකාශනයක් මගින් එය නිදහස් කළ හැකිය.

විහාරය සතු දේපළ පාලනය

4. (1) මේ අනුජේදය බල පැවැත්වීමෙන් නිදහස් නොකරන හැම විහාරස්ථානයක්ම සන්තක දේපළ පිළිබඳ පාලනය, මේ පනත යටතේ භාරකාරයා ලෙස යථා පරිදි පත් කරනු ලැබූ පුද්ගලයෙකු හෝ පුද්ගලයින් වෙත පැවරිය යුතුය.

(2) ඉහත සඳහන් අනුජේදය බල පැවැත්වීමෙන් නිදහස්කළ ද සම්පූර්ණ ආඥාපනත බල පැවැත්වීමෙන් නිදහස් නොකළ හැම විහාරස්ථානයක්ම සන්තක දේපළ පිළිබඳ පාලනය මින් මතු ''පරිපාලක විහාරාධිපති'' හැටියට සඳහන් කරනු ලබන, ඒ ඒ විහාරයේ විහාරාධිපති කෙරෙහි පැවරිය යුතුය.

මහා භාරකාර තැනගේ බලතල

(3) මේ ආඥාපනතින් පනවන ලද බලතල වල ප්‍රමාණය පරිදි, හැම භාරකාරයෙක් හා හැම පරිපාලක විහාරාධිපති කෙනෙක්ම මහා භාරකාර තැනගේ නිරීක්ෂණයට භාජනය විය යුතුය. ඒ නිරීක්ෂණයෙහි ලා මේ පනතේ රෙකුලාසි වලින් ප්‍රකාශිත පරිදි, මහා භාරකාර තැන උපදේශක මණ්ඩලයක සහාය ලැබිය යුතුය.



6. (1) 5 වෙනි ජේදයේ සඳහන් උපදේශක මණ්ඩලය පස් වර්ෂයකට අධික නොවන කාලයක් සඳහා අග්‍රාණ්ඩුකාර තුමා විසින් පත් කරනු ලැබූ පස් දෙනෙකුගෙන් සමන්විත විය යුතුය. මේ පස් දෙනාගෙන් දෙදෙනෙක්, පත් වෙන විට නියෝජිත මන්ත්‍රී මණ්ඩලයේ සාමාජිකයෝ විය යුතු වෙති.

(2) එකී උපදේශක මණ්ඩලයට, එහි රැස්වීමක් සඳහා දෙදෙනෙකුට නොවැඩි සංඛ්‍යාවක් බඳවා ගත හැකිය. එකී රැස්වීම සඳහා ඔවුහු, (1) වෙනි අනුජේදය යටතේ යථා පරිදි පත් කරනු ලැබූ පුද්ගලයින් සතුවූ සියලු අයිතිවාසිකම් වලට හිමි වෙති.

(3) එකී උපදේශක මණ්ඩලයේ සභාපති මහා භාරකාර තැන විය යුතුය. එහි වැඩ කටයුතු සඳහා ගණපූරණය තිදෙනෙකි.

(4) මේ ආඥා පනතේ රෙකුලාසි යටතේ, මහා භාරකාර තැන ඉහතකී උපදේශක මණ්ඩලයෙන් උපදෙස් ලබා ගත යුතු ය. සියලුම කරුණු, එකී උපදේශ මණ්ඩලයේ රැස්වීමකට පැමිණි හැම දෙනම, ඡන්දය දී, වැඩි ඡන්දයෙන් තීරණය කළ යුතුය. එහෙත්, එබඳු තීරණයක් පිළි පැදීමට මහා භාරකාර තැන අපොහොසත් වුවහොත්, එකී තීරණයෙන් එක මාසයක් ඇතුළත, ඒ කරුණ මහාභාරකාර තැන විසින් අග්‍රාණ්ඩුකාර තුමා වෙත දන්වා යැවිය යුතු ය. මෙහිලා අග්‍රාණ්ඩුකාර තුමාගේ තීරණය අවසාන තීරණයයි.

## II වෙනි කොටස

# භාරකාරවරු

දළදා මාළිගයේ භාරකාරයා: දියවඩන නිලමේ.

7. (1) දළදා මාළිගාවේ භාරකාර තැන දියවඩන නිලමේ විය යුතුය.

(2) දියවඩන නිලමේ පදවිය යම් අවස්ථාවකදී පුරප්පාඩු වුවහොත්, එසේ පුරප්පාඩු වී තෙමසක් ඇතුළත, මහා භාරකාර තැන, පහත සඳහන් අය, මහනුවර පවත්වන රැස්වීමකට කැඳවිය යුතුය.

(අ) මල්වතු විහාරයේ හා අස්ගිරි විහාරයේ මහානායක හිමිවරු;

(ආ) උඩරැටියන් වූ අදිකාරම්වරු හා දිසාවෙවරු;

(ඉ) උඩරට පළාත් වල නිලතල දරන රටේ මහත්වරු සහ ආදයම් පාලක නිලධාරිවරු ;

(ඊ) උඩරට පළාත්වල පිහිටි දේවාල සියල්ලකම බස්නායක නිලමෙවරු; සහ

(උ) මහා බාරකාරතැනගේ නිගමනය අනුව, ගත වූ වර්ෂ තුන ඇතුළත, වාර්ෂික ආදයම රුපියල් එක්දහස ඉක්මවා ගිය, උඩරට පළාතේ පිහිටි සියලු විහාරස්ථානවල බාරකාරවරු ද වෙති.

මේ රැස්වීම් පවත්වන දිනට එක් මසකට නොඅඩු කාලයකට පෙර, ඒ රැස්වීම පිළිබඳ ලිඛිත දැන්වීම්, ඒ ඒ පුද්ගලයින් අන්තිමට පදිංචිව සිටියේයයි කියන ස්ථානය කරා, රිජිස්ටර් තැපෑලෙන් යැවිය යුතුය.

(3) (අ) මහාබාරකාර තැන, එකී රැස්වීමේ මුලසුන දැරිය යුතුය ; රැස්වීමට යථා පරිදි අාරාධිතව, එහි පැමිණ සිටින හැම කෙනෙකුටම, එකී පුරප්පාඩුව පිරවීමට ඡන්දය විමසන හැම වාරයකම ඡන්දය දී මේ බලය තිබිය යුතු ය. ඒ ඡන්දය හැම විටම රහසිගත ව දිය යුතුය.

(ආ) හිස්වූ පදවිය සඳහා තෝරා පත් කර ගැනීමට, එවැනි රැස්වීමකදී, එක පුද්ගලයෙකුට නොවැඩි සංඛ්‍යාවක නාම යෝජනා—ස්ථිරත්වයෙන් ඉදිරිපත් වුවහොත්, ඒ තැනැත්තා දියවඩන නිලමෙ ලෙස පත්වියයි මහා බාරකාර තැන ප්‍රකාශයට පත් කළ යුතුය.

(ඉ) හිස් වූ පදවිය සඳහා තෝරා පත් කර ගැනීමට, එවැනි රැස්වීමකදී, එක පුද්ගලයෙකුට වැඩි සංඛ්‍යාවකගේ නාම යෝජනා ස්ථිරත්වයෙන් ඉදිරිපත් වුවහොත්, ඡන්ද විමසීමක් පැවැත්විය යුතුය. ඒ ඡන්ද විමසීමේදී, වැඩිම ඡන්ද සංඛ්‍යාවක් ලබන තැනැත්තෙක් වේනම්, ඔහු දියවඩන නිලමෙ ලෙස පත්වී යයි මහාබාරකාර තැන ප්‍රකාශයට පත් කළ යුතු ය. එහෙත්, එවැනි ඡන්ද විමසීමකදී, අන්හැම අපේක්ෂකයෙකුටම වඩා ඡන්ද සංඛ්‍යාවක් කිසිම අපේක්ෂකයෙකුට නොලැබුණහොත්, එක සමාන වැඩිම ඡන්ද සංඛ්‍යාව ලත් අපේක්ෂකයින්ට පමණක් සීමා කොට, දෙවෙනි ඡන්ද විමසීමක් පැවැත්විය යුතුය. ඒ දෙවෙනි ඡන්ද විමසීමේදී, වැඩිම ඡන්ද සංඛ්‍යාව ලබන තැනැත්තෙක් වේනම් ඔහු දියවඩන නිලමෙ ලෙස පත්වූ බව මහා බාරකාර තැන ප්‍රකාශයට පත් කළ යුතුය. මේ දෙවෙනි ඡන්ද විමසීමේ දී පවා, අන් හැම අපේක්ෂකයෙකුටම වඩා ඡන්ද සංඛ්‍යාවක් කිසිම අපේක්ෂකයෙකුට නොලැබුණහොත්, මහාබාරකාර තැන, දෙවෙනි ඡන්ද විමසීමේදී,



වැඩිම ඡන්ද සංඛ්‍යාව ලත් අපේක්ෂකයින් අතුරින් ඡන්දයේ මූලික ස්ථානය ගත් අය ලෙස තැකිය යුත්තේ කවරේ දැයි, කුසපත් ඇදීමේ මාර්ගයෙන් තීරණය කළ යුතුය. අනතුරුව, හෙතෙම, දියවඩන නිලමෙ ලෙස පත් කරනලදැයි ප්‍රකාශයටපත් කළ යුතුය.

(ඊ) දියවඩන නිලමෙ ලෙස කෙනෙකු පත්කළ බව මහා බාරකාර තැන ප්‍රකාශකර සිටිය පසු, එදින පටන් එක් මසක් ඇතුළත එකී පත්වීම පිළිබඳ ලිඛිත ප්‍රකාශ පත්‍රයක් මහාබාරකාර තැන ඒ තැනැත්තාට බාරදිය යුතුය.

දේවාලයක බාරකාර තැන: බස්නායක නිලමේ හෝ වෙන යම් පුද්ගලයෙක්

8. (1) බස්නායක නිලමෙ කෙනෙකු පත් කිරීමේ සිරිත අනුගමනය කළ යම් කිසි දේවාලයක් වේනම්, එහි බාරකාර තැන එකී බස්නායක නිලමෙ විය යුතුය. අන්හැම දේවාලයකම බාරකාර තැන, මහාබාරකාර තැන විසින් පත්කරනු ලබන පුද්ගලයකු විය යුතුය.

(2) බස්නායක නිලමේ පදවියක පුරප්පාඩුවක් යම් අවස්ථාවකදී ඇතිවුවහොත්, එසේ පුරප්පාඩුවී තෙමසක් ඇතුළත, මහාබාරකාර තැන, දේවාලය පිහිටි ආදයම්පාලක දිස්ත්‍රික්කය තුළ ස්ථානයක පවත්වන රැස්වීමකට, පහත සඳහන් අය කැඳවිය යුතුය.

(අ) (i) උඩරට පළාතේ පිහිටි දේවාලයක නම්, එවකට ඒ දිස්ත්‍රික්කයේ, රටේ මහත්වරුන්, කෝරාලවරුන් හා ආදයම් පාලක නිලධාරිවරුන් හැටියට පදවි දරන අය; නැතහොත්,

(ii) අන් කිසි දේවාලයක නම්, ඒ දිස්ත්‍රික්කයේ, ආදයම් පාලක නිලධාරින්, ගම්මුලාදෑනින්, මුදලිවරුන් සහ විදානේ ආරච්චිවරුන් හැටියට පදවිය දරන අය; සහ

(ආ) දේවාලය පිහිටි ආදයම් පාලක දිස්ත්‍රික්කයේ සෙසු දේවාලවල බස්නායක නිලමෙ වරු ද, උඩරට ආදයම් පාලක දිස්ත්‍රික්කයක, දේවාලයක නම්, දියවඩන නිලමෙ ද;

(ඉ) දේවාලය පිහිටි ප්‍රධාන ගම්මුලාදෑනි වසම තුළ, සියලු විහාරස්ථානවල භික්ෂූන් වහන්සේලා නොවන බාරකාර වරු ද, වෙති.

මේ රැස්වීම පවත්වන දිනට එක් මසකට නොඅඩු කාලයකට පෙර, ඒ රැස්වීම පිළිබඳ ලිඛිත දැන්වීම්, ඒ ඒ පුද්ගලයින් අන්තිමට පදිංචිව සිටියේයයි කියන ස්ථානය කරා, රිජිස්ටර් තැපෑලෙන් යැවිය යුතුය.

(3) (අ) මහාබාරකාර තැන, එකී රැස්වීමේ මුලසුන දැරිය යුතුය; රැස්වීමට යථාපරිදි ආරාධිතව එහි පැමිණ සිටින හැම කෙනෙකුටම, එකී පුරප්පාඩුව පිරවීමට ඡන්දය විමසන හැම වාරයකම, ඡන්දය දීමේ බලය තිබිය යුතුය. ඒ ඡන්දය හැමවිටම රහසිගතව දිය යුතුය.

(ආ) හිස්වූ පදවිය සඳහා තෝරා පත්කර ගැනීමට එවැනි රැස්වීමකදී, එක පුද්ගලයෙකුට නො වැඩි සංඛ්‍යාවක නාම යෝජනා ස්ථිරත්වයෙන් ඉදිරිපත් වුවහොත් ඒ තැනැත්තා, බස්නායක නිලමෙ ලෙස පත්වියයි මහා බාරකාර තැන ප්‍රකාශයට පත් කළ යුතුය.

(ඉ) හිස්වූ පදවිය සඳහා තෝරා පත් කර ගැනීමට එවැනි රැස්වීමක දී, එක පුද්ගලයෙකුට වැඩි සංඛ්‍යාවක නාම යෝජනා ස්ථිරත්වයෙන් ඉදිරිපත් වුවහොත්, ඡන්ද විමසීමක් පැවැත්විය යුතුය. ඒ ඡන්ද විමසීමේදී වැඩිම ඡන්ද සංඛ්‍යාව ලබන තැනැත්තෙකු වෙතොත් ඔහු බස්නායක නිලමෙ ලෙස පත්වියයි මහාබාරකාර තැන ප්‍රකාශයට පත් කළ යුතුය. එහෙත්, එවැනි ඡන්ද විමසීමකදී, අන් හැම අපේක්ෂකයෙකුටම වඩා ඡන්ද සංඛ්‍යාවක් කිසිම අපේක්ෂකයෙකුට නොලැබුණහොත්, එක සමාන වැඩිම ඡන්ද සංඛ්‍යා ලත් අපේක්ෂකයින්ට පමණක් සීමා කොට, දෙවෙනි ඡන්ද විමසීමක් පැවැත්විය යුතුය. ඒ දෙවෙනි ඡන්ද විමසීමේ දී, වැඩිම ඡන්ද සංඛ්‍යාව ලබන තැනැත්තෙකු වෙතොත් ඔහු බස්නායක නිලමේ ලෙස පත්වූ බව මහාබාරකාර තැන ප්‍රකාශයට පත් කළ යුතුය. මේ දෙවෙනි ඡන්ද විමසීමේ දී පවා, අන් හැම අපේක්ෂකයෙකුටම වඩා ඡන්ද සංඛ්‍යාවක් කිසිම අපේක්ෂකයෙකුට නො ලැබුණහොත්, මහාබාරකාර තැන, ඒ දෙවෙනි ඡන්ද විමසීමේ දී, වැඩිම ඡන්ද සංඛ්‍යාව ලත් අපේක්ෂකයින් අතුරින් ඡන්දයේ මූලිකස්ථානය ගත් අය ලෙස තැකිය යුත්තේ කවරේ දැයි කුසපත් ඇදීමේ මාර්ගයෙන් තීරණය කළ යුතුය. අනතුරුව, හෙතෙම බස්නායක නිලමෙ ලෙස පත් කරන ලදැයි ප්‍රකාශයට පත්කළ යුතුය.

(ඊ) බස්නායක නිලමෙ ලෙස කෙනෙකු පත් කළ බව මහාබාරකාර තැන ප්‍රකාශයට පත්කළ පසු, එදින පටන් එක් මසක් ඇතුළත, එකී පත්වීම පිළිබඳ ලිඛිත හැඳින්වීමේ පත්‍රයක්, මහාබාරකාර තැන එකී තැනැත්තාට බැරදිය යුතුය.

අටමස්ථානයේ බාරකාරයා: අටමස්ථාන කාරක සභාව

9. (1) අටමස්ථානයේ බාරකාරයා, කිදෙනෙකුගෙන් සමන්විත අටමස්ථාන කාරක සභාව විය යුතුයි. ඒ කාරක



සභාවේ එක එක පුද්ගලයා කෙරෙහි බාරකාරයෙකුගේ සුදුසුකම් තිබිය යුතු අතර, සමාන බලතල සහිතව පදවිය දැරිය යුතුය. එකී කාරක සභාවේ සභාපති වශයෙන් එහි සාමාජිකයෙකු පත්කර ගත යුතුය; එහි ගණ පූරණය දෙදෙනෙකි; රැස්වීමක ඡන්ද විමසීමේ දී සම සමව බෙදී සිටි කල්හි, සභාපතිට දෙවෙනි හෝ අතිරේක ඡන්දයක් හිමිවිය යුතුය.

(2) මේ ආඥාපනත බලපැවැත්වීම ආරම්භවී මසක් ඇතුළත, කාරක සභාවට කෙනෙකු වැඩි ඡන්දය අනුව නම් කර, ඒ නාම යෝජනාව තමාට දන්වා සිටින ලෙස, මහාබාරකාර තැන පහත සඳහන් අයට හෝ (අයවලුන් ගෙන් සමන්විත) කණ්ඩායමට පිළිවෙළින් දන්වා සිටිය යුතුය:

(අ) බෝ මලුවේ එවකට නායක පදවිය දරන ස්ථවිරයන් වහන්සේ:

(ආ) එවකට නුවර වැව පවුලේ ප්‍රධානියා; සහ

(ඉ) මල්වතු විහාරයේ හා අස්ගිරි විහාරයේ මහානායක ස්ථවිරපාදයන් වහන්සේලා සහ ශ්‍රීපාදස්ථානයේ නායක ස්ථවිරපාදයන් වහන්සේ.

එසේම, ඉන්පසු කාරක සභාවේ පුරප්පාඩුවක් හටගත් විට, එසේ පුරප්පාඩුවී එක මාසයක් ඇතුළත, පුරප්පාඩුවූ පදවියේ සිටි තැනැත්තා තෝරා පත්කළ තැනැත්තා හෝ තැනැත්තන්, පෙරසේ නාම යෝජනාව කර වාර්තා කොට, පුරප්පාඩුව පිරවිය යුතුය.

සෙසු විහාරස්ථානවල බාරකාරයෝ

10. (1) 4 වෙනි ඡේදයේ (1) වෙනි අනු ඡේදය බලපැවැත්වීමෙන් නිදහස් නොකළ අනිකුත් හැම විහාරස්ථානයකම බාරකරු ත්කිරීම සඳහා මේ පනත යටතේ අන්කිසි විශේෂ නීතියක් පැනවා නැත්නම්, ඒ විහාරස්ථානයේ විහාරාධිපතිට එවැනි බාරකාරයෙකු නම්කළ හැකිය. එසේ කළ නාම යෝජනාව, තදනන්තරව මහා බාරකාර තැනට වහාම දන්වා සිටිය යුතුය. එවැනි විහාරස්ථානයක බාරකාර පදවියේ පුරප්පාඩුවක් හටගත් විට, එය හටගෙන මසක් ඇතුළත, බාරකාරයෙකු එපරිද්දෙන්ම නම් කොට, දන්වා සිටිය යුතුය.

(2) මේ ඡේදය, අටමස්ථානයට අයත් ඒ ඒ විහාරස්ථානවල විහාරාධිපතීන් කෙරෙහිවත්, 15 වෙනි ඡේදයේ (2) වෙනි අනු ඡේදය යටතේ බාරකාර පදවියෙන් පහකරනු

ලැබූ විහාරාධිපතීන් කෙරෙහිවත් බලනොපැවැත් විය යුතුය.

භාරකාරවරුන් හා තාවකාලික භාරකාරවරුන් පත්කිරීම.

11. (1) 9 වෙනි හෝ 10 වෙනි ඡේදයන් යටතේ, භාරකාර කෙනෙකු නම් කිරීමට බලය ලත් යම් කිසිවෙක්, 15 (2) ඡේදය යටතේ භාරකාර පදවියෙන් පහකරනු ලැබූවෙක් නොවේ නම් හෝ, 14 වෙනි ඡේදය යටතේ භාරකාර පදවිය ඉසිලීමට නුසුදුස්සෙක් නො වේ නම් හෝ, තමා විසින් තමා ම භාරකරු ලෙස පත් කර ගැනීම නීත්‍යනුකූලය. එහෙත්, නුවර වැව පවුලේ ප්‍රධානියාට, තමා ආංඩුවේ සේවයේ නියුක්තයෙකු වුව ද, අටමස්ථාන කාරක සභාවේ සාමාජිකයෙකු හැටියට තමාම නම් කර ගත හැකිය.

(2) 9 වෙනි හා 10 වෙනි ඡේද යටතේ යථා පරිදි නාම යෝජනාවක් ඉදිරිපත් කොට, මහාභාරකාර තැනට දන්වා සිටි කල්හි, ඒ පත් කිරීම මේ පනතේ සම්පාදිත නීති වලට පටහැනි නොවේ නොත්, එසේ නම් කරනු ලැබූ තැනැත්තාට, වහාම පත්වීමේ ලියවිල්ලක් නිකුත් කිරීම, මහාභාරකාර තැනගේ යුතුකම විය යුතුය.

3. (අ) ඒ ඒ ඡේදයන්හි නියමිත කාල පරිච්ඡේදය තුළ හෝ, මහාභාරකාර තැන ඒ සඳහා ඉඩදෙන අතිරේක කාල සීමාව තුළ හෝ 9 වෙනි හා 10 වෙනි ඡේදයන් යටතේ යථාපරිදි නාම යෝජනා ඉදිරිපත් නුවූ කල්හි, නැතහොත්.

(ආ) එවැනි නාම යෝජනාවක් ඉදිරිපත් කිරීමට බලය ඇති තැනැත්තා කවරේදැයි අරවුලක් පැන නැගීම නිසා, යම්කිසි විහාරයක භාරකාරයා ලෙස එක් පුද්ගලයෙකුට වැඩි ගණනක් යථාපරිදි නම් කරනා ලදැයි මහා භාරකාර තැනට දන්වා සිටි කල්හි, නීත්‍යානුකූල නාම යෝජනාවක් කරන තෙක්, එකී විහාරස්ථානයේ දේපළ සුරක්ෂිතව පාලනය වනු සඳහා අවශ්‍ය යයි තමාට හැඟෙන විධිවිධාන යෙදීමත්, සුදුසු යයි තමාට හැඟේ නම්, නීත්‍යානුකූල සුදුසුකම් ඇති ඕනෑම කෙනෙකු භාරකාරයා ලෙස තාවකාලිකව පත් කිරීමත් මහාභාරකාර තැන කළ යුතුය.

භාරකාරයෙකුගේ පදවි-කාලය

12. කලින් ඉල්ලා අස් වූවා නම් හෝ, මේ පනතින් සම්පාදිත නීති යටතේ, පදවියෙන් තහනම් කළ නම්, පහකළා නම් හෝ වෙනත් අයුරකින් ඉවත් කළා නම්, හැර භාරකාර පදවියට පත් තැනැත්තෝකු, එසේ පත් කළ දින සිට පස් වර්ෂයක කාල සීමාවක් ඒ පදවිය දැරිය යුතුය. ඒ කාල සීමාව ඉකුත්වූ තැන, නැවත පත් කරනු ලැබීම සඳහා ඔහුට සුදුසු කම් ඇත්තේය. එහෙත්, දියවඩන නිලමේ කෙනෙකුගේ හා බස්නායක නිලමේ කෙනෙකුගේ පදවිය සඳහා කාල සීමාව දස වර්ෂයක් විය යුතුය.

හැම භාරකාරයෙකුම ඇප තැබිය යුතුය.

13. (1) මේ ආඥා පනතින් ප්‍රකාශිතව පනවන ලද නීති වලට අනුකූලව, සියලුම භාරකාරවරු, තමන්ගේ කාර්යය ආරම්භ කිරීමට හෝ කරගෙන යාමට පෙර, මහාභාරකාර තැන ඒ ඒ තන්හි අවශ්‍ය යයි කියා සිටින පරිදි, මේ පනතින් පනවා ඇති ඔවුන්ගේ බලතල, යුතුකම් හා වගකීම් යථා පරිදි ක්‍රියාවට නැංවීම සඳහා ඇප තැබිය යුතු වෙති.

එහෙත්, යම් කිසි භාරකාරයෙකු භික්ෂුවක් වූවහොත්, තමා වෙනුවෙන් තමාම පෞද්ගලික ඇප තැබීමට මහාභාරකාර තැන ඒ භික්ෂුවට නො පැවරිය යුතුය. ඒ වෙනුවට, තමා වෙනුවෙන් ඇප කාරයෙකු හෝ සෑහෙන තරම් ඇපකාරයින් පත් කිරීමට නියෝග කළ යුතුයි.

(2) ඉහතකී අනු ඡේදයෙන් සම්පාදිත නීතිවලට පට හැනිව කිසියම් බලතලයක්, යුතුකමක් හෝ වගකීමක් ඉටුකරන හෝ ක්‍රියාවට නගන, නැතහොත්, ඉටු කිරීමට හෝ ක්‍රියාවට නැගීමට තැත් කරන, කිසියම් භාරකාරයෙකු වෙතොත්, ඔහු නීතිය කඩ කරන වරද කරුවෙකු විය යුතුය. ලඝු විනිශ්චයකින් වරදකරු වීමෙන් පසු නීතිය කඩකළ හැම වාරයකටම වරකට රුපියල් පන්සියයකට අධික නොවන දඩයකට යටත් කළ හැකි විය යුතුය.

(3) මේ ඡේදයෙන් සම්පාදිත පරිදි, මේ ආඥා පනත පවත්වා හෝ පත්වීම ලබා හෝ තෙලසක් ඇතුළත, නැතහොත් කිසියම් අවස්ථාවකදී මහා භාරකාර තැන නියෝගකොට පනවන අතිරේක කාල සීමාව තුළදී හෝ ඇප නොතබන කිසියම් භාරකාරයෙකු වේයොත්, ඔහු, තම පදවියෙන් පහවූවා ලෙස සැලකිය යුතුය.

භාරකාරයෙකු ගේ සුදුසුකම්

14. පහත සඳහන් කිසිම පුද්ගලයෙකු භාරකාරයෙකු ලෙස පත් නොකළ යුතුය; පත් කළද, භාරකාරයෙකු ලෙස ක්‍රියා නොකළ යුතුය;

(1980 අංක 22 සංශෝධනය බලන්න.)

(අ) භික්ෂුවක් හැර අනුවිට, (උගස් ණයක් වේනොත් එය අඩුකොට) රුපියල් එක් දහසකට නො අඩු නිශ්චල දේපළක අයිතිකරු නොවන්නෙක් හෝ වාර්ෂික ආදායම පැහැදිලිවම රුපියල් පන් දහසකට නොඅඩු ප්‍රමාණයක් නො ලබන්නෙක්;

(ආ) සොරකම, වංචාව, හෙරා අත්සන් තැබීම, බොරු සාක්කි දීම හෝ වෙනත් නින්දිත අපරාධයක් ගැන වරදකරුව, පසුව ඇපැලේදී එම වරදින් නොමිදී, එසේම, එබඳු වරදකරුවීම නිසා ඔහු වෙත හිමිවන නුසුදුසුකම අග්‍රාණ්ඩුකාරතුමාගේ නියෝගයක් මාර්ගයෙන් ඉවත් නොකරනු ලැබූ පුද්ගලයෙක්;

(ඉ) ආණ්ඩුවේ සේවයේ නියුක්ත පුද්ගලයෙක්;

(ඊ) උරුමය නිසා සංඝකාරයෙකු හෝ බදු කාරයෙකු වන විහාරාධිපති කෙනෙකු හැරුණු විට, විහාරස්ථානයේ පරවේණි හෝ මාරුවෙන සංඝකාරයෙක් හෝ විහාරස්ථානයේ ඉඩමක බදු කාරයෙක්;

(උ) වයස අවුරුදු හැත්තෑවට අධික නම්, මහා බාරකාර තැනගේ අනුමැති නො ලැබූ තැනැත්තෙක්.

එහෙත්, ඉහතකී යෝග්‍යතාවලින් සමන්විත වූ සුදුසු අපේක්ෂකයෙකු සොයා ගත නොහැකි වූ විට, විහාරයක් හෝ දේවාලයක් විෂයෙහි නම්, විහාරාධිපති විසින් නම් කරනු ලබන එසේ සුදුසුකම් නොදරන ඕනෑම තැනැත්තෙකු මහා බාරකාර තැනට පත්කළ හැකිය.

බාරකාරවරුන් වැඩ තහනම හා පහ කිරීම.

15. (1) ඒ ගැන සැලකිලිමත් වන්නෙකුගේ පැමිණිල්ලක් පිට හෝ, මහා බාරකාර තැනට සිය කැමැත්තෙන්ම හෝ, ස්වකීය විහාරස්ථානය සතු දේපළ සම්බන්ධයෙන්, එහි බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති කළැයි කියන අයථා ක්‍රියාවක්, විශ්වාසය කඩ කිරීමක් හෝ යුක්තිය පැහැර හැරීමක් ගැන පරීක්ෂණයක් පැවැත්වීමට මහා බාරකාර තැනට බලය තිබිය යුතුය. බාරකාරයෙකුගේ ක්‍රියා මාර්ගය ගැන පැවැත්වූ එවැනි පරීක්ෂණයක් අවසානයේ දී, ඔහු පදවියෙන් පහකිරීම සඳහා ක්‍රියා කළ යුතු යයි මහා බාරකාර තැනට හැඟී ගියහොත් ඒ බාරකාර තැනගේ වැඩ තහනම් කිරීමට ප්‍රාරම්භක වශයෙන් ඔහුට විරුද්ධව ලිඛිත චෝදනා සකස් කිරීමටත්, ඊට පිළිතුරු සපයන ලෙස ඉල්ලා සිටීමටත් මහා බාරකාර තැනට බලය තිබිය යුතුය.

(2) යම්කිසි විහාරස්ථානයක් සතු දේපළ සම්බන්ධයෙන් එහි බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති විසින් කරන ලදැයි කියන අයථා ක්‍රියාවක්, විශ්වාසය කඩකිරීමක් හෝ යුතුකම් පැහැර හැරීමක් ගැන එකී බාරකාර තැනට හෝ පරිපාලක විහාරාධිපතිට විරුද්ධව, ඒ විහාරස්ථානය පිහිටි



ප්‍රදේශය කෙරෙහි අධිකරණ බලය සතුවූ උසාවියක් ඉදිරියේ, එම විහාරස්ථානය ගැන සැලකිලිමත් වන අනික් පුද්ගලයින් කිසිවෙකු පැමිණිලිකාරයින් ලෙස සඳහන් නොකොට, මහා බාරකාර තැනට විහාරස්ථානය ගැන සැලකිලිමත්වන වෙන ඕනෑම පුද්ගලයෙකුට නඩු පැවරිය හැකිය. නඩු විභාගයකින් පසු, ඒ උසාවියට,

(අ) ඒ බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති ලවා ඕනෑම ක්‍රියාවක් නියමිත පරිදි කරවන ලෙස නියෝග කළ හැකිය;

(ආ) එම විහාරස්ථානයට අලාභය ගෙවන ලෙසත්, ඒ බාරකාර තැනගෙන් හෝ පරිපාලක විහාරාධිපතිගෙන් නඩු ගාස්තු අයකර ගන්නා ලෙසත් ආඥාවක් නිකුත් කළ හැකිය;

(ඉ) ඒ බාරකාර තැන පහ කිරීමට නියෝග කළ හැකිය.

එහෙත්, මෙසේ සැලකිලිමත් වන පුද්ගලයෙකු ඉදිරිපත් කරන පැමිණිල්ලක් සමග මේ පැමිණිල්ලට අදාල කරුණු ගැන තමා පරීක්ෂා කළ බවත්, තමාගේ මතය අනුව, එම කරුණු උසාවිය මගින් සලකා බැලීමට සුදුසු බවත්, සඳහන් කොට, මහා බාරකාරතැනගෙන් සහතිකයක් නොතිබුණ හොත්, කිසිම උසාවියක් ඒ පැමිණිල්ලට ඉඩදිය යුතු නැත.

(3) කිසියම් විහාරස්ථානයකට යාම-ඊමට බලය ඇති හෝ, කිසියම් විහාරස්ථානයක පුද පූජා වන්දනාමානවලට සහභාගිවීමට පුරුදුව සිටි ඕනෑම පුද්ගලයෙකු, එම විහාරස්ථානය ගැන සැලකිලිමත් වන පුද්ගලයෙකු හැටියට, මේ ඡේදයේ අර්ථය අනුව, ගිණිය යුතුය.

(4) මේ ආඥාපනත බල පැමට පෙර හෝ පසුව, කිසියම් බාරකාරයෙකු හෝ විහාරාධිපති කෙනෙකු විසින් කරන ලදැයි කියන අයථා ක්‍රියාවක්, විශ්වාසය කඩකිරීමක් හෝ යුතුකම පැහැර හැරීමක් ගැන, මේ ඡේදය යටතේ ක්‍රියා කළ හැකිය; එසේ ක්‍රියා කිරීමේදී, කලින් කල සංශෝධිත මහා බාරකාර පනත යටතේ, අරමුදල්වල තත්වය හා ගණන් හිලව් පරීක්ෂා කිරීමට තමන් වෙත පැවරී ඇති සියලු බලතල මහා බාරකාර තැනට ක්‍රියාවේ යෙදිය හැකිය.

පුරප්පාඩුවකට බාර කාරයකු පත් කිරීම.

16. මේ ආඥාපනත ආරම්භයට පෙර වුවද, නොවුව ද, කිසියම් බාරකාරයෙකු පදවිය බාර ගැනීම ප්‍රතික්ෂේප කළ හොත් හෝ ඉල්ලා අස්වුවහොත් හෝ, මිය ගිය හොත්, හෝ පදවියෙන් ඉවත් වුවහොත් හෝ ධනශූන්‍ය බවට පත් වුවහොත් හෝ මානසික හෝ ශාරීරික දුර්වලත්වය හෝ

රෝග නිසා ඔහුගේ පදවියේ යුතුකම් ඉටුකිරීමට අපොහොසත් වුවහොත් හෝ, සුදුසු කම්වලට අහිමිවුවහොත් හෝ නුසුදුසුකම්වලට භාජනය වුවහොත් හෝ එක වර්ෂයකට අධික කාලයක් දිවයිනෙන් පිටත සිටියහොත් හෝ (පදවියෙන්) පහ කරනු ලැබුවහොත්, එවිට, මේ පනතින් සම්පාදිත නීති අනුව, වෙනත් බාරකාරයෙකු ඒ වෙනුවට වහාම පත්කළ යුතුය.

පුරප්පාඩුව වැඩ තහනම හෝ කලකට නැති කමකදී තාවකාලික බාරකාරයකු පත්කිරීම.

17. (1) කිසියම් බාරකාරයෙකුගේ පදවිය බාර ගැනීම ප්‍රතික්ෂේප කිරීම, මරණය, පදවිය පුරප්පාඩුවීම, අපොහොසත්කම, නුසුදුසුබව, ඉල්ලා අස්වීම, වැඩ තහනම, පහ කිරීම හෝ ධනශූන්‍යත්වය සිදුවූ අවස්ථාවක, ඊළඟ බාරකරු පත්කරන තෙක්, පදවියේ යුතුකම් ඉටුකිරීම සඳහා, තාවකාලික විධිවිධාන යෙදීමට මහා බාරකාර තැනට බලය තිබේ. බාරකාරයා ලෙස වැඩබැලීමට තාවකාලිකව හෝ පත් කරනු ලබන පුද්ගලයා, මේ පනත යටතේ පත් කරණු ලබන බාරකාරයෙකු සතු සියලුම බලතල, වගකීම් හා යුතුකම් වලට හිමි වන්නේය.

(2) බාරකාරයෙකු මේ දිවයිනෙන් ඉවත්ව යන විටක ඔහු විසින් ලිපියක් මගින් නාම යෝජනා කර සිටින පුද්ගලයා, ඒ බාරකාර තැනගේ වගකීම් පිට, ඔහු වෙනුවට ක්‍රියා කළ යුතුය. එම නාම යෝජනාව, වහාම මහා බාරකාර තැන වෙත දන්වා යැවිය යුතුය.

(3) දිය වඩන නිලමෙ වෙනුවට ක්‍රියා කිරීම පිණිස යම් කෙනෙකු පත් කළ විටක හෝ නාම යෝජනා කර සිටි විටෙක; ඒ පත්වීම හෝ නාම යෝජනාව, මල්වතු විහාරයේ හා අස්ගිරි විහාරයේ මහානායක ස්ථවිරයන් වහන්සේලාගේ අනුමැතියට භාජනය කළ යුතුය.

බාරකාරයාට නඩු පැවරිය හැකිය. එහෙත් පෞද්ගලිකව ගාස්තුවලට යටත් නැත.

18. මේ ආඥා පනත යටතේ තමා වෙත පැවරී ඇති කිසියම් දේපළක් යළි ලබා ගැනීමට හෝ, එබඳු දේපළක් අත් අඩංගුවට ගැනීමට මේ පනතේ පරමාර්ථයන් මුදුන් පත් කර ගැනීමට අවශ්‍ය අන්කිසි කරුණක් සඳහාත්, "(අසුවල් විහාරස්ථානයේ) බාරකාර තැන" වශයෙන් නම හා පාඨය යොදා, විහාරස්ථානයක බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති විසින් නඩු පැවරීම නීත්‍යානුකූල විය යුතුය. එම නම හා පාඨය යටතේම, ඔහුට විරුද්ධවත් නඩු පැවරිය හැකිය; එහෙත් මේ පනතින් ඔහු වෙත පැවරී ඇති කිසියම් බලතලයක් හෝ අයිතියක් අනුව, අවංක සිතින් ඔහු කළ කිසියම් ක්‍රියාවක් නිසා ඔහු පෞද්ගලිකව නඩු ගාස්තු වලට යටත් නොවේ.



බාරකාරයින් යුතුකම් පැහැර හැරීම.

19. මේ ආඥා පනත යටතේ බාරකාරයෙකු වෙත පැවරූ කිසියම් යුතුකමක් ඉටු කිරීම ඕනෑකමින්ම ප්‍රතික්ෂේප කළහොත් හෝ පැහැර හැරියොත්, ඔහු වරද කාරයෙක් වන්නේය. ලඝු විනිශ්චයකින් වරද කරුවී ඔහු රුපියල් සියයකට නොවැඩි දඩයකට හෝ තුන්මසකට නොවැඩි සිර දඬුවමකට යටත් විය යුතුය: එහෙත් යථෝක්ත එබඳු ප්‍රතික්ෂේප කිරීමක් හෝ පැහැර හැරීමක් නිසා ඒ බාරකාරතැන යටත්විය යුතු අන්කිසි දඬුවමක් වේනොත්, මේ ඡේදයෙන් සම්පාදිත කිසිවක් ඒ දඬුවම කෙරෙහි බල නොපැවැත්විය යුතුය.

## III වෙනි කොටස

# දේපළ

සියලු විහාර දේපළ, පූජා භාණ්ඩ, බාරකාර තැන වෙත පැවරේ.

20. කිසියම් විහාරස්ථානයක් සතු හෝ, කිසියම් අයුරකින් ඊට සම්බන්ධවූ හෝ, විහාරස්ථානයක පරි භෝගය සඳහා වෙන්කළ චංචල, නිශ්චල සියලු දේපළ හා එම විහාරයේ ආදායම්, බදු-කුලිය, මුදල් සහ ලාබ ද, භික්ෂුවකගේ විශේෂ පෞද්ගලික පරිහරණය සඳහා පූජාකළ පෞද්ගලික පූජා භාණ්ඩ හැරෙන්නට, එම විහාරස්ථානයේ ප්‍රයෝජනය සඳහා පූජා කරන සියලුම පූජා භාණ්ඩ ද එවකට විහාරයේ බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති තැන වෙත පැවරේ. එසේ ද වුවත්, ඉන් යම්කිසි නිශ්චල දේපළක් විෂයෙහි එවකට පවත්නා බදුකරවලට, හා කරවුවරවලට හා වෙනත් ගෙවීම් වලට හෝ දේපළ බාධකයනට ඒවා යටත්විය යුතුය.

21. නින්දගම් ආඥාපනත යටතේ, විහාර ගමක බදු කාරයින් විසින් ගෙවනලද හෝ මින්මතු ගෙවීමට සිදු වන කිසියම් රාජකාරි සේවයක් සඳහා ගෙවිය යුතු මුදලක් වේනොත් එය, මේ පනත ක්‍රියාවේ යෙදූ තැන් පටන් එකී විහාරයේ බාරකාරතැනට හෝ පරිපාලක විහාරාධිපතිට අයවිය යුතුද, ගෙවිය යුතුද වේ. නින්දගම් පනතේ අරමුණු සඳහා එකී පනතේ ඊට විරුද්ධව කුමක් සඳහන් වුවත්, දළදා මාලිගාව, ශ්‍රී පාදස්ථානය සහ අටමස්ථානය, විහාර ලෙස තැකිය යුතුය.

22. මෙම ආඥාපනත බලපැවැත්වීමේ දිනට පෙර, කිසියම් විහාරස්ථානයකට හෝ එකී විහාරස්ථානය වෙනුවෙන් කිසියම් පුද්ගලයෙකුට හෝ වැඩිදයක වන

*ගිවිසුම යටතේ විහාරයට ලැබිය යුතු දැත්, අයවිය යුතු මුදලුත් බාරකාරතැනට හෝ විහාරාධිපතිට අය කර ගත හැකිය.*

පරිදි එළඹී ගිවිසුම් සියල්ල ද, එකී ගිවිසුම නිසා පැන නගින නඩු පැවරීමේ සම්පූර්ණ අයිතිය ද, එකී ගිවිසුම් තමන් සමග කරගත් ගිවිසුම් හැටියට, එකී විහාරයේ බාරකාර තැනට හෝ පරිපාලක විහාරාධිපති භික්ෂුවට අවස්ථාවෝචිත පරිද්දෙන්, ක්‍රියාවට නැංවිය හැකිය. එකී දිනයේ, කිසියම් විහාරයකට හෝ ඒ විහාරය වෙනුවෙන් කිසියම් පුද්ගලයෙකුට හෝ ණය මුදල් ගෙවිය යුතුව සිටි හැම දෙනම, එම ණය මුදල් එකී බාරකාරතැනට හෝ පරිපාලක විහාරාධිපති භික්ෂුවට ගෙවිය යුතුය; අවශ්‍ය වුවහොත් නඩු මාර්ගයෙන් ඒ මුදල් අය කර ගැනීමට, ඔවුන්ට මෙතැයින් බලය පවරනු ලැබේ.

*භික්ෂුව විසින් පෞද්ගලික පරිහරණය සඳහා උපයා ගත් පෞද්ගලික දේපළ.*

23. උරුමයෙන් තමන් සතුවූ දේපළ හැර, කිසියම් භික්ෂුවක් පෞද්ගලික පරිභෝගය සඳහා රැස්කළ සියලු පෞද්ගලික දේපළ ස්වකීය ජීවිත කාලය තුළ ඒ භික්ෂුව විසින් අන්සතු කොට නොදෙන ලද නම්, ඒ දේපළ, ඒ භික්ෂුව සම්බන්ධවූ විහාරය සන්තක දේපළ ලෙස ගිණිය යුතුය.

*මුදල් බැංකුවක තැන්පත් කළ යුතුය.*

24. (1) මහාබාරකාර තැන, සියතින් ලියූ ලියුමක් මගින් නියෝග කරනු ලැබිය හැකි විහාරස්ථානවල බාරකාරයින්, ඒ විහාර සඳහා හෝ ඒ විහාර වෙනුවෙන් හෝ ලැබෙන සියලු ආදයම්, බදු, මුදල්, ලාබ හා පූජා ලංකා සේවිංස් බැංකුවේ හෝ මහා බාරකාරතැන අනුදත් බැංකුවක, විහාරය නමින් වෙනම ගනුදෙනුවක් ලෙස තැන්පත් කළ යුතුය.

(2) ඒ බැංකු සටහන් පොත, මේ පනතේ 38 වෙනි ඡේදයේ සඳහන් ගණන් පරීක්ෂක තැන ගේ හෝ, මහා බාරකාර තැන පත්කළ කිසියම් නිලධාරියෙකුගේ හෝ පරීක්ෂාව සඳහා ඕනෑම විටක තිබිය යුතුය.

(3) මහා බාරකාර තැනගෙන් ලියවිල්ලක් මගින් ලත් අවසරයක් නො මැතිව, එබඳු බාරකාරයෙකු ළඟ රුපියල් එක සියයකට වැඩියෙන් නොතබා ගත යුතුය.

*බාරකාර තැන ආදයම් යොද වන පරිදි.*

25. විහාරස්ථානයක් සඳහා හෝ වෙනුවෙන් බාරකාර තැන විසින් පිළිගනු ලබන සියලුම ආදයම්, බදු මුදල්, ලාබ සහ පූජා මහා බාරකාර තැනගේ අනුමැතිය ඇතිව පහත සඳහන් කරුණු සඳහා ඒ බාරකාරතැනට, පරිහරණය කළ හැකිය.

(අ) එකී විහාරයේ අවශ්‍ය අලුත් වැඩියා කිරීම හා බඩු මුට්ටු සැපයීම සහ විහාරය සතු පාරවල් හා ගොඩනැගිලි නඩත්තුව: එහෙත්, විහාරයක් හා දේවාලයක් එකම භූමියේ පිහිටියේ නම්, එකක ආදයම, අනිකේ අලුත් වැඩියා කිරීම, ගොඩනැගිලි විශාල කිරීම සහ දියුණු කිරීම සඳහා යෙදවිය හැකිය.

(ආ) එකී විහාරස්ථානයේ භික්ෂූන්ගේ හා නිලධාරීන්ගේ යැපීම;

(ඉ) එකී විහාරස්ථානය තුළ හෝ විහාරස්ථානය විසින් හෝ විහාරස්ථානය සම්බන්ධයෙන් හෝ එතෙක් පවත්වා ගෙන එනු ලැබූ ආගමික පූදපූජා සහ වෙනත් චාරිත්‍රානුකූල උත්සව ආදිය පැවැත්වීම;

(ඊ) අධ්‍යාපනය දියුණුකිරීම;

(උ) දේවාලයක් හෝ කෝවිලක නම්, දුප්පතුන්ට අසරණාධාර සැපයීම හා, විහාරයක නම් භික්ෂූන්ට හා වෙනත් අයට, චාරිත්‍රානුගත ආගන්තුක සත්කාර සම්මාන කිරීම;

(ඌ) 28 වෙනි හා 31 වෙනි ඡේද යටතේ වන්දි ගෙවීම හා මෙම පනතින් සම්පාදක නීති ක්‍රියාවට නැඟීමෙහි ලා, යථාපරිදි දරන්නට වූ නඩු ගාස්තු ගෙවීම;

(එ) මේ පනතේ සම්පාදිත නීති ක්‍රියාවට නැඟීම සඳහා වියදම් වූ හෝ වියදම්විය හැකි මුදලින්, අග්‍රාණ්ඩුකාර තුමා කරන තීරණය අනුව, කොටසක් ගෙවීම;

(ඒ) මේ ආඥා පනතින් සම්පාදිත නීති ක්‍රියාවට නැංවීමෙහි ලා බාරකාරයන්ට වියදම් වූ මුදල් ගෙවීම හා, ඔවුන්ට වේතනයක් දීම; සහ

(ඔ) මහා බාරකාර තැන අනුමත කරන වෙන කිසියම් කරුණු.

*නිශ්චල දේපළ උගස් කිරීම හෝ පවරා දීම අවලංගුය.*

26. විහාරස්ථානයක් සතු නිශ්චල දේපළ පිළිබඳ කිසිම උගස්කරයක්, විකුණුම්කරයක් හෝ වෙනයම් අන්සතු කිරීමක් වලංගු හෝ නීත්‍යනුකූල නොවේ.

එහෙත්, පරවෙනි පංගුවකට හෝ තෙමසකට කලින් මහා බාරකාර තැනට ලියවිල්ලක් මගින් දැන්වීමකට අනතුරුව, දේපළ අත්කර ගැනීමේ තහනම් නියෝගය නිකුත් කොට, එකී දේපළ අණපරිදි විකිණීමකට හෝ මේ ඡේදය බලනොපැවැත්විය යුතුය.

පරවෙනි සංඝ පැවරීම.

27. (1) විහාරයක් සතු ඉඩමක පරවෙනි සංඝකාරයෙකුගේ අයිතිය පවරා දෙනු ලැබූ විට, එසේ පවරා මාසයක් ඇතුළත පිටපත් දෙකක් සහිත ලියවිල්ලක් මාර්ගයෙන් මහා බාරකාර තැනට දන්වා සිටීම, එය පවරනු ලැබූ තැනැත්තාගේ යුතුකමය.

(2) එසේ දන්වා සිටි කල්හි, මහා බාරකාර තැන,

(අ) ඒ දැන්වීම ලැබී එක් සතියක් ඇතුළත, එය ලද බව ලියවිල්ලකින් දන්වා සිටිය යුතුය.

(ආ) එබඳු දැන්වීම් පිළිබඳ ලේඛනයක් තැබිය යුතුය.

(ඉ) එබඳු දැන්වීම්වල එක පිටපතක් බැගින් ඊට සම්බන්ධ විහාරයේ බාරකාර තැන වෙත යැවිය යුතුය.

(3) (1) වෙනි අනුච්ඡේදයෙන් සම්පාදිත අවශ්‍යතාවයන්ට අනුකූලව ක්‍රියා කිරීමට, එසේ පවරනු ලැබූ කිසියම් තැනැත්තෙකු අසමත් වුවහොත්, ඔහු වරදකරුවකු වී, ලඝු විනිශ්චයකින් පසු රුපියල් පන් සියයක දඩයකට හෝ ඒ වෙනුවට හය මාසයක සිර දඬුවමට හෝ යටත් විය යුතුය.

අනියම් අයුරින් පවරා දෙන ලද දේපළ ආපසු ලබාගැනීම.

28. (1) කිසියම් විහාරයක් සන්තක පරවෙනි සංඝ හැර අන්කිසි නිශ්චල දේපළක්, මේ පනත ආරම්භ කිරීමට පෙර, එකී විහාරයට පාඩු සිදුවෙන පරිදි උගස්කර, විකුණා හෝ වෙනයම් අයුරකින් අන්සතු කර තිබේ යයි, හෝ මේ පනතට අනතුරුව, මේ පනතින් සම්පාදිත නීති උල්ලංඝණය කරමින් උගස්කර, විකුණා හෝ වෙනයම් අයුරකින් අන්සතු කර පවරා තිබේ යයි හෝ මහා බාරකාර තැනට ඒත්තු ගිය කල්හි, එබඳු උගසක්, විකුණුම්කරයක් හෝ අන්සතු කිරීමක් අවලංගුකර, එකී දේපළ යළිත් බුක්තියට ගැනීම සඳහා නඩු පවරන ලෙස බාරකාර තැනට හෝ පරිපාලක විහාරාධිපතිට නියෝග කිරීම, මහා බාරකාර තැනගේ යුතුකම විය යුතුය.

එහෙත්, උසාවිය එබඳු උගසක්, විකිණුමක් හෝ අන්සතු කිරීමක් අවලංගු කිරීමේදී, දෙපක්ෂය අතර කුමන්ත්‍රණයක් නොවී නම්, එකී දේපළ මත හෝ එකී දේපළවලට, ඔහු විසින් කරන ලද කිසියම් ස්ථිර වර්ධනයක් වෙතොත් ඒ සඳහා උගසගත් අයට, විකුණුම්කරය ගත් අයට හෝ පවරනු ලැබූ අයට වන්දි නියම කළ යුතුය.

(2) කිසියම් බාරකාරයෙකු හෝ පරිපාලක විහාරාධිපති කෙනෙකු එකී නඩු පැවරීම හෝ නඩු කීම ප්‍රතික්ෂේප කළ



හොත්, පැහැර හැරියහොත් හෝ ප්‍රමාද කළහොත්, මහා බාරකාර තැනට ඒ සඳහා අන්කිසි ඕනෑම පුද්ගලයෙකුට බලය පැවරිය හැකිය.

බදු දීම සඳහා බාරකාරයා හෝ විහාරාධිපති සතු බලය.

29. (1) තමාට සාධාරණයයි හැඟෙන බදු මුදල් අයකර, කොන්දේසි පනවා, තම විහාරය සන්තක ඉඩම් සියල්ලම හෝ කිසියම් ඉඩමක් කලින් කලට බදු දීමට බාරකාර තැනට හෝ පරිපාලක විහාරාධිපති භික්ෂුවට නීත්‍යනුකූල බලය තිබේ. එහෙත්, රුපියල් පන්සියයකට නොවැඩි වටිනාකමක් ඇති හෝ අක්කර පහකට නොවැඩි ප්‍රමාණයකින් යුත් ඉඩම් එක් වර්ෂයකට නොවැඩි කාලසීමාවකට බදුදීමේදී හැර, එබඳු බදුකර, පහත සඳහන් ප්‍රාරම්භක කරුණු වලට යටත් විය යුතුය.

(අ) මහා බාරකාර තැනගෙන් කල් තබා ලියවිල්ලකින් ලත් අනුමැතිය රහිතව එසේ බදු නොදිය යුතුය ;

(ආ) වෙන්දේසියකින් හෝ පෞද්ගලික ගිවිසුමකින් තීන්දු කරන මෙන් මහා බාරකාර තැන බලය පැවරුවහොත් මිස, එකී බදුකර, ටෙන්ඩර කැඳවීමෙන් පසුව, සාමාන්‍යයෙන් ඉහළම ටෙන්ඩරය ඉදිරිපත් කරන පුද්ගලයාට පැවරිය යුතුය ;

(ඉ) මහා බාරකාර තැන එසේ නියෝග කරතොත්, අසූවල් දිනෙන් පසු තමා විසින් ටෙන්ඩර් පත්‍ර බාර නොගනු ඇතැයි, දැන්වීම පළකරන දිනෙන් පසු, සති හයකින් මෙපිට නුවූ දිනයක් සඳහන් කොට, බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති භික්ෂුව බදුකරයේ සියලු කොන්දේසි, ස්වදේශීය පුවත් පතක හෝ පුවත් පත්වල ප්‍රකාශයට පත්කළ යුතුය ;

(ඊ) ටෙන්ඩර් පත්‍ර ඉදිරිපත් කරන්නා, එකී ටෙන්ඩර් පත්‍ර, බාරකාර තැනට හෝ පරිපාලක විහාරාධිපති භික්ෂුවටත්, මහා බාරකාර තැනටත් යන දෙදෙනාටම යැවිය යුතුය :

(උ) බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති භික්ෂුව එකී ටෙන්ඩර් පත්‍ර සංග්‍රහ කොට, තමාගේ නිර්දේශයන් ද සහිතව මහා බාරකාර තැන වෙත යැවිය යුතුය; මහා බාරකාර තැනට එහිලා තමාට යෝග්‍යයයි හැඟෙන නියෝගයක් නිකුත් කළ හැකිය.

(2) මේ පනතින් සම්පාදිත නීති යටතේ බදු දෙන ලද, විහාරයක් සතු කිසිම ඉඩමක් බෞද්ධ ප්‍රතිපත්ති වලට විරුද්ධ වූ කිසිම කරුණක් සඳහා නොයෙදිය යුතුය.

(3) කිසිම බදුකරයක්, කිසිම හේතුවක් නිසා, වර්ෂ අනූ නවයකට අධික කාලයක් සඳහා නොවිය යුතුය; අවුරුදු තිහකට අධික කාලයක් සඳහා දෙන බදුකර වලදී, බදුකරය ආරම්භ වෙන දින පටන් දස වර්ෂයක් දස වර්ෂයක් පාසා, බදු මුදල යළි සලකා බැලිය යුතුයයි සඳහන් අතුරු ගිවිසුමක් ඒ බදු ගිවිසුමට ඇතුළත් කළ යුතුය.

(4) කිසිම බාරකාරයෙකුට හෝ මේ ආඥා පනතින් සම්පාදිත නීති යටතේ කිසියම් පදවියක් දරන අන්කිසිම පුද්ගලයෙකුට හෝ ඔහු ඒ පදවිය හෝ බාරකාරකම දරන කිසිම විහාරයක් සන්තක කිසිම ඉඩමක් හෝ ගොඩනැගිල්ලක් බදු නොදිය යුතුය.

(5) මහා බාරකාරතැනගේ අනුමැතිය අවශ්‍ය නුවූ තන්හි, බදුකරය පවරා එක මාසයක් ඇතුළත, බදු දුන් ඉඩමේ නම හා ප්‍රමාණය, බදු මුදලේ ප්‍රමාණය හා කොන්දේසි ද සහිතව බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති විසින් මහා බාරකාර තැන වෙත දන්වා සිටිය යුතුය.

(6) මේ ආඥා පනතින් සම්පාදිත කිසියම් නීතියක් උල්ලංඝණය කළ සියලුම බදුකර අවලංගු, අහෝසි විය යුතුය; නීතිය හමුවේ සර්වාප්‍රකාරයෙන්ම නිෂ්ඵල විය යුතුය.

බදුකර පැවරීම

30. විහාරයක් සන්තක ඉඩම්වල බදුකර පිළිබඳ හැම පැවරීමක්ම සඳහා මහා බාරකාර තැනගේ අනුමැතිය අවශ්‍ය විය යුතුය. ඔහුගේ අනුමැතිය ලියවිල්ලක් මගින් නොලබා කළ හැම පැවරීමක් ම, අවලංගු, අහෝසි විය යුතුය; නීතිය හමුවේ සර්වාප්‍රකාරයෙන්ම නිෂ්ඵල විය යුතුය.

සමහරවිට උසාවියට බදුකර අවලංගු කළ හැකිය.

31. (1) පහත සඳහන් කරුණු, බලය ලත් උසාවියකට ඒත්තු යන පරිදි ඔප්පුකර සිටියහොත්, එනම්:

(අ) මෙම ආඥා පනත බලපැවැත්වීමට පෙර, කිසියම විහාරයක දේපළ,

(i) එකී විහාරයේ සුබසිද්ධිය හා ගැලපෙන කාලයකට අධික වර්ෂ ප්‍රමාණයකට; හෝ

(ii) අදූරදර්ශීව අන්සතු කළැයි පැහැදිලි වෙන කොන්දේසි පිට; හෝ





(iii) පැහැදිලිවම ප්‍රමාණවත් නොවන මුදල කට; හෝ

(iv) බදුකාරයාගේ පෞද්ගලික ප්‍රයෝජනයට හෝ ඔහුගේ කිසියම් ඥාතියකුගේ හෝ සේවකයෙකුගේ ප්‍රයෝජනයට; හෝ

(v) වංචනික චේතනාවෙන් හෝ බදු දෙන ලදැයි ද;

(අ) මේ ආඥා පනතින් සම්පාදිත නීති උල්ලංඝණය කරමින්, කිසියම් විහාරයක දේපළ බදු දෙන ලදැයි නැතහොත් බදුකරයක් පවරන ලදැයි ද, බලය ලත් උසාවියකට ඒත්තු යන පරිදි ඔප්පු කර සිටියහොත්, එකී විහාරයේ බාරකාර තැනගේ හෝ පරිපාලක විහාරාධිපතිගේ ඉල්ලීම පිට හෝ; මහා බාරකාර තැනගේ නියෝගය පරිදි බාරකාර තැන හෝ පරිපාලක විහාරාධිපති තැන එසේ ඉල්ලීමක් නොකළ හොත් ඉන්පසු මහා බාරකාර තැනගෙන් ලියවිල්ලකින් බලයලත් කිසියම් පුද්ගලයෙකුගේ ඉල්ලීම පිට හෝ, එකී උසාවිය, එකී බදුකරය ඉවත්කොට, මේ පනත යටතේ ඒ දේපළ බාරව සිටිය යුතු බාරකාර තැනට හෝ පරිපාලක විහාරාධිපති භික්ෂුවට ඒ දේපළ යළි පැවරිය යුතුය, නැතහොත් එහි කොන්දේසි සංශෝධනය කළ යුතුය.

(2) ඉහතකී අනුඡේදය අනුව ඉල්ලීමක්, ලඝු ක්‍රමය යටතේ ඉදිරිපත් කළ හැකිය. එහෙත්, එබඳු ඉල්ලීමක් සාමාන්‍ය ක්‍රමය යටතේ ඉදිරිපත් කළ යුතුයයි කිසියම් විටක උසාවියට නියෝග කර සිටිය හැකිය.

(3) මෙසේ අවලංගු කරන බදුකරය සම්බන්ධයෙන් බදු දෙන්නා හා බදු ගන්නා අතර කුමන්ත්‍රණයක් නො පැවැත්තේ නම්, ඉඩම බදුගෙන සිටි කාලය තුළ ඔහු ඒ දේපලවල ස්ථිර දියුණුව සඳහා කළ දේයට උසාවිය ඔහුට වන්දි නියම කළ යුතුය.

පදවියෙන් අස්වූ බාරකාර තැනගෙන් හෝ විහාරාධිපතිගෙන් දේපළ ආපසු ලබා ගැනීම.

32. (1) මේ ආඥා පනත හෝ මෙයින් අවලංගු කළ අන්කිසි පනතකින් සම්පාදිත නීති යටතේ කවර කරුණක් නිසා හෝ, බාරකාරයා ලෙස තම පදවියෙන් ඉවත්වූ, කිසියම් විහාරයක බාරකාර තැන හෝ කිසියම් විහාරාධිපති භික්ෂුවක, තමා විසින්ම හෝ තමා වෙනුවෙන් අන්

කිසි පුද්ගලයෙකු මාර්ගයෙන් හෝ කිසියම් විහාරයක් සන්තක චංචල හෝ නිශ්චල දේපළ බාරව සිටිතොත් හෝ පරිහරණය කරතොත්, එසේම එකී දේපළ එම විහාරයේ එවකට බාරකාරයාට හෝ මහා බාරකාර තැන ඒ සඳහා බලය පැවරූ අන්කිසි පුද්ගලයෙකුට හෝ පවරා දීම ප්‍රතික්ෂේප කළහොත් හෝ පැහැර හැරියහොත්, එකී අනික් බාරකාර තැනට හෝ ඉහත සඳහන් එකී පුද්ගලයාට දේපළ පවරා දෙන මෙන්, මුලින් ඒ බාරකාර තැනට බල කරන නියෝගයක්, ලඝු ක්‍රමයෙන් උසාවියෙන් ඉල්ලා සිටීමට, එකී බාරකරුට හෝ මහාබාරකරුට හෝ ඉහත සඳහන් පරිදි බලය ලත් පුද්ගලයාට හෝ පුළුවන් විය යුතුය.

(2) එබඳු ඉල්ලීමක් ගැන විභාගයෙන් පසු, පිස්කල් හෝ උප පිස්කල් තැනට නියෝගයක් නිකුත් කොට තම (උසාවියේම) ආඥාවක් අනුව නිකුත් කළ නියෝගයක් පරිද්දෙන්, බාරය පවරා දීමට එකී උසාවියට බලය තිබිය යුතුය.

(3) මෙහි සඳහන් වන පුද්ගලයා, තම බාරකාර පදවියෙන්, ඉහත කී පරිදි ඉවත් විනැයි ප්‍රකාශිත, මහා බාරකාර තැනගේ අත්සන සහිත සහතික පත්‍රයක්, එහි අන්තර්ගත කාරණය පිළිබඳ තීරණාත්මක සාක්ෂිය විය යුතුය.

උසාවිය සතු සාමාන්‍ය බලතල.

33. මහ බාරකාර තැනගේ කිසියම් බාරකාරයෙකු හෝ පරිපාලක විහාරාධිපති භික්ෂුවක් ඉල්ලා සිටි කල්හි,

(අ) මේ පනත යටතේ පැන නගින කිසියම් කරුණක් සම්බන්ධ සිදුවූ හදිසි වරදකින් හෝ ප්‍රමාදයකින් හෝ අනියම් දෙයකින් මුද ගැනීමටත්;

(ආ) කිසියම් නීත්‍යානුකූල ක්‍රියාවක් සඳහා මේ පනතේ නියමිත කාලය දික් කිරීමටත්;

(ඉ) කිසියම් කෙනෙකු වෙත මේ පනතින් පැවරුණු කිසියම් යුතුකමක්, නියෝගයේ සඳහන් කාලය තුළ ඉටුකරනමෙන් නියෝග කිරීමටත්, මේ ඡේදය යටතේ උසාවිය සතු බලතල ක්‍රියාවට නැංවීම සඳහා, ඒ ඒ කාර්‍ය්‍යයට සාධාරණ පරිදි ඕනෑම නියෝගයක් නිකුත් කිරීමටත් උසාවියට අවසර තිබේ.

කාලසීමා අවලංගුව බලනොපායි.

34. කිසියම් විහාරයක් සන්තක වූ හෝ සන්තක යයි කියනු ලබන චංචල හෝ නිශ්චල දේපළක් ආපසු අත්පත් කර ගැනීමට හෝ එබඳු දේපලකට අයිතිය තහවුරු කර ගැනීමට හෝ කරන ඉල්ලීමක්, කාලසීමා ආඥා පනතේ සම්පාදිත කිසිම නීතියකින් තහනම් වූ හෝ හානි වූ ලෙස නොතැකිය යුතුය. එහෙත්, මේ පනත බලපැවැත්වීමට පෙර අත්පත් කර ගත් අයිතිය කෙරෙහි මේ ඡේදය බල නොපෑයුත් විය යුතුය.



## IV වෙනි කොටස.

# ගණන් හිලවු, ගණන් පරීක්ෂාව

බාරකාර තැන අය හා වැය පිළිබඳ සම්පූර්ණ වූත් සවිස්තර වූත් ගණන් හිලව් ලේඛනයක් තැබිය යුතුය.

35. (1) මහ බාරකාර තැන නියම කරන ආකාරයට පහත සඳහන් කරුණු ගැන, සම්පූර්ණ වූත්, සවිස්තර වූත් ගණන් හිලව් තැබීම, හැම බාරකාරයෙකුගේම යුතුකම විය යුතුය:

(අ) විහාරයට පූජා කරන දේ සහ විහාරය සන්තක නිශ්චල, චංචල දේපළ වලින් ඔහුට ලැබෙන ආදයම, බදු, මුදල් හා ලාබ:

(ආ) මෙම ආඥා පනතේ 25 වෙනි ඡේදයෙන් විස්තර වූ කරුණු සඳහා ඔහු විසින් දරන ලද විය හියදම්.

(2) මහා බාරකාර තැන නියම කරන ආකාරයට, විහාරය සන්තක සියලු චංචල හා නිශ්චල දේපළ පිළිබඳ විස්තර ලේඛනයක් සකස් කර තැබීම, හැම බාරකාරයෙකුගේ හා පරිපාලක විහාරාධිපතිවරයෙකුගේ යුතුකම විය යුතුය.

(3) එකී සියලු ගණන් හිලව් සහ විස්තර ලේඛන පරීක්ෂා කිරීමටත්, එහි අන්තර්ගත දෑ හරි-වැරදි බැලීමටත් සුදුසු හැම වේලාවකම, මහා බාරකාර තැනට හෝ ලියවිල්ලක් මගින් ඔහු විසින් බලය පවරනු ලැබූ ඕනෑම පුද්ගලයෙකුට, අවසර සැලසීම, එකී බාරකාර තැනගේ හා පරිපාලක විහාරාධිපතිගේ යුතුකම විය යුතුය.

(4) මේ ඡේදයෙන් සම්පාදිත නීති උල්ලංඝණය කරන බාරකාරයෙකු හෝ පරිපාලක විහාරාධිපති කෙනෙකු වරද කරුවෙකු විය යුතුය; ලඝු විභාගයකින් පසු, රුපියල් දෙසියයකට නොවැඩි දඩයකට ඔහු යටත් විය යුතුය.

ගණන් හිලව් අර්ධ වාර්ෂිකව සකස් කොට ඉදිරිපත් කළ යුතුය.

36. (1) හැම වර්ෂයකම ජූනි මස තිස් වෙනිදයින් සහ දෙසැම්බර් මස තිස් එක් වෙනිදයින් අවසන් වන හැම අර්ධ වර්ෂයක් අග දීම, එකී ගණන් හිලව් පිළිබඳ ප්‍රකාශයක් සකස් කිරීම, හැම බාරකාරයෙකුගේම යුතුකම විය යුතුය; එකී ගණන් හිලව් ''සත්‍යය, සැබෑය'' යි එකී බාරකාර තැන, එය අවසානයේ ප්‍රකාශයට අත්සන් තැබිය යුතුය.

(2) (අ) එක් එක් අර්ධ වර්ෂය අවසාන වී තිස් දවසක් ඇතුළත, එකී භාරකාර තැන තමාගේ ගණන් හිලව් මහා භාරකාර තැනට ඉදිරිපත් කළ යුතුය. එකී ගණන් හිලව්, දළදා මාළිගාවේ නම් මල්වතු විහාරයේ හා අස්ගිරි විහාරයේ මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ විසින් ද, දේවාලයක් නොවන අන් සියලුම විහාරවල නම්, ඒවායේ විහාරාධිපතීන් වහන්සේලා විසින් ද සම්මුති අත්සන් තැබිය යුතු වෙයි.

(ආ) මහානායක ස්ථවිරයන් වහන්සේලා හෝ විහාරාධිපතීන් වහන්සේලා එකී ගණන් හිලව් වලට සම්මුති අත්සන් තැබීමට නුපුළුවන් වුවහොත්, ඒ බව සඳහන් ප්‍රකාශයක් ද සමග එකී ගණන් හිලව් ඉදිරිපත් කළ යුතුය.

(3) මේ ඡේදයේ සම්පාදිත කිසියම් නීතියක් උල්ලංඝණය කරන ඕනෑම භාරකාරයෙක්, වරදට හසුවී, ලඝු විනිශ්චයකින් වරදකරු කොට රුපියල් දෙසියයකට නොවැඩි දඩයකට යටත් විය යුතුය.

භාරකාර තැනට හා මහා භාර කරුට තොරතුරු සැපයීම විහාරාධිපති සතු යුතු කමය.

37. (1) මහා භාරකාර තැන ඉල්ලා සිටි කල්හි, පහත සඳහන් කරුණු සම්බන්ධයෙන් තමා සතු සියලු තොරතුරු භාරකාර තැනට සැපයීම, විහාරාධිපතිගේ යුතුකම විය යුතුය:

(අ) එකී විහාරස්ථානයට කෙරෙන පුද පූජාවන් මගින් විහාරයට ලැබෙන වාර්ෂික ආදායම;

(ඇ) එකී විහාරය සන්තක පරවේණි පංගු, මාරුවෙන පංගු සහ වෙනත් ඉඩම් පිළිබඳ තත්වය, ප්‍රමාණය හා වටිනාකම;

(ඉ) ඕනෑම අයිතිවාසිකමක් හේතු කොට ගෙන, එකී විහාරස්ථානය සන්තක වූ හෝ භුක්ති විඳ ගෙන එන, නිශ්චල හා චංචල දේපළවල මාසික හෝ වාර්ෂික බද්ද, ආදායම හෝ ලාබය.

(2) මෙම ඡේදය අනුව, සැපයිය යුතු කිසියම් තොරතුරක්, යුක්ති සහගත හේතුන් රහිතව, අත්හිටවන්නාවූ හෝ, ඒ පිළිබඳ අසත්‍ය තොරතුරක් සිතාමතා සපයන්නාවූ හෝ, මේ පනතින් සම්පාදිත නීති යටතේ භාරකාර තැන වෙත පැවරිය යුතු වූ කිසියම් දේපළක් යුක්ති සහගත හේතුන් රහිතව තමා වෙත රඳවා ගන්නාවූ හෝ, සිය යුතුකම් ඉටු කරන භාරකාරයෙකුට සිතාමතා අවහිර කරන්නාවූ හෝ කරවන්නාවූ, කිසියම් විහාරාධිපති කෙනෙකු වෙතොත් ඔහු, වරද කරුවෙකු කොට, ලඝු දණ්ඩ නියමයකින් පසු රුපියල් දෙසියයකට නො වැඩි දඩයකට යටත් විය යුතුය.



ගණන් හිලව් පරීක්ෂණය.

38. (1) මහා භාරකාර තැනට, එකී භාරකාරයින් ගේ සියලු ගණන් හිලව්, ස්වකීය කාර්‍යාංශයේම නිලධාරියෙකු ලවා හෝ ගණන් පරීක්ෂා කරවිය හැකිය. නැත්නම්, එකී සියලු ගණන් හිලව් ඔඩිටර් ජනරාල් තැන වෙත යැවිය හැකිය. ඔඩිටර් ජනරාල් ඒවා ඔඩිට් කාර්‍යාංශයේ නිලධාරියෙකු ලවා ගණන් පරීක්ෂාකර විය යුතු ය.

(2) එකී හැම නිලධාරියෙකුට ම, එකී ගණන් පරීක්ෂණ සඳහා, වරින් වර සංශෝධිත පරිදි මහා භාරකාර ආඥා පනතේ 47 වෙනි ඡේදයෙන් ගණන් පරීක්ෂක වරයෙකුට පවරා ඇති සියලු බලතල හිමිවිය යුතුය; එකී ගණන් පරීක්ෂණය අවසානයේ දී, තමා ඉදිරියේ අත්සන් තබා කළ සියලු ප්‍රකාශයනුත් සමග, ලිඛිත වාර්තාවක් මහා භාරකාරතැනට ඉදිරිපත් කළ යුතුය. මහා භාරකාර තැනට මේ පනතින් සම්පාදිත නීති යටතේ, ඒ ගැන තමා යෝග්‍යයයි සිතන ඕනෑම ක්‍රියා මාර්ගයක් අනුගමනය කළ හැකිය.

යථා පරිදි හේතු නො පෙන් වන ලද ගණන් හිලව් ගැන මහා භාර කරු පරීක්ෂණ පවත්වා අවශ්‍ය වුවහොත්, සාමාන්‍යයෙන් විශ්වාසය කඩකිරීම ගැන සැකකළ භාර කරුවන්ට විරුද්ධව නඩු පැවර විය යුතුය.

39. මේ ආඥා පනතේ මේ කොටසින් නියමිත පරිදි කිසියම් විහාරයක ආදායම, බදු, මුදල්, ලාබ සහ පූජා භාණ්ඩ ගැන යථා පරිදි ගණන් හිලව් ඉදිරිපත් නොකරතොත්, තමා යෝග්‍යයයි සිතන පරිදි පරීක්ෂණයක් පැවැත්වීමත්, විශ්වාසය කඩකිරීමේ අපරාධයක් කළැයි ගැණෙන සැකයකට පාත්‍රවන භාරකාර තැනට විරුද්ධව නඩු පැවර වීමත් මහා භාරකාර තැනගේ යුතුකමය.

## V වෙනි කොටස

# විවිධ කරුණු

පනත යටතේ බලතල ක්‍රියාවේ යෙදවීමට අවශ්‍ය සාමාන්‍ය සුදුසු කම්.

40. පුරුෂ පක්ෂයට අයත් වූවෙකුට, බෞද්ධයෙකුට හා වයසින් අවුරුදු විසි එක සම්පූර්ණ කළ කෙනෙකුට හැර අන්කිසි පුද්ගලයෙකුට උපදේශක මංඩලයේ සාමාජිකයෙකු වීමට, හෝ අටමස්ථාන කාරක සභාවේ සාමාජිකයෙකු වීමට හෝ සාමාජිකයෙකුගේ නාම යෝජනා ඉදිරිපත් කිරීමට හෝ භාරකාරයෙකු වීමට හෝ විහාරයක භාරකාරයෙකු පත් කිරීමේ ඡන්ද විමසීමක ඡන්දය දීමට හෝ අයිතිවාසිකමක් අත් විය යුතු නැත.

භික්ෂු
නාම ලේඛනය.

41. (1) (අ) මේ ආඥා පනත ආරම්භවූ දිනයේ, භික්ෂුවක් වූ හැම පුද්ගලයෙකුම–

(1) උපසම්පන්න භික්ෂුවක් නම්, ඇඩුල් පතේ (A) පෝර්ම, කොල තමා ම සපයාගෙන, එහි ඉඩ හැර ඇති තැන්වල තමා පිළිබඳ තොරතුරු සඳහන් කළ යුතු ය;

(2) සාමනේර භික්ෂුවක් නම්, ඔහු නේවාසිකව සිටින විහාරයේ විහාරාධිපතින් වහන්සේ ඇඩුල් පතේ (B) පෝර්ම කොල සපයා ගෙන එහි ඉඩ හැර ඇති තැන්වල එකී සාමනේර භික්ෂුව පිළිබඳ තොරතුරු සඳහන් කළ යුතුය.

(ආ) එකී දිනයේ සිට තුන් මාසයක් ඇතුළත හෝ, එදින දිවයිනෙන් බැහැරව සිටි උපසම්පන්න හෝ සාමණේර භික්ෂුවක් නම්, තමා දිවයිනට ආපසු පැමිණ තුන් මාසයක් ඇතුළත, හෝ එකී උපසම්පද භික්ෂුව හා විහාරාධිපති, තම තමන් ගේ පෝර්ම කොල පිටපත් දෙක බැගින් රිජිස්ත්‍රාර් ජනරාල් තැන වෙත ඉදිරි පත් කළ යුතුය.

(2) (අ) මේ ආඥා පනත බල පැවැත්වීම ඇරඹූ දිනට තදනන්තරව, භික්ෂුවක් බවට පැමිණි හැම පුද්ගලයෙකු පිළිබඳවම

(i) ඔහු උපසම්පන්න භික්ෂුවක් බවට පත් වූ කල්හි, ඇඩුල් පතේ (A) පෝර්ම කොල තමා විසින්ම සපයා ගෙන, එහි ඉඩ හැර ඇති තැන්වල තමා පිළිබඳ තොරතුරු ඇතුළත් කළ යුතුය;

(ii) ඔහු සාමණේර භික්ෂුවක් බවට පත්වූ කල්හි, මහණ කළ ආචාර්‍ය්‍ය වරයා, ඇඩුල් පතේ (B) පෝර්ම කොල සපයා, එහි ඉඩ හැර ඇති තැන්වල එකී සාමණේර භික්ෂුව පිළිබඳ තොරතුරු ඇතුළත් කළ යුතුය.

(ආ) එසේ උපසම්පදව ලත් හෝ මහණ කළ දින සිට එක් මසක් ඇතුළත, එකී උපසම්පන්න භික්ෂුව හෝ ආචාර්‍ය්‍ය වරයා පිළිවෙළින්, ඒ ඒ අයට නියමිත පෝර්ම කොල පිටපත් දෙක බැගින් රිජිස්ත්‍රාර් ජනරාල් තැන වෙත ඉදිරි පත් කළ යුතුය.





(3) රිජිස්ත්‍රාර් ජනරාල් තැන, එකී පෝර්ම කොල පිටපත් දෙක බැගින් ලැබුණු කල්හි, ඉන් එකකින් එක පිටපත බැගින් තමන්ගේ ප්‍රයෝජනය සඳහා රඳවා ගෙන, අනික් පිටපත, එහි සඳහන් නිකායේ මහා නායක හෝ නායක ස්ථවිරයන් වහන්සේ වෙත ඉදිරි පත් කළ යුතුය. ඒ පෝර්මවල තම තමන්ගේ පිටපත් එක්තැන් කොට ලේඛනයක් සකස් කිරීම, රිජිස්ත්‍රාර ජනරාල් තැනගේ හා එකී මහා නායක හෝ නායක ස්ථවිරයන් වහන්සේලා ගේ යුතුකමය.

(4) එකී උපසම්පන්න භික්ෂූන්ගේ ලේඛනය, එකී සාමණේර භික්ෂූන්ගේ ලේඛනයෙන් වෙන් කළ යුතුය; කාණ්ඩ වශයෙන් බඳින ලද එහි පිටුවල පිළිවෙළින් අංක සලකුණු කොට, වෙන් වෙන් වශයෙන් සකස් කළ සූචිකින් ද සමන්විත විය යුතුය.

(5) තම නිකායට අයත් උපසම්පද භික්ෂූන් හා සාමණේර භික්ෂූන් පිළිබඳ ලේඛන යථා පරිදි අලුත්ම තත්වය පිළිබිඹු කිරීම සඳහාත්, ඔවුන් පිළිබඳ අවශ්‍ය විස්තර සටහන් කිරීම සඳහාත් වරින්වර අවශ්‍යවන පරිදි, වැරදි සැදීමත්, (තොරතුරු) එකතු කිරීමත්, වෙනස් කිරීමත්, හැම නිකායකම මහා නායක හෝ නායක ස්ථවිරයන් වහන්සේලා කළ යුතුය. නාම ලේඛනවල එබඳු සංශෝධනයක් කළ හැම විටකම, ඒ බව ඔහු වහාම රිජිස්ත්‍රාර් ජනරාල් තැන වෙත දන්වා සිටිය යුතුය; රිජිස්ත්‍රාර් ජනරාල් තැන ද, මේ ඡේදයෙන් නියමිත පරිදි සකස් කළ යුතු ඒ ලේඛන එපරිද්දෙන් සංශෝධනය කළ යුතුය.

(6) රිජිස්ත්‍රාර් ජනරාල් තැන සකස් කර ඇති ඒ ලේඛන මේ ආඥා පනතේ පරමාර්ථයන් සඳහා, හැම උසාවියක දීත්, හැම කරුණක් සඳහාත්, එහි අන්තර්ගත කරුණු විෂයෙහි විනිශ්චයට භාජන විය යුතුයයි හැඟෙන සාක්කියකි. නියමිත රෙගුලාසිවලට යටත්ව, ඒ ගැන සැලකිලිමත් බවත් දක්වන්නේ යයි කියා සිටින ඕනෑම පුද්ගලයෙකුට, එකී හැම ලේඛනයක්ම සොයා බැලීමටත්, පරීක්ෂාවට භාජනය කිරීමටත් අවසර තිබේ. නියමිත ගාස්තුව ගෙවූ පසු, එකී ලේඛනවල සහතික කළ පිටපත් හෝ උධෘත පාඨ ලබා ගත හැකිය.

(6) (අ) රෙජිස්ත්‍රාර් ජනරාල් විසින් පවත්වා ගෙන යනු ලබන ඒ ලේඛනයක ගොනු කරන ලද එකී ආකෘති පත්‍රයක පිට පතක් නැති වූ, එයට හානි සිදු වූ, එය කියවිය 1973 අංක 34
සංශෝධනය

නොහැකි බවට පත් වූ හෝ කියවිය නොහැකි බවට පත්වීමට ඉඩ ඇත්තා වූ ද එකී පිටපතේ අනුපිටපතක් නිකායක මහානායක ස්ථවිරයන් වහන්සේ විසින් හෝ ස්ථවිර කෙනකුන් වහන්සේ විසින් පවත්වා ගෙන යනු ලබන ලේඛනයක ඇත්තා වූද අවස්ථාවක, එකී මහා නායක ස්ථවිරයන් වහන්සේ හෝ නායක ස්ථවිරයන් වහන්සේ විසින් පවත්වා ගෙන යනු ලබන ලේඛනය සමග හරිවැරදි බැලීමෙන් පසු පිළිගැළප කරනු ලැබූ බවටත් ඒ අනු පිටපතේ සත්‍ය පිටපතක් බවටත් තමා විසින් සහතික කරනු ලැබූ ඒ අනු පිටපතේ පිටපතක් නිසි විභාගයකින් පසු එකී ආකෘති පත්‍රයේ පිටපත වෙනුවට රෙජිස්ට්‍රාර් ජනරාල් විසින් ආදේශ කරවිය හැකිය.

(6) (අ) රෙජිස්ට්‍රාර් ජනරාල් විසින් පවත්වා ගෙන යනු ලබන ලේඛනයක ගොනු කරන ලද එකී ආකෘති පත්‍රයක පිටපත සහ නිකායක මහා නායක ස්ථවිරයන් වහන්සේ හෝ නායක ස්ථවිර කෙනකුන් වහන්සේ විසින් පවත්වා ගෙන යනු ලබන ලේඛනයක ගොනු කරන ලද එකී අනුපිටපත

(අ) යන දෙකට ම හානි සිදු වූ හෝ ඒ දෙකම කියවිය නොහැකි බවට පත්වීමට ඉඩ ඇත්තා වූ අවස්ථාවක, ආදේශ කිරීමට හේතු ද පිටපතේ සඳහන් විස්තර ලබාගත් මාර්ගය ද දක්වෙන තමාගේ සහතිකයක් සහිතව ඒ ආකෘති පත්‍රයේ පිටපතක් තමා අවශ්‍ය යයි සලකන විභාගයකින් පසුව ඒ වෙනුවට රෙජිස්ට්‍රාර් ජනරාල් විසින් තම ලේඛනයෙහි ආදේශ කරවිය හැකි ය; නැතහොත්

(ආ) යන දෙකම නැති වූ හෝ කියවිය නොහැකි බවට පත් වී ඇත්තා වූ අවස්ථාවක

(i) යෝජිත ආදේශ කිරීමට හේතු ද ආදේශ කිරීමට යෝජනා කරන විස්තර ද ඒ විස්තර ලබාගන්නා ලද්දේ කිනම් සාක්ෂි පදනම් කොටගෙන ද යන වග ද දක්වමින් නිසි දිසා අධිකරණය වෙත පූර්ණ වාර්තාවක් සැපයීමෙන් පසු ව, සහ

(ii) ඒ දිසා අධිකරණය විසින් එම අධිකරණය අවශ්‍ය යයි සලකන විභාගයක් පැවැත්වීමෙන් ද එසේ ම අවශ්‍ය යයි සලකන දැනුම්දීම කිරීමෙන් ද ඉක්බිති එම අධිකරණය යෝග්‍යයයි සලකන ආදේශ කිරීමක් කිරීමට ඒ අධිකරණය විසින් බලය පවරනු ලැබීමෙන් පසුව



පමණක් රෙජිස්ට්‍රාර් ජනරාල් විසින් ඒ වෙනුවට ඒ ආකෘති පත්‍රයේ පිටපතක් තම ලේඛනයෙහි ආදේශ කරවිය හැකි ය.

මේ උපවගන්තිය යටතේ දිසා අධිකරණයක් ඉදිරියේ පැවැත්වෙන කිසිම නඩුකටයුත්තක් වෙනුවෙන් කිසිම මුද්දර ගාස්තුවක් ගෙවිය යුතු නොවන්නේය.

(6) (ඇ) (6) (අ) වන උප වගන්තියේ හෝ (6අ) වන උපවගන්තියේ විධිවිධාන අනුව සහතික කරන ලද සෑම පිටපතක් ම, එයින් ප්‍රතියෝජනය කෙරෙන මුල් පිටපත ලෙස සලකනු ලැබිය යුතු ය.

(7) මේ ඡේදයේ සම්පාදිත නීති අනුගමනය කිරීමට අපමත් වන හෝ උල්ලංඝණය කොට ක්‍රියා කරන හැම උපසම්පන්න භික්ෂුවක්ම, විහාරාධිපති කෙනෙක්ම, මහණ කරන ආචාර්ය භික්ෂුවක්ම, මහානායක හෝ නායක තෙර නමක්ම, වරද කරුවෙකු වී, මූලාධිකරණ දණ්ඩනියමයකින් පසු රුපියල් පනහකට නොවැඩි දඩයකට යටත් විය යුතුය.

භික්ෂු වේෂයෙන් පසුවීමේ වරද

42. උපසම්පන්න භික්ෂූන්ගේ ලේඛනයේ නම ඇතුළත් නොවන පුද්ගලයෙකු තමා උපසම්පද භික්ෂුවකැයි වේෂය දරුව හොත් හෝ සාමණේර භික්ෂූන්ගේ ලේඛනයේ නම ඇතුළත් නොවන පුද්ගලයෙකු තමා සාමණේර භික්ෂුවකැයි වේෂය දරුවහොත් එකී පුද්ගලයා වරද කරුවෙකු කොට, ලඝු දණ්ඩනයකින් පසු රුපියල් පනහකට නො වැඩි දඩයකට යටත් විය යුතුය.

43. (1) පහත සඳහන් කාර්යයන් සඳහා රෙකුලාසි පැන වීමට අග්‍රාණ්ඩුකාර තුමාට බලය තිබේ.

රෙකුලාසි පැනවීමේ බලතල

(අ) ඓතිහාසික, පුරාවිද්‍යාත්මක හෝ කලාත්මක වටිනාකමක් ඇතැයි සැලකිය හැකි බෞද්ධ ප්‍රතිමා, විහාර, ශිලාලිපි හා සිහිවටනයන් කල් තබා ගැනීමට හා ආරක්ෂා කර දීම සහ ඒවා අයෝග්‍ය හෝ විෂම අලුත් වැඩියා කිරීම් වලින් හෝ එකතු කිරීම් වලින් හෝ විනාශ කිරීම වැළැක්වීම;

(ආ) විහාර සන්තක වටිනා වස්තූන් ගේ ආරක්ෂාව හා භාරකාරත්වය සැපයීම;

(ඇ) මේ පනතින් සම්පාදිත නීති ක්‍රියාවට නැංවීම සඳහා විහාර දේපළ වලින් මුදලක් අයකර ගැනීම;

(ඈ) විහාරවලට ලැබෙන පූජා භාණ්ඩ හා සම්මාදම් යථා පරිදි ආරක්ෂා කිරීමට විධිවිධාන යෙදීම;

(ඉ) ගණන් හිලව්, ලේඛන හා පොත්පත් සකස් කළ යුතු අන්දම හා ආකාරය, ඒවා පරීක්ෂා කිරීම කොන්දේසි හා ඉන් උපුටා ගැනීම් වලට ගාස්තු නියම කිරීම;

(ඊ) පැවුල් පතේ පෝරම කොල සංශෝධනය කිරීම හා අතිරේක පෝරම කොල නියම කිරීම;

(උ) මහා බාරකාරතැන උපදේශක මණ්ඩලය විමසිය යුතු කරුණුත්, එකී උපදේශක මණ්ඩලය එහි රැස්වීම් පැවැත් විය යුතු පරිදිත් නියම කිරීම;

(ඌ) දියවඩන නිලමෙ සහ බස්නායක නිලමෙවරුන් තෝරා පත් කිරීමට ඡන්දදායක ලැයිස්තුවක් සකස් කරන ක්‍රමය නියම කිරීම.

(2) මේ ආඥා පනත යටතේ සකස් කළ සියලුම රෙගුලාසි, පහසුවෙන් හැකි තරම් ඉක්මනින්, මන්ත්‍රණ සභාවේ එකිනෙකට අනතුරුව පවත් වන රැස්වීම් දෙකක් හමුවට පත්කොට, අනතුරුව පවත්වන ඊළඟ රැස්වීමේදී, එකී රෙගුලාසි ප්‍රතික්ෂේප කළ යුතු නොවේ යයි යෝජනාවක් මගින් සභාවට ඉදිරිපත් කළ යුතුය; එකී යෝජනාව ඉදිරිපත් වූ පසු, හෝ, ඒ පිළිබඳ තීරණයක් රහිතව සභාව විසිර ගියාඕන් පසු, එසේ ප්‍රතික්ෂේප කළ ද පටන් එකී රෙගුලාසි අවලංගු කළායි සැලකිය යුතුය: එහෙත්, ඒ රෙගුලාසි යටතේ ඒ වන විට කරන ලද යමක් ඒ නිසා අවලංගු විය යුතු නොවේ. එකී රෙගුලාසි එපරිද්දෙන් ප්‍රතික්ෂේප නො වූව හොත්, සම්පූර්ණ ලෙස බලපැවැත්විය යුතුය; යෙදිය යුතුය. එසේ ප්‍රතික්ෂේප කළ හැම විට, එය ලංකාණ්ඩුවේ ගැසට් පත්‍රයේ පළ කළ යුතුය.

(3) මේ ඡේදය අනුව සකස් කළ කිසියම් රෙගුලාසියක් උල්ලංඝණය කිරීම, වරදකි. ලද්දා විනිශ්චයකින් වරද



කරු කොට, රුපියල් එක සියයකට නො වැඩි දඩයකින් දඬුවම් කළ හැකිය. නොකඩවා කරන වරදකට අනතුරුව එකී වරද සිදුකරන හැම දිනයකදීම, දවසකට රුපියල් පහකට නොවැඩි අතිරේක දඩයක් නියම කළ හැකි විය යුතුය.

4. විහාරයක කුලී-බද්ද කාරයෙකු, බද්ද කාරයෙකු හෝ සේවකයෙකු වන කිසිම පුද්ගලයෙකු, තමා කුලී-බද්ද කාරයෙකු, බද්ද කාරයෙකු හෝ සේවකයෙකු වන එකී විහාරයේ බාරකාර තැන තෝරා පත් කිරීමේදී ඡන්දය දීමට සුදුසුකම් ලද්දෙකු නොවිය යුතුය.

බාරකරු පත් කිරීමේදී විහාරයේ කුලී කාරයෙකු, බද්ද කාරයෙකු හෝ සේවකයෙකු ඡන්දය දීමට සුදුස්සෙකු නොවේ.

VI වන කොටස

## තාවකාලික විධාන

45. මේ ආඥා පනතින් අවලංගු කළ අන්කිසි ආඥා පනතකින් කිසියම් විහාරයක් සඳහා යථා පරිදි පත්කරනු ලදුව, මේ පනත බල පැවැත්වීම ඇරඹෙන තෙක් එම පදවිය දැරූ හැම බාරකාරයෙක්ම, මේ පනත යටතේ එකී විහාරයට බාරකාරයෙකු පත් කරන තුරු, එම පදවියේ ක්‍රියා කළ යුතුය. මේ පනත යටතේ එකී විහාරයට පත් කරන බාරකාරයෙකු වෙත පිරිනමන හෝ පවරන සමාන බලතල හා යුතුකම් ද යටත්වන සමාන වගකීම් ද ඔහු සතු විය යුතුය:

අලුත් බාරකරු වන් පත් කරන තෙක් හිටපු බාරකරුවන් ක්‍රියා කිරීම.

එහෙත්, 4 (1) වෙනි ඡේදයේ බලපෑමෙන් නිදහස් කළ ද, මුළු පනත බලපෑමෙන් නිදහස් නොකළ විහාර සම්බන්ධයෙන්, මේ පනත බලපැවැත්වීම ආරම්භයේදී එහි පදවි දරන බාරකාරවරු, තමන් බාරයේ පවත්නා සියලු දේපළ, ආමුදල්, එකී විහාරයේ වාර්තා, පොත්පත් හා ලියකියවිලි ද, එහි විහාරාධිපතිට වහාම බාර දිය යුතුය.

46. (1) මේ පනතින් අවලංගුවන අන්කිසි පනතක් යටතේ පිහිටුවන ලද හැම කාරක සභාවක්ම, මේ පනතින් අවලංගු වන අන්කිසි පනතකින් සම්පාදිත නීති යටතේ හෝ ඒවා හේතුකොටගෙන, ඒ කාරක සභාව සන්තකව පැවතිය යුතු සියලු දේපළ, ආමුදල්, වාර්තා, පොත් හා ලියකියවිලි, මහාබාරකාර තැන වෙත හෝ ඔහු සඳහන් කරන කිසියම් කච්චේරියක හෝ වහාම තැන්පත් කළ යුතුය.

විසුරුවා හළ කාරකසභා දේපළ ආදිය මහා බාරකරු වෙත තැන්පත් කළ යුතුය.

(2) මේ ඡේදයෙන් සම්පාදිත කිසියම් නීතියක් උල්ලංඝණය කර සිටි කල්හි, එකී කාරක සභාවේ ලේකම් තැන හෝ, එකී පදවියේ වැඩ කරන පුද්ගලයා, වරදට හසුවී, ලඝු විනිශ්චයකින් වරදකරු කොට රුපියල් පන්සියයකට නොවැඩි දඩයකටත්, එකී උල්ලංඝණය නොකඩවා පැවැත්වූ හැම දිනයකදීම, දවසකට රුපියල් පහ බැගින් අතිරේක දඩයකටත් යටත් කළ හැකි විය යුතුය.

පදවි දරන දියවඩන නිලමේවරු හා බස්නායක වරුන්ගේ බාර කාර පදවිවල ආයුෂ කාලය

47. මේ ආඥාපනතේ ඇතුළත් නීතිවලින්, මීට පටහැනි කිසිවක් සම්පාදිත වුව ද, මේ පනත බලපෑම ආරම්භයේදී, දියවඩන නිලමේව සිටි පුද්ගලයා, මේ ආඥා පනතින් සම්පාදිත නීති යටතේ කලින් ඉල්ලා අස් නුවූවහොත් හෝ වැඩ තහනම් කරනු නොලැබුව හොත් හෝ පහකරනු, නො ලැබුවහොත් හෝ අන්කිසි අයුරකින් පදවියෙන් ඉවත් කරනු නො ලැබුව හොත්, ඔහුගේ ජීවිත කාලය තුළ, දළදා මාළිගාවේ බාරකාරයා ද මේ පනත බලපෑම ආරම්භයේදී බස්නායක නිලමෙවරුන් වූ පුද්ගලයින්, මේ ආඥා පනතින් සම්පාදිත නීති යටතේ කලින් ඉල්ලා අස් නුවූවහොත් හෝ වැඩ තහනම් කරනු නොලැබුවහොත් හෝ පහකරනු නොලැබුවහොත් හෝ අන්කිසි අයුරකින් පදවියෙන් ඉවත් කරනු නොලැබුව හොත්, ඔවුනොවුන්ගේ ජීවිත කාලය තුළ ඒ ඒ දේවල්වල බාරකාරයින් ද, විය යුතුය.

කාරක සභාවල දේපළ ආදිය මහා බාරකරු වෙත පැවරිය යුතුය.

48. මේ ආඥා පනතින් අවලංගු වන අන්කිසි පනතකින් සම්පාදිත නීති යටතේ කිසියම් කාරක සබාවක් සන්තකව පැවතිය යුතු සියලු දේපළ, අරමුදල්, වාර්තා, පොත් හා ලියකියවිලි ද, එකී කාරක සබාවේ සියලු අයිතිවාසිකම්, බලතල හා යුතුකම්, ණය වගකීම් හා ප්‍රතිඥා සියල්ල ද, හා මින් ඉහත සම්පාදිත නීති වලට අනුකූලව, මහා බාර කාරතැන වෙත පවරා දීනැයි සැලකිය යුතුය.

**බෞද්ධ විහාර දේවාලගම් ආඥාපනත සංශෝධනය කිරීම සඳහා වූ පනතකි.**

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ පාර්ලිමේන්තුව විසින් මෙසේ පනවනු ලැබේ:—

ලුහුඬු නාමය

1. මේ පනත 1980 අංක 22 දරන බෞද්ධ විහාර දේවාලගම් (සංශෝධන) පනත යනුවෙන් හඳුන්වනු ලැබේ.



318 වන අධිකාරයේ 14 වන වගන්තිය සංශෝධනය කිරීම.

2. (මෙහි මින් මතු "ප්‍රධාන ප්‍රඥප්තිය" යනුවෙන් සඳහන් කරනු ලබන) බෞද්ධ විහාර දේවාලගම් ආඥාපනතේ 14 වන වගන්තිය පහත දැක්වෙන පරිදි මෙයින් සංශෝධනය කරනු ලැබේ:—

(1) "භාරකරුවකු ලෙස පත් කරනු ලැබීම හෝ එසේ පත් කරනු ලැබුවහොත් ඔහු භාරකරුවකු ලෙස ක්‍රියා කිරීම හෝ නොකළ යුතුය" යන වචන වෙනුවට පහත දැක්වෙන කොටස ආදේශ කිරීමෙන්:—

"භාරකරුවකු ලෙස තෝරා පත් කර ගනු ලැබීමට හෝ පත් කරනු ලැබීමට නැතහොත් තෝරා පත් කරගනු ලැබුවහොත් හෝ පත් කරනු ලැබුවහොත් භාරකරු ලෙස ක්‍රියා කිරීමට හෝ සුදුස්සකු නොවිය යුතුය."

(2) (ආ) ඡේදයට ඉක්බිතිව ම, පහත දැක්වෙන අලුත් ඡේදය ඇතුළත් කිරීමෙන්:

(ඇ ඇ) "යම් වෘත්තියක්, රක්ෂාවක් නැතහොත් කර්මාන්තයක් කිරීමට හෝ යම් වෘත්තියක, රක්ෂාවක නැතහොත් කර්මාන්තයක නිරත වීමට හෝ කිසි යම් ලිඛිත නීතියක විධිවිධානවලින් හෝ විධිවිධාන යටතේ ඔහු නුසුදුස්සෙක්ව සිටී නම්;"

සංශෝධනය අතීතයටත් බලපෑ යුතු බව.

3. මේ පනතේ 2 වන වගන්තිය මගින් ප්‍රධාන ප්‍රඥප්තියට කරන ලද සංශෝධනය, ප්‍රධාන ප්‍රඥප්තිය ක්‍රියාත්මක වූ දිනයෙහි සිට ක්‍රියාත්මක වූ ලෙස සියලු කාර්ය සඳහා සලකනු ලැබිය යුතු ය.

අත් හැරීම.

4. මේ පනත ආරම්භ වීමට පෙරාතුව, භාරකරුවකු වශයෙන් යම් තැනැත්තකු විසින් කරන ලද යම් ක්‍රියාවක්, මේ පනතෙහි සඳහන් කිසිවකින් බල රහිත නොවිය යුතු ය; නැතහොත් බලරහිත යයි සලකනු නොලැබිය යුතුය.

# A පෝර්මය

41 වෙනි ඡේදය — අංකය...........

## බෞද්ධ විහාර හා දේවාලගම් ආඥාපනතේ 41 වෙනි ඡේදය අනුව උපසම්පන්න භික්ෂූන් පිළිබඳව කළ යුතු ප්‍රකාශය

| | |
|---|---|
| 1. උපන් ස්ථානය: දිසාව, පළාත, කෝරළය, පත්තුව හෝ වෙනත් කොට්ඨාසය සහ ගම ... | |
| 2. සම්පූර්ණ ගිහි නම ... | |
| 3. උපන් දිනය* ... | |
| 4. පියාගේ සම්පූර්ණ නම .. | |
| 5. මහණ කළ දිනය* ... | |
| 6. සාමණේර නම ... | |
| 7. මහණ කළ ආචාර්ය භික්ෂුවගේ නම හෝ භික්ෂූන්ගේ නම් හා වාසස්ථාන .. | |
| 8. මහණ කළ විහාරයේ නම** ... | |
| 9. උපසම්පද කළ ස්ථානය** ... | |
| 10. උපසම්පද කළ දිනය .. | |
| 11. කර්මාචාර්ය භික්ෂූන්වහන්සේගේ නම ... | |

* හරි දිනය නොදනී නම් වර්ෂය පමණක් ලියනු.

** ස්ථානය පිහිටි තැනද ලිවිය යුතුය.



| | |
|---|---|
| 12. උපසම්පදාව පිරිනැමූ උපාධ්‍යායයන් වහන්සේගේ නම .. | |
| 13. නිකායේ නම .. | |
| 14. නිකායේ මහානායක හෝ නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ නම සහ තැපැලෙන් ලියුම් ලැබෙන පිළිවෙල... | |
| 15. උපසම්පදාවේදී ගත් නම .. | |
| 16. උපසම්පද වන කාලයේ වාසස්ථානය** ... | |
| 17. ස්ථිර නේවාසික විහාරය** ... | |
| 18. මේ ප්‍රකාශ පත්‍රය ලියන කාලයේ වාසස්ථානය හා තැපැලෙන් ලියුම් ලැබෙන පිළිවෙල ... | |
| 19. උපසම්පදාවේදී ගුරුවූ තේරුන් වහන්සේගේ නම හෝ තෙරුන් වහන්සේලාගේ නම ... | |
| 20. උපසම්පදාවෙහි දී ප්‍රධානත්වය ඉසිලූ භික්ෂූන්වහන්සේගේ නම | |
| 21. සාමණේර ලේඛනයක් ඇත්නම් එහි අංකය ... | |
| 22. මේ ප්‍රකාශය කරන දිනය ... | |
| 23. වෙනත් කරුණු .. | |

** ස්ථානය පිහිටි තැනද ලිවිය යුතුය.

ඉහත සඳහන් කරුණු සත්‍ය බවට අත්සන් කළේ:

1. උපසම්පදාව ලත් භික්ෂුවගේ අත්සන:
2. උපසම්පදාවේදී ගුරුවූ තෙරුන්වහන්සේගේ අත්සන***

3. නිකායේ මහා නායක හෝ නායක හෝ පළාතේ නායක ස්ථවිරයන් වහන්සේගේ අත්සන:

ලියා පදිංචි කළ දිනය:

---

***මෙම පනත ආරම්භයේ දී උපසම්පන්න භික්ෂුවක්ව සිටි පුද්ගලයකු පිළිබඳව පුරවන පෝර්මයක නම් මේ අත්සන අවශ්‍ය නොවේ.

## B පෝර්මය

41 වෙනි ඡේදය                                                  අංකය:...........

### බෞද්ධ විහාර හා දේවාලගම් ආඥපනතේ 41 වෙනි ඡේදය අනුව සාමණේර භික්ෂූන් පිළිබඳ කළ යුතු ප්‍රකාශය

| | |
|---|---|
| 1. උපන් ස්ථානය: දිසාව, පළාත,... කෝරලය, පත්තුව හෝ වෙනත් කොට්ඨාසය සහ ගම ... | |
| 2. සම්පූර්ණ ගිහි නම ... | |
| 3. උපන් දිනය* ... | |
| 4. පියාගේ සම්පූර්ණ නම ... | |
| 5. මහණ කළ දිනය ... | |
| 6. මහණවීමේදී ගත් නම ... | |
| 7. මහණ කළ ආචාර්ය භික්ෂුවගේ නම හෝ භික්ෂූන්ගේ නම් සහ වාසස්ථාන .. | |
| 8. මහණ කළ විහාරයේ නම** ... | |

* හරි දිනය නොදනී නම් වර්ෂය පමණක් ලියනු.

** ස්ථානය පිහිටි තැනද ලිවිය යුතුය.



| | |
|---|---|
| 9. මහණවූ පසු වාසයකරන විහාරයේ නම* ... | |
| 10. වාසය කරන විහාරයේ විහාරාධිපති භික්ෂුවගේ නම ... | |
| 11. මේ ප්‍රකාශ පත්‍රය ලියනකාලයේ වාසස්ථානය ... | |
| 12. නිකායේ නම ... | |
| 13. නිකායේ මහානායක හෝ නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ නම සහ තැපැලෙන් ලියුම් ලැබෙන පිළිවෙල... | |
| 14. මේ ප්‍රකාශය කරන දිනය ... | |
| 15. වෙනත් කරුණු ... | |

ඉහත සඳහන් කරුණු සත්‍ය බවට අත්සන් කළේ:

1. සාමණේර භික්ෂුවගේ අත්සන:

2. මහණ කළ ආචාර්ය භික්ෂුවගේ අත්සන*:

3. වාසය කරන විහාරාධිපති භික්ෂුවගේ අත්සන:

ලියා පදිංචි කළ දිනය:

---

* ස්ථානය පිහිටි තැන ද ලිවිය යුතුයි.

*** මෙම පනත ආරම්භයේදී සාමණේර භික්ෂුවක්ව සිටි පුද්ගලයෙකු සම්බන්ධයෙන් මෙම අත්සන අවශ්‍ය නොවේ.